සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2558ක් වූ පොසොන් මස (ව්‍යවහාරික වර්ෂ 2014 ජූනි)

32 වෙනි කලාපය



## කෘත යුගයේ ආරම්භයත් සමග ස්වයංජාත ඇල් ප්‍රභේදයක් යළි පහළ වෙයි...











සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# සුළු කොට නොසිතන්...



පෙර එක් අයෙක් වැල්ලේ වැලි කැට අතුරා
කර සිත් පැහැද බුදු හිමි යැයි බැති උතුරා
දුර ගොස් සසර බුදු සසුනෙහි පිය මතුරා
අරහත් ඵලය ලැබ ගති දහමද පතුරා

අපදානයේ පෙළ සඳහන් මෙවැනි කතා
නොපමා ගෙනෙයි අදටත් සිත් නිවන පතා
අපවාදයක් කරගත හොත් නොදැන යතා
එපමාවත් සසර දිගු කරනටම ඇතා

වෙනුවෙන් බුදුන් තෙමඟුල නෙක දන් දීම
ගුණයෙන් උතුම් කටයුතු වෙයි පින් බෝම
සුළුවෙන් වුනත් තම හැකි පමණින් පෑම
නොසිතන් පිටින් සුළු නැත හිමි වැන්දාම

දන්සැල් තොරණ කරවා කොඩි වැල් බඳවා
පන්සල් ගිහින් සුවඳද තෙල් මල් පුදවා
පින්සල් රැගෙන නෙක නෙක සිතුවම් අඳවා
උන් සිල් නොගත්තත් ඇත ගුණ දම් රඳවා

කොඩියක් විදුලි බුබුලක් ගෙන එල්ලීම
පහනක් හෝ දෙකක් සවසට දැල්වීම
සුවයක් ගෙනෙන බැති ගීයක ලොල් වීම
නිවනක් සදයි නැත කිසි විට බොල් වීම

පිටින් බලන විට සුළු ලෙස පෙනුනාට
වටින්නෙ නැති මුත් ලොව පුහු ජනයාට
හිටින්නවත් තැන නැතිවද දුගියාට
තුටින් කරන පින් බල වෙති මතු දාට

තුන් ලොව උතුම් ගුණ සමරා කරන හැම
පින්කම්වලින් ඵල නොවුනද මෙලොව දිම
මින් පසු උපත් දෙන මතු අත් භවයකම
ඉන් සැප ගෙනෙයි පැහැදුනි නම් ගුණයටම

උදෙසා කරන සුළු දෙයකුත් සසුන නිසා
නැණසා වඩයි කවදා හෝ අඳුර නසා
මනසා පහන් වුව හොත් එහි ගුණය අසා
සනසා යවයි මතු දවසක නිවන දෙසා












පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# නිවන් මාර්ගයේ මුල පටන් ගැන්ම අපදාන පාළිය තුලින්...

12 වන කොටස



මේ කියන්න යන්නෙ ගෞතම බුද්ධ සාසනයේ ධර්ම කථික භික්ෂුණීන් වහන්සේලා අතරින් අග තනතුර දරපු ධම්මදින්නා මහ රහත් තෙරණිය ගැන. ධර්ම කථික අය අතරින් අග්‍රස්ථානය කියන්නෙ එසේ මෙසේ තනතුරක් නෙවෙයි. සාමාන්‍ය කෙනෙකුට මේ තනතුර ලැබෙන්නෙ නෑ. එතුමිය පදුමුත්තර බුදු පියාණන් වහන්සේ ඉදිරියේ දන් දීල පතපු පැතුමක් අනුව තමයි ඒ තනතුර ගෞතම බුද්ධ සාසනයෙදි ලැබුණෙ. දැනට කල්ප ලක්ෂයකට පෙර පදුමුත්තර බුදු පියාණන් වහන්සේ ලොව පහල වෙලා වැඩ හිටපු කාලෙ මෙතුමිය ඉපදිලා හිටියෙ හංසවතී කියන නගරයේ. ඒ කාලෙ ඇය වංසවත් පවුලක දාසියක් හැටියට හිටියෙ. ඉතින් දවසක් පදුමුත්තර බුදු පියාණන් වහන්සේගෙ සාසනයේ සුජාත කියන අග්‍ර ශ්‍රාවකයන් වහන්සේ නමකට ඇය තම දිවි පරදුවට තියල දානයක් දුන්නා.

දන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, ඇයි ඒ විදියට දිවි පරදුවට තියල දන් දුන්නෙ, ඒක ජීවිතය දෙන්න තරම් දෙයක්ද කියල. ඒකට හේතුව තමයි ඇය ඒ කාලෙ දාසියක් වීම. මොකද දාසියකට එහෙම ඕන ඕන හැටියට වැඩ කරන්න බෑ. විශේෂයෙන් ඒ වගේ කාලෙක දාසියක් කියන්නෙ වහලෙකුට සමාන කෙනෙක්, ස්වාමියාට තමයි දාසියගෙ සම්පූර්ණ අයිතිය තියෙන්නෙ. ඒ කාලෙ හැටියට ස්වාමියාට හෝ ස්වාමි දුවට නොදන්වා කිසි දෙයක් කරන්න බෑ. එහෙම කළොත් බොහෝ දඬුවම් විඳින්න වෙනවා. සමහර විට මරණයෙන් පවා වන්දි ගෙවන්න වෙන වැඩක් වෙන්න පුළුවන්. ඒ නිසයි කිව්වෙ දිවි පරදුවට තියල දුන්න දානයක් කියල. ඇයට ඒ දේ කරන්න කොච්චර ධෛර්යක්, පැහැදීමක් තියෙන්න ඕනද? බුද්ධ සාසනයේ උත්තමයෙකුට දන් දීල, මම මැරුණත් කමක් නෑ කියල ඇයට හිතෙන්න ඇති. එතනදි ගුණයට මුල් තැන දීල තමන්ගෙ ජීවිතයට දෙවෙනි තැන දුන්නා. ඉතින් ඒකෙන් නැගෙන ශක්තිය එසේ මෙසේ එකක් නෙවෙයි. ඉදිරිපත් වුනේ අප්‍රමාණ ගුණයක් වෙනුවෙන්. අප්‍රමාණ මෛත්‍රියක්, ශාන්තියක් ලෝකයට පතුරුවන උත්තම පුරිසයන් වැඩ වාසය කරන සාසනය වෙනුවෙන්. ඉතින් ඒ හේතුවේ ප්‍රතිඵල එදාම ඇයට ලැබුනා.

ඇගේ ස්වාමි දුව ඇය කරපු පිංකම දැකල බොහොම සතුටු වුණා. අප්‍රමාණ මෛත්‍රිය මූලික වෙච්ච සාසනය මුල් කරල දුන්න දානෙ ප්‍රතිඵලයට විපාකය ලැබුනෙත් මෛත්‍රී සහගත ක්‍රියාවකින්මයි. ඇය එදාම දාසි භාවයෙන් මුදවල ලේලිය කියන තැන පිහිටෙව්වා. ඊට පස්සෙ මේ ස්වාමි දුවයි, ලේලියයි පදුමුත්තර බුදුන් වහන්සේ හමුවෙන්න ගිහින්, උන්වහන්සේ මූලිකව මහා සංඝයා වහන්සේලාට දන් දුන්නා. මේ අතර ඇය දැක්කා, පදුමුත්තර බුදුන් වහන්සේ එක්තරා අරිහත් භික්ෂුණීන් වහන්සේ නමකට ධර්ම කථිකයන් අතරින් අග්‍ර තනතුර ප්‍රදානය කරනවා. ඉතින් ඇයටත් හිතුනා, අනේ මටත් ඒ තනතුර මතු බුද්ධ සාසනයක ලබන්න ඇත්නම් කියල. එහෙම හිතල පැතුමක් පැතුවා. ඉතින් බුද්ධ දේශනාව අනුව නම් ශ්‍රද්ධා, සීල, ත්‍යාග, ප්‍රඥා සහිතව පතන පැතුමක් ඒකාන්තයෙන්ම ඉෂ්ඨ සිද්ධ වෙනවා. ඇය අප්‍රමාණ ගුණයක් කෙරෙහි පැහැදිලා දන් දීල හිටපු මොහොතක තමයි ඒ පැතුම පැතුවෙ. ඒ පැතුම ඉෂ්ඨ සිද්ධ වෙන කාලය, නම් ගොත් ආදියත් සමගින් පදුමුත්තර බුදු පියාණන් වහන්සේ අනුමත කරල, ඒ පැතුම එසේම ඉෂ්ඨ සිද්ධ වෙනව කියල ප්‍රකාශ කර සිටියා.

මෙතනදි ශ්‍රද්ධා, සීල, ත්‍යාග, සෘත, ප්‍රඥා කියන කාරණාවලින් සෘත කියන කාරණය විශේෂයෙන් අදාල වෙන්නෙ දහම් අවබෝධයට නිසා, දුර දිග පතන පැතුමකදි ඒ කාරණය අදාල වෙන්නෙ නෑ. ඒ කියන්නෙ අනිච්ච, දුක්ඛ, අනත්ත කියන ධර්මාවබෝධයෙදි තමයි සෘත වෙන්නෙ. සෘතවා අරිය සාවකෝ අසෘතවා පෘතජ්ජනෝ කිව්වම, සෘතවා වුනොත් ඒ පුද්ගලයට එච්චර දුර පැතුමක් ගෙනියන්න පුළුවන්කමක් නෑ. මොකද සෘත කියන්නෙ දහම පිළිබඳ මූලික අවබෝධය. දහම් අවබෝධය මාත්‍රයක් හරි ආව නම් සසරේ දිගු පැතුමක් ගෙනියන්න බෑ.

ඒ වගේම, ප්‍රාර්ථනා කළාට ලැබෙන්නෙ නෑ, බුද්ධ සාසනයේ එහෙම ක්‍රමයක් නෑ කියල අද සමාජයේ සමහර උදවිය අතර දුර්මතයක් තියෙනවා. සමහරු ඒකට විවිධ උපමාත් කියනවා. ගලක් වතුරට දාල, මේ ගල පාවේවා පාවේවා කියල හිතුවට පාවෙයිද ආදී වශයෙන් අහනවා. ඉතින් මෙතනදි දකින්න ඕන දෙයක් තියෙනවා. පැතුම පතන්න කිව්වෙ කොහොමද? ඒ වගේම ඒක ඉෂ්ඨ සිද්ධ වෙන්නෙ කොහොමද? බුද්ධ දේශනාව අනුව නම් සැදැහැ සිතින් සීල, ත්‍යාග, ප්‍රඥා සමග කරන පැතුමක් නොවැරදීම ඉටු වෙනවා. මොකක්ද මේ සැදැහැ සිත කියන්නෙ? සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සිත. ඒක තමයි බලවත්ම සැදැහැ සිත. මොකක්ද මේ සෝමනස්ස සහගත කියන්නෙ? කෙනෙක් සතුටට පත් වෙලා ඉන්න මොහොතක අදත් කියනවා, ෂා අද හරි සතුටින් ඉන්නෙ කියල. එහෙම නැත්නම් ලියන භාෂාවෙන් කියනව නම්, සොම්නසින් ඉන්නව කියල. තවත් සරලව කියනව නම්, සතුටු සිතින් ඉන්නව කියල. එතකොට ඥාන සම්ප්‍රයුක්ත කියන්නෙ මොකක්ද? සරලවම කියනව නම්, නුවණ සමග යෙදුනු කියන එක. දන් මූල වාක්‍යයම ගත්තොත් සතුටු සිතින් ☞

නුවණින් හිතල, එහෙම නැත්නම් නුවණත් එක්ක ඇති වෙන සිතට තමයි සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සිත කියන්නෙ.

එතකොට මොකක් දැකලද සතුටු වෙන්නෙ? නිකං අපි සින්දුවක් අහන කොට, එහෙම නැත්නම් රසවත් ආහාරයක් කන බොන කොට වගේ එන සතුටක් ගැනද මේ කියන්නෙ ? නෑ, එහෙම එකක් නෙවෙයි. ඒ නිසා තමයි, අගට නුවණ සමගින් කියල වචනයක් තියෙන්නෙ. මොකටද නුවණ හෙවත් ඥානය කියන්නෙ? ''මේ ඉන්නෙ සත්පුරුෂ-යෙක්නෙ, ලෝකයට යහපත් මාර්ගය කියල දෙන උත්තමයෙක්නෙ, දානයක් දුන්නත් අපතෙ යන්නෙ නෑ. උන්වහන්සේලා ඒ දානය ගන්නෙ කය හැඩ වැඩ කර ගන්නවත්, කෙළි සෙල්ලම් කරන්නවත් නෙවෙයි, ලෝකයට යහපතක් කරන්න, ඒ වගේම අපිටත් දාන, සීල, භාවනා වගේ මහා පිංකම් කර ගන්න අවස්ථාව ලබා දෙන්න.'' මේ ආදී වශයෙන් හිතුවම සාසනය ගැන හිතට සතුටක් එනවා. නුවණින් දක්ක දේ ගැන හිතට ආපු සතුට කියල නිම කරන්න බෑ. ඉතින් ඒ සතුට නිසා නැගෙන සිතිවිලි හරිම බලවත්. ඒ සිතිවිලිවලින්ම නැගෙන ශක්තියත් ඒ වගේම බලවත්. හේතුව විදියට දැක්කෙ ගුණයක්. පතන්නෙත් ඒ ජාතියේම ගුණයක්. ඒ නිසා ඒක ඒකාන්තයෙන්ම ඉෂ්ඨ සිද්ධ වෙන්න හේතු යෙදෙනවා. ලෞකික පැත්තෙන් පැතුවත් ඒ ලැබෙන සේරම ලැබිල අවසාන ප්‍රතිඵලය නිවනින්ම කෙලවර වෙනවා. මොකද දැකල නැමුනෙ, සතුටු වුනේ ලෝකෝත්තර ගුණයකට නිසා.

ඉතින් අර සමාජයේ කතා වෙන ගලේ උපමාවත්, බුදුන් වහන්සේ නිවන් මාර්ගය වෙනුවෙන් පෙන්වා දුන්න ගලේ උපමාවත් අද සමහරු තමන්ගෙ වාසියට හරව ගෙන කතා කරනවා. බුදුන් වහන්සේ පෙන්වා දුන්න ගලේ උපමාව අනුව ඒකෙ සරලම අදහස තමයි, නිවන පැතුවට වැඩක් නෑ ඒක ක්‍රියාත්මකත් විය යුතුයි කියන කාරණය. මොකද කෙනෙකුට හිතෙන්න පුළුවන්, හරි මම පැතුම පැතුවා දැන් ඉතින් මොකවත් නොකර නිදාගෙනම හිටියත් වැඩේ වෙයි කියල. එහෙම වෙන්නෙ නෑ කියල පෙන්වන්න තමයි අර ගලේ උපමාව කිව්වෙ. ප්‍රාර්ථනා කරල පැත්තකට වෙනව නෙවෙයි, ඒ පැතුම ඉටු කරගන්න තමන් වෙහෙස මහන්සි වෙලා කටයුතු කරන්න ඕන කියන කාරණය පෙන්වා දෙන්න තමයි ඒ උපමාව දුන්නෙ.

ඉතින් මේ ගෞතම බුද්ධ සාසනයෙදි ධම්මදින්නා තෙරණිය ගිහි කාලෙ විසාඛ නම් සිටුවරයෙක් සරණ පාවා ගත්තා. ඒ සිටුතුමාට ධනයෙන් බලයෙන් කිසිම අඩුවක් තිබුනෙ නෑ. එක්තරා දවසක මේ විසාඛ කියන සිටුතුමා බුදුන් වහන්සේ ඉදිරියේ බණ අහල අනාගාමී ඵලයට පත් වුණා. හැබැයි ඊට පස්සෙ සිටු මැදුරට ආවත්, බිරිඳ එක්ක වෙනද වගේ සතුටු කතා බස් කිසි දෙයක් කළේ නෑ. ඉතින් මේක සිටුතුමාගෙ බිරිඳට (ධම්මදින්නා තෙරණිය ගිහි කල) ලොකු ප්‍රශ්නයක් වුනා. ඇයි මේ මනුස්සය කතා නැත්තෙ, වෙනද වගේ හිනා වෙන්න නැත්තෙ කියල හිතුවා. දවසක් විසාඛ සිටුතුමා විවේකව ඉන්න වෙලාවක තමන්ගෙ බිරිඳට කතා කරල සියලු වස්තුව ඇයට පවරල දුන්නා. ඒ වගේම ගෞතම බුදුන් වහන්සේ ඉදිරියේ බණ අහපු විස්තරත් කිව්වා. මේ ටික අහපු ගමන් ඇයට පෙර සසර පාරමිතා ශක්තිය නැගිල ආවා. කාශ්‍යප බුදුන් වහන්සේගෙ කාලෙ, තමන්ගෙ පියතුමාගෙන් මහණ වෙන්න අවසර ඉල්ලුවම, අවසර නොදුන්න නිසා අවුරුදු 20,000 ක් කුමරි බඹසර රැක්ක පුරුද්ද මතු වෙලා ආවා. අර වස්තු සම්පත් සියල්ල අළුයම හෙළපු කෙල පිඬක් වගේ (කිසිම සැලකිල්ලක් ආසාවක් නැතුව අතහැරල දානවා කියන අදහස) එපා කියල පැවිදි වෙන්න අවසර ඉල්ලුවා. ඉතින් විසාඛ සිටුතුමත් කාමයන්ගෙන් වෙන් වෙච්ච අනාගාමී ඵල සුවයෙ හිටපු නිසා, ඇහුන ගමන් දෙපාරක් හිතන්නෙ නැතුව අවසර දුන්නා. ඊට පස්සෙ එක්ක ගිහින් මහණ කළා. මහණ වෙලා නොබෝ දිනකින් ඇය සිවුපිළිසිඹියා ඥාන සහිතව අරිහත් ඵලයට පත් වුණා.

දවසක් මේ රහත් තෙරණිය විවේක සුවයෙන් වැඩ ඉන්න වෙලාවක විසාඛ උපාසක තුමා මුණ ගැහෙන්න ආවා. එතනදි සිටුතුමා හිතේ තියාගෙන අහන්න ගිය ප්‍රශ්නයක් තිබුණා. ඉතින් පෙර ගිහි කාලෙ බිරිඳ නිසා ඒ වගේ ප්‍රශ්නයක් අහන්නම ඕන කියල හිතෙන්නත් ඇති. ඒ තමයි, ඔබ තුමිය කලකිරීමෙන්ද ඉන්නෙ කියල. මොකද සමහර විට සිටුතුමාට හිතෙන්න ඇති, ඇය පැවිදි වුනාට පස්සෙ ''අනේ අපරාදෙ අර වස්තු ටික දාල ආවෙ'' වගේ හැඟීමක් ඇයට එන්න ඇති කියල. එතුමා දැනගෙන ඉන්න නැතුව ඇති මෙතුමිය අරිහත් ඵලයට පත්වුනා කියල. නමුත් ඒ අවස්ථාවෙදි ඒ ප්‍රශ්නය අහන එක සිටුතුමාට අමතක වෙලා ලොකු ධර්ම සාකච්ඡාවකට මුල පිරුවා. මේ සාකච්ඡාව මජ්ඣිම නිකායේ 1 වන කාණ්ඩයේ එන <u>චූල්ල වේදල්ල සූත්‍රයේ</u> තියෙනවා. මේ ධර්ම සාකච්ඡාව ගැන විසාඛ උපාසකතුමා බුදුන් වහන්සේටත් සැල කරනවා. ඉතින් බුදුන් වහන්සේ උපාසකතුමා ඉදිරියේ කියා සිටිනවා, මාගේ දියණිය කියූ දේ දරා ගන්න, මගෙන් ඒ ප්‍රශ්න ටික ඇහුවත් මමත් දෙන පිළිතුර ඔය ටිකම තමයි කියල. එදාම එතුමියට ධර්ම කථික භික්ෂුණීන් වහන්සේලා අතරින් අග තනතුර ලැබුණා. ඒ වගේම එතැන් පටන් ධම්මදින්නා මහ රහත් තෙරණිය නමින් ප්‍රසිද්ධ වුණා.

දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, ඇයි බුදුවරයන් වහන්සේ නමක් එහෙම කතාවක් කියන්නෙ කියල. බුදුන් වහන්සේ එහෙම කියපු බවට ත්‍රිපිටකයේ ඕන තරම් සාක්ෂි තියෙනවා. සාරිපුත්ත මහා ප්‍රාඥයි , මහා කොට්ඨිත මහා ප්‍රාඥයි, මම කිව්වත් ඔය ටිකමයි කියන්නෙ, ඒ විදිහටම දරා ගන්න... ආදී වශයෙන් කියපු අවස්ථා ඕන තරම් තියෙනවා. එතකොට මොකක්ද මේ සමානකම. බුදුවරයන් වහන්සේලා, අරිහතුන් වහන්සේලා නිකන් කතා කියන්නෙ නෑ. රාජ කතා, චෝර කතා, ස්ත්‍රී කතා, පුරුෂ කතා... ආදී වශයෙන් එන දෙතිස් කතා උන් වහන්සේලාට නෑ. සුවපත් වේවා කියල වචනයක් කිව්වත්, අනිච්ච - දුක්ඛ - අනත්ත කියල වචන තුනක් කිව්වත්, දීඝ නිකායේ සූත්‍රයක් තරම් දිග දේශනාවක් කළත්, ඒ සියල්ලෙම කැටි වෙලා තියෙන්නෙ චතුරාර්ය සත්‍යය. ඒ කියන්නෙ දුක, දුකට හේතුව, දුකෙන් නිදහස් වීම, සියලු දුක් නිවන මාර්ගය කියල කිව්වත්, ලෝකය, ලෝකයට හේතුව, ලෝක නිරෝධය, ලෝකයෙන් මිදෙන මාර්ගය කිව්වත්, දුක්ඛ ආර්ය සත්‍යය, දුක්ඛ සමුදය ආර්ය සත්‍යය, දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යය, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා ආර්ය සත්‍යය කිව්වත්, සත්කාය, සත්කාය සමුදය, සත්කාය නිරෝධය, සත්කාය නිරෝධ ගාමිණී පටිපදා මාර්ගය කිව්වත් මේ හැම තැනම එකම අදහස තියෙන්නෙ. විවිධ වචන, විවිධ පද බෙදීම් තිබුණත් උන් වහන්සේලා අවබෝධ කරගෙන විග්‍රහ කරන ඵලය එකයි. සැරියුත් මහ රහතන් වහන්සේ කියන වචන ටිකම නොවෙන්න පුළුවන්, බුදුන් වහන්සේ කියන්නෙ. නමුත් අදහස ගත්තම එකයි. ඒ නිසා තමයි උන් වහන්සේලා කිව්වත් එකයි, මම කිව්වත් එකයි කියල දේශනා කළේ.

මෙතනින් තේරුම් ගන්න ඕන තවත් වැදගත් කාරණයක් තියෙනවා. ඒ අනුව කකුසඳ බුදුන් වහන්සේ කිව්වත් එකයි, කෝණාගම බුදුන් වහන්සේ කිව්වත් එකයි, කාශ්‍යප බුදුන් වහන්සේ කිව්වත් එකයි, ගෞතම බුදුන් වහන්සේ කිව්වත් එකයි, මෛත්‍රී බුදුන් වහන්සේ කිව්වත් එකයි. එකම ඵලය, එකම චතුරාර්ය සත්‍යය. ඒකෙ වෙනසක් වෙන්නෙ නෑ. ඇයි එහෙනම් අපි මේ බුද්ධ සාසනයක් තියෙන කාලෙක මනුස්ස වෙලා ඉපදිලත් තවත් ප්‍රමාද වෙන්නෙ? ඒකයි දැන ගන්න ඕන වැදගත් කාරණය.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග අපදාන පාලිය 2 - 2 ධම්මදින්නාපදානය ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
පරිගණක ඉංජිනේරු - ගොතටුව

# දානයේ ස්වභාවය අනුව ලැබෙන ආනිසංස

(පසුගිය කලාපයෙන්: දානය සහ අත්හැරීම .......)

## පුද්ගලිකව දෙන දානය

මහා සංඝයා විෂයෙහි දානයක් පූජා කරන කොට ඒ දානය බුදු පියාණන් වහන්සේටත් පූජා වෙනව කියල උන්වහන්සේ දේශනා කරල තියෙනවා. යම් දාන වස්තුවක් පූජා කරන කොට බොහෝ පින්වතුන් බලාපොරොත්තු වෙන්නෙ, ඒක තමන් පුද්ගලිකව දන්නා හඳුනන සංඝයා වහන්සේ නමකට පූජා කරන්න. නමුත් දාන වස්තු පූජා කිරීමේදී බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ ක්‍රමයක් තියෙනවා. බුද්ධත්වයට පත් වෙන්න පෙර තමන් වහන්සේ ඇති දැඩි කළ, කිරි පෙවූ කුඩා මව වන මහා ප්‍රජාපතී ගෝතමිය තමන්ගෙ අතින්ම පිළියෙල කරපු සිවුරු යුවලක් තමන් කෙරෙහි අනුකම්පාවෙන් පිළිගන්න කියල ඉල්ලා හිටිද්දිත් බුදුන් වහන්සේ ඒක පිළිගත්තෙ නෑ. සංඝයා විෂයෙහි පූජා කරන්න කියල උන්වහන්සේ දේශනා කළේ.

''වහන්ස, මා සතු මේ අලුත් පිළි සඟල භාග්‍යවතුන් වහන්සේ උදෙසා තමන් විසින්ම නූල් කැට වියන ලදී. භාග්‍යවතුන් වහන්සේ මාගේ ඒ පිළි සඟල අනුකම්පා පිණිස පිළිගන්නා සේක්වා.''

මේ විදියට ඉල්ලා හිටියම භාග්‍යවතුන් වහන්සේ මෙහෙම දේශනා කරනවා. ''ගොයුම්ගොතුව සංඝයා විෂයෙහි දෙව. සංඝයා විෂයෙහි දුන් කළ මම ද පූජිතයෙමි. සංඝයා ද පූජිත වෙයි.''

මේ ආකාරයට දෙවෙනි තෙවෙනි වතාවටත් බුදු පියාණන් වහන්සේ දේශනා කරන්නෙ, ඒක සංඝයා විෂයෙහි දෙන්න කියල. (මජ්ජිම නිකාය (3) දක්ඛිණා විභංග සූත්‍රය)

බුදු පියාණන් වහන්සේ මෙහෙම දේශනා කළාම, ආනන්ද හාමුදුරුවොත් උන්වහන්සේට මේ කරුණ ඉදිරිපත් කරනවා. ''භාග්‍යවතුන් වහන්සේ මහා ප්‍රජාපතී දේවියගේ අලුත් පිළි සඟල පිළිගන්නේ මැනව.''

ඔබ වහන්සේ බුදු වීමට පෙර ප්‍රජාපතී ගෝතමිය බොහෝ උපකාර කරන ලද්දේය, භාග්‍යවතුන් වහන්සේ ලදින් එතුමිය බුදුන්, දහම්, සඟුන් සරණ යන ලද්දේය, පංච ශික්ෂාව පූර්ණ කරගෙන පස් පවින් වැළකී චතුරාර්ය සත්‍යය අවබෝධයෙන් යුක්ත වන ලද්දේය යන කරුණුත්, ආනන්ද හාමුදුරුවන් විසින් බුදුන් වහන්සේට දන්වනවා. ඒ වුනත් පුද්ගලිකව කරන පූජාවකට වඩා බුදු පියාණන් වහන්සේ සාංඝික දානය අගය කරනවා.



**සාසනය පිරිහෙමින් පවතින අනාගත කාලයක කාසාවකණ්ඨක නම් දුස්සීල කෙනෙක් උදෙසා සඟ ගුණ සිහි කරල දෙන දානයත් සංඝයා වෙත පිරිනමනු ලබන දානයක් බව බුදු පියාණන් වහන්සේ දේශනා කරල තියෙනවා.**

''ආනන්දය, අනාගත කාලයෙහි ගෝත්‍රභූ වූ දුශ්ශීල වූ පාප ස්වභාවය ඇති කාසාවකණ්ඨක කෙනෙක් වෙති. ඒ දුශ්ශීලයන් කෙරෙහි සඟුන් උදෙසා දන් දෙති. ආනන්දය, එකල්හිද සංඝගත දක්ෂිණාව අසංඛ්‍යය අප්‍රමේය අනුසස් ඇතැයි කියමි. ආනන්දය, මම කවරෙකින් වුවද සංඝගත දක්ෂිණාවට වඩා පෞද්ගලික දානය මහත් ඵල තර යයි නො කියමි.'' (විභංග වර්ගය - දක්ඛිණා විභංග සූත්‍රය)

වච්ච ගොත්ත බ්‍රාහ්මණයා බුදු පියාණන් වහන්සේ හමුවෙන්න ගිය අවස්ථාවක මෙහෙම අහනවා. ''ශ්‍රමණ ගෞතම තෙම, මටම දන් දිය යුතුය, අනුන්ට නොදිය යුතුය, මගේම ශ්‍රාවකයන්ට දන් දිය යුතුය, අන්‍ය ශ්‍රාවකයන්ට දන් නොදිය යුතුය, මට දෙන ලද දානයෙහි මහත් ඵල විපාක ඇති වෙයි, අන්‍ය ශ්‍රාවකයන්ට දෙන දානයෙහි මහත් ඵල ඇති නොවේ... ආදී වශයෙන් දේශනා කරල තියෙනවා. ඒක ඇත්තද?''

එතකොට බුදු පියාණන් වහන්සේ මෙහෙම දේශනා කරනවා. ''යමෙක් එහෙම කියනව නම් ඒක අසත්‍යයක්, මට කරන අපවාදයක්. යමෙක් දන් දෙන්නා වූ කෙනෙක් වැළැක් වුවහොත් ඔහු තුන් දෙනෙකුට අන්තරායක් කරනවා. ඔහු දායකයාගේ පිනට අනතුරක් කරනවා. ප්‍රතිග්‍රාහකයාගේ ලාභයට අනතුරක් කරනවා. ඔහු තමාටම අනතුරක් කරගන්නවා. අත හෝ වළඳක් හෝ සෝදා ඉවත දමන ඉඳුල් වතුර ටික පණුවෙකුට හෝ ආහාරයක් වේවා කියල දානව නම්, ඔහුත් පිනක් කරගන්නවා. ඒ නිසා මනුස්සයෙක් ගැන කවර කථාද?'' ඒ වගේම සිල්වතුන්ට දෙන දානය මහත් ඵලයි කියල උන් වහන්සේ දේශනා කරල තියෙනවා.

## අසදෘශ මහා දානය

යමක් ලෝකෙ තවත් තැනක දකින්න තියෙනව නම් ඒක සදෘශයි. ඒ කියන්නෙ බහුලව තියෙනවා. නමුත් **යමක් ලෝකෙ එක අවස්ථාවක විතරක් නම් දකින්න තියෙන්නෙ, තවත් තැනක දැකගන්න නැත්නම් ඒක අසදෘශයි.** උදාහරණ විදියට සෑම බුදුවරයන් වහන්සේ නමක් වෙනුවෙන්ම ඒ ඒ බුදුවරයන් වහන්සේලාගෙ සාසනය තුළ දස දහසක් සක්වල ඉන්න සියලුම දිව්‍ය බ්‍රහ්මයො එකට රැස්වෙන දවසක් එනවා. ඒකට කියන්නෙ මහා සමය කියල. ඒකත් අසදෘශයි. ඒ කියන්නෙ එක් බුදුවරයන් වහන්සේ නමකගෙ සාසනයක දෙවරක් ඒක සිද්ධ වෙන්නෙ නෑ. එක ☞

අවස්ථාවයි. අසදෘශ මහා දානය කියන්නෙත් ඒ වගේ දෙයක්. එක බුදුවරයන් වහන්සේ නමකගෙ සාසනයක් ගත්තම ඒ වගේ දානයක් එක් අවස්ථාවක විතරයි දැක ගන්න තියෙන්නෙ. තවත් කෙනෙකුට ඒ වගේ දානයක් ඒ බුද්ධ සාසනය තුළ දෙන්න පුළුවන්කමක් නෑ. එතනදි බුදුන් ප්‍රමුඛ මහ රහතන් වහන්සේලා 500 නමක් වඩම්මවනවා. බුදුන් වහන්සේ ඇතුලු ඒ සැම රහතන් වහන්සේ නමකටම වෙන වෙනම ඇතෙක් මුතු කුඩය බැගින් අල්ලගෙන තමයි වඩම්මවන්නෙ. එතකොට උන් වහන්සේලා දානය වළඳනකල් ඇත්තු 500 ක් දෙනා මුතු කුඩ 500 ක් දරාගෙන ඉන්නවා. දානෙට වඩම්මවන්නෙත් මුතු කුඩ යටින්මයි. ඒ දෙන දානෙත් සප්ත ප්‍රණීත සහිතව සියලු දෙයින්ම අංග සම්පූර්ණයි. වෙනත් කිසිම කෙනෙකුට ඒ වගේ දානයක් දෙන්න පුළුවන්කමක් නෑ. මොකද රජ අණින්මයි ඒ ඇත්තු 500 ත් ගේන්නෙ. ඉතින් සාමාන්‍ය කෙනෙකුට ඇත්තු 500 ක් ගේන්න පුළුවන්කමක් නෑ.

ඒ වගේ ගෞතම බුද්ධ සාසනයේ අසදෘශ මහා දානය දීල තියෙන්නෙ කොසොල් රජතුමා සහ අග බිසව වෙච්ච මල්ලිකා දේවිය. ඒ දානයට බුදුන් වහන්සේ ප්‍රමුඛ රහතුන් වහන්සේලා 500 නමක්, ඇතුන් 500 ක් යොදවල උසුලාගෙන යන මුතු කුඩ 500 ක් යටින් වඩම්මවල තියෙනවා. ඉතින් රජතුමාගෙ රජ අණ පනවලත් හැම තැනින්ම හොයාගෙන එන්න පුළුවන් වුනේ ඇත්තු 499 යි. එක ඇතෙක් මදි වුණා. ඊට පස්සෙ කැලෙන් වල් ඇතෙක් අල්ල ගෙන ආවා. නමුත් උං කුලප්පු වෙන ඇතෙක් නිසා අනිත් භික්ෂූන් වහන්සේලා ළඟ තියන්න බෑ. එක්කො බුදුන් වහන්සේ ළඟින් තියන්න ඕන. නමුත් උන් වහන්සේට වල් ඇතා තියන එක ගැලපෙන්නෙත් නැති නිසා අන්තිමට අංගුලිමාල මහ රහතන් වහන්සේ ළඟ තිව්වා. ඒ වල් ඇතා අංගුලිමාල හිමි දක්ක විතරයි, ඇස් දෙක පියාගෙන එහෙම්ම මුතු කුඩය අල්ලගෙන හෙල්ලෙන්නෙවත් නැතිව හිටියලු. උන් වහන්සේගෙ තේජසට වල් ඇතෙක් වුනත් මෙල්ල වෙනවා. ඒ විදියට තමයි ඇත්තු 500 සම්පූර්ණ කළයි කියන්නෙ.

මේ විදියෙ මහා දානයක් දීල තියෙද්දිත් මල්ලිකා දේවිය මියයන අවස්ථාවේ, මතු වෙච්ච රාගික අරමුණක් වසන් කරන්න කියපු බොරුවක් නිසා ඇය දින හතකට අපාගත වෙලා තියෙනවා. **කොච්චර නම් මහා දන් පින් කළත් දහම් දකින කල් සතර අපායෙන් නිදහස් වෙන්නෙ නෑ කියන කාරණය** එතනින් ඔප්පු වෙනවා. ඒ නිසා සසර භයානකත්වයත් ඒ වගේ කාරණාවලින් තේරුම් ගන්න ඕන. ඒ වගේම මේ මහා දානයේ අරමුණ වෙලා තිබුණෙ, කොසොල් රජතුමා දීපු මහා දානයක් අභිබවා රට වැසියන් දුන්න දානයක් නිසා අසහනයට පත් වෙලා හිටපු රජතුමා එයින් ගලවා ගන්න කියල තමයි සඳහන් වෙන්නෙ.

## ත්‍රිවිධ සුචරිතය තුලින් සංවරයට පත්ව විමුක්තිය උදාකර ගැනීම.

අනන්ත සසර ගමනෙදි අවිද්‍යාව නිසා මානයෙන් මත් වෙලා විවිධ දෘෂ්ටිගත වෙලා, ලෝක සත්ත්වයා කරගෙන යන පාපී වැඩ පිළිවෙලේ අසාරත්වය හේතු ඵල වශයෙන් දැකල, ත්‍රිවිධ සුචරිතය ප්‍රගුණ කරගෙන සිත, කය, වචනය සංවර



කරගෙන දස අකුසලයෙන් මිදිල විමුක්තිය ලබා ගන්න ආකාරය බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. ත්‍රිවිධ සුචරිතය තුළින් සත් තිස් බෝධි පාක්ෂික ධර්ම වැඩිල නිවන් අවබෝධ කරගන්න පුළුවන්. ශ්‍රී සද්ධර්මය දේශනා කරන ශ්‍රාවකයන් වහන්සේලාත් දාන කථාවෙන් ආරම්භ කරල ධර්ම දේශනා කරන අනුපූර්ව ක්‍රමයක් තියෙනවා. දානය කියන වචනයේ අර්ථය ගැඹුරින්ම අවබෝධ කරගත්තම තමයි කෙනෙක් අල්ලගෙන ඉන්න ලෝකය අත් හැරීමට පටන් ගන්නෙ.

## බහිරවයන්ට දෙන දානයේ යථාර්ථය

මේ මහපොළව තුළ ඉඩකඩම් කොටු කරගෙන, ගෙවල් දොරවල් හදාගෙන ඒවා වචා කියා ගෙන, පිනක් දහමක් පවා කර ගන්නෙ නැතුව, ඒවාට හිමිකම් කියමින් ඒවා දාල යන්න බැරුව, ඒවායේම ඇලී ගැලී ඉන්න පිරිසක් මරණින් පස්සෙ ඒ ගොඩනගා ගත් භූමි භවයට හිර වෙලා මහ පොළවම ඇසුරු කරගෙන බහිරව කියන භව අත්කර ගෙන උපදිනවා. ඒ අය ඒ ඉඩකඩම්වලට, තවත් අය අයිතිවාසිකම් කියනවට කැමති නෑ. ඒ කාලෙ බැංකු වගේ මුදල් ආරක්ෂා කරන ආයතන තිබුණෙ නැති නිසා, ඔවුන් සතුව තිබූ මිල මුදල් රන් රිදී මුතු මැණික් ආදී වස්තුව ආරක්ෂා කර ගත්තෙ, ඒවා මුට්ටියක දාල පොළවෙ කොහේ හරි වළලල. ඊට පස්සෙ ඒ වස්තුව හොරු පැහැර ගනියිද කියල බොහොම විමසිල්ලෙන් ඉන්නෙ. දුර බැහැරක යන්නෙත් නෑ. මේ විදියට ඒ ඉඩකඩම්, ගෙවල් දොරවල් සහ හංගල තියෙන වස්තුවට හිත තියාගෙන මැරුනම, ඒ ඉඩකඩම් සීමාවෙම බැඳිල රැඳිල ඉන්න පුළුවන් අමනුස්ස අත්බවක ඉපදෙනවා.

මේ ආකාරයට ඊට පෙර ඉඳලම ඒ ඉඩකඩම්වලට බැඳුනු ආතල මුත්තල වගේ අයත් මේ ඇසුරෙම ඉන්නවා. ඒ අනුව මේ ඉඩකඩම් මම, මගේ කියල හිමිකම් කියමින්, අපට නොපෙනෙන ලෝකෙ ඉන්න අය අතරෙත් ඒවායේ අයිතිය පිළිබඳව මහා පොරයක් තියෙනවා. මනුස්සයො මේවා අයිති කරගෙන ඒවායේ තිබුණ ගොඩනැගිලි කඩා බිඳ දමමින්, ඒ අය වගා කරපු ගහ කොළ කපා දමමින් වෙනස් කරන කොට, ඒ අමනුස්ස කොටස් එකතු වෙලා මනුස්සයින්ට කරදර කරන්න පටන් ගන්නවා.

මේ වගේ අවස්ථාවල උපක්‍රමශීලීව ඒ අයට කන බොන දේවල් දීල, මේ ඉඩකඩම් සීමාවෙ ඉන්න අපටත් ඉඩ ලබා දෙන්න කියල අවසරයක් ගන්නව නම්, ඒ අමනුස්ස කොටස් සතුටට පත්වෙලා මනුස්සයින්ට කරදර කිරීම නතර කරනවා. මේ ටික යථාර්ථවත්ව දැන ගෙන, ඒ අයට හිමි කොටස ඒ අයට ලබා දීම තමයි බහිරව පූජාවකින් කරන්න ඕන. අලෝභය ලැබීමට හේතු වෙන්නෙ මේ ආකාරයට. මේ ටික දන්නෙ නැතුව මොනව හරි පූජාවක් කරල, ඒ ඉඩ කඩම් මම, මගේ කියමින් අයිතිවාසිකම් පෙන්වන්න ගියාට කරදර අඩුවක් වෙන්නෙ නෑ.

නමුත් නියම බෞද්ධයෙක් විදියට, ඒ ඉඩකඩම් දේපලවලට තියෙන ''මගේ'' කියන මානසිකත්වය පහ කරල ඉන්න පුළුවන් නම්, ඒ එක පූජාවක් කරනවට වඩා වටිනවා. ජීවත් වෙන්න තැනක් මිසක් මගේ කියන මානසිකත්වය ඒ පුද්ගලය තුළ නැති නිසා, අමනුස්සයින් ඒ අයට කරදර කරන්න එන්නෙ නෑ. පෙර මේ ඉඩ කඩම් ආරක්ෂා කරගෙන ගල් වැටි ආදිය දාල, ගහ කොළ වවල ආදායම් ලබාගන්න ආකාරයට වැඩි දියුණු කරල දීල ☞

තියෙන නිසා, ඒවායේ ආදායමෙන් පිනක් දහමක් කරල පුණ්‍යානුමෝදනා කිරීමේ යුතුකමක් තියෙන බව මනුස්සයින් දැන ගන්න ඕන. මේ විදියට, කළ උපකාරවලට කෘතෝපකාර කිරීම මහා ගුණයක් වන නිසා, ඒ අමනුස්ස කොටස් ඒකෙන් සතුටට පත්වෙලා ඒ කෘතෝපකාර කරපු අයට ආරක්ෂාව රැකවරණය ලබා දෙනවා. මේ වගේ තැනක ආර්ය පුද්ගලයෙක් ඉන්නව නම් ''මනුස්සානං පියෝ හෝති, අමනුස්සානං පියෝ හෝති'' කියන තත්ත්වයට පත්වෙලා, ඒ ස්ථාන ප්‍රිය ස්ථාන බවට පත්වෙනවා.

## දානයේ මහත් ඵල මහානිසංස

දානමය පුණ්‍ය ක්‍රියාව තුළින් ලාමක වූත්, තුච්ඡ වූත්, පහත් වූත් දස අකුසල් සලා හරින නිසා දානය නිවනට හේතු වෙන ආකාරය තමයි ඉහත විස්තර කළේ. මෙතනදි පින නිවන් මගට බාධාවක් කියල වැරදි දෘෂ්ඨියක් ඇතමුන් තුල තියෙනවා. ඒ ගැන බුදු පියාණන් වහන්සේ මෙහෙම දේශනා කරල තියෙනවා.

''මා භික්ඛවේ පුඤ්ඤාණං භායිත්ත, සුඛස්සේතං භික්ඛවේ අධි වචනං පුඤ්ඤාණං''

''මහණෙනි, පින් කිරීමට බිය නොවන්න. පින යනු සුඛයට තවත් වචනයක්.''

මොකද ආර්ය මාර්ගය වඩන්න පින උපකාරී වෙනවා. මහා සංඝයා වහන්සේලා වෙත දානයක් පූජා කරන කොට අනුග්‍රාහකයාටත් දායකයාටත් ආයුස, වර්ණ, සැප, බල, පටිභාන කියන කරුණු පහක් ලැබෙනවා. දන් දීල මේ කරුණු පහ වඩන කෙනෙකුට තමයි සත්පුරිස (උත්තම) සංසේවනයෙන් ධර්ම ශ්‍රවණය කරල ලෝකය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් අවබෝධ කරගෙන, අප්‍රමාදව සත් තිස් බෝධි පාක්ෂික ධර්ම වඩල නිවන් මග පූර්ණ කරගන්න අවශ්‍ය ප්‍රත්‍ය ලැබෙන්නෙ. නිවන් මග වඩන්න ශ්‍රද්ධා ඉන්ද්‍රිය, සමාධි ඉන්ද්‍රිය, වීර්ය ඉන්ද්‍රිය, සති ඉන්ද්‍රිය බලවත්ව නැගිල ප්‍රඥා ඉන්ද්‍රිය බලවත් වෙන්න හේතු වෙන්නෙ ආයුස, වර්ණ, සැප, බල, නුවණ තියෙන කෙනෙකුට විතරයි.

## ''වය ධම්මා සංඛාරා, අප්පමාදේන සම්පාදේථ''

මේ බුද්ධ වචනය අනුව, කෙනෙක් අප්‍රමාදව ජීවත් වෙලා අවිද්‍යාව නිසා සිදු කරන සංඛාර පහකරල නිවන් අවබෝධ කරගන්න ආයුස අවශ්‍ය වෙනවා. එහෙම නැතිව අවුරුදු සීයක් පමණ ජීවත් වෙන්න අවශ්‍ය ආයුස නෙවෙයි මේ කියන්නෙ.

## අප්පමාදෝ අමත පදං - පමාදෝ මච්චුනෝ පදං

අප්‍රමාදව කටයුතු කරන තැනැත්තා නිවනට පත්වන අතර, ප්‍රමාද වූ තැනැත්තා මරණ පදයට හෙවත් මැරී මැරී ඉපදෙමින් සංසාර ගමන දික් කරගන්නවා. වර්ණය කියන්නෙ ප්‍රබෝධය. කායික හා මානසිකව දුර්වල වෙලා මලානිකව නිදිමත ස්වභාවයෙන් ඉන්නව නම්, ධර්මය අහල වටහා ගන්න බැරි වෙනවා. ආර්යන් වහන්සේලා උදෙසා දන් දීල, මාර්ග සකස් කරල දීල, ආලෝකය සැපයීම් ආදිය කරල දීල තියෙනව නම් වර්ණය නැගිල එනවා.



ධර්මය අහන්න වාඩිවුන වෙලාවෙ ඉඳල අතපය රිදීම්, කැක්කුම්, හිරවීම්, තදවීම්, කැරකිලි වේදනා ආදියෙන් බාධා පැමිණෙන්නෙ ඒ සඳහා කායික මානසික සැපය නැති නිසා. භාවනා කර්මස්ථාන වඩමින් දින ගණන් බාධාවකින් තොරව ඉන්න පුළුවන් විදියට ප්‍රීතිය, පස්සද්ධිය, සුඛය නැගිල එන්න ඕන.

''ප්‍රීති මනස්ස කායෝ පස්සද්ධියති, පස්සද්ධ කායෝ සුඛං දේති, සුඛිනෝවා සමාධියති.''

ප්‍රීති මනසක් ඇත්තහුට පස්සද්ධිය හෙවත් සැහැල්ලු බවත්, පස්සද්ධිය නිසා සුඛයත්, සුඛය නිසා සමාධියත් ලැබෙනවා. ඒ වගේම ධෛර්ය, උත්සාහය, අධිෂ්ඨානය බල ගැන්විලා ආවෙ නැත්නම් කෙනෙක් අධෛර්යට පත්වෙන්න පුළුවන්.

මස් ලේ වියලී යාවා, සම් ඇට ඉතිරි වේවා, බුදු බව ලබා මිස නොනැගිටිමියි කියන අධිෂ්ඨානය පරිදි, බුදු පියාණන් වහන්සේගේ අධිෂ්ඨානය බල ගැන්විලා ආවෙ උන් වහන්සේ බෝධි සත්ත්ව කාලෙ දානාදී පාරමිතා පුරල ඇති කරගෙන තිබ්ච්ච අධ්‍යාත්මික බලය නිසා.

ආයු, වර්ණ, සැප, බල ලැබුණම තමයි ප්‍රඥාව හෙවත් පටිභාන ඤාණය වැඩෙන්නෙ. සුඛය තුළින් සමාධියත්, සමාධිය තුළින් යථා භූත ඤාණ දර්ශනයත්, යථා භූත ඤාණය තුළින් නිර්වේදයත් (නොවිදීම), නිර්වේදය තුළින් විමුක්තියත්, විමුක්ති ඤාණ දර්ශනයත් ලැබිල ධර්මයෝම ධර්මයෝ පවත්වයි, නිර්වාණ පරතෙරට යාම සඳහා ධර්මයෝම ධර්මයෝ පුරවයි කියන කරුණ සිද්ධ වෙනවා. (අංගු.නි. (6) <u>නචේතනා කරණීය සූත්‍රය</u>)

දානය දීමෙන් ලැබෙන මහත් ඵල තමයි සෝතාපන්න මාර්ග ඵල, සකෘදාගාමී මාර්ග ඵල, අනාගාමී මාර්ග ඵල, අරිහත් මාර්ග ඵල කියන සතර මග සහ සතර ඵලය. කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක සියල්ලේම ආදීනව දකල ඒවා නිශ්‍රය නොකරන අංසයට හෙවත් ඇසුරු නොකරන අංසයට පත්වුනාම දානයේ ආනිසංස ලැබෙනවා. (ආනිස + අංස =ආනිසංස)

අසාධාරණව මම, මගේ කියල අල්ල ගත්තු දේවල්වල තියෙන ලෝභ ගිනි නිසා ඒවායේ ආදීනව දකල, ඒවා නිතර මෙනෙහි කරන කොට අත් හැරෙන්න පටන් ගන්නවා. ''නොබැඳෙන්නේ නොඇලෙයි, නොඇලෙන්නේ මිදෙයි, මිදුනේ මිදුනෙමියි දැන ගනී.'' දන් දීමෙන් අත්හැරීම සිද්ධ වෙන්නෙ ඒ ආකාරයට.

## මහත් ඵල මහානිසංස නොවන දාන

දිනක් චම්පා නගර වාසී උපාසකයන් සමග සැරියුත් මහ රහතන් වහන්සේ, බුදු පියාණන් වහස්සේ හමු වෙලා අහනවා, ස්වාමීනි, ඇතමෙක් විසින් දෙන ලද මහත් ඵල මහානිසංස නොවන දානත්, මහත් ඵල මහානිසංස වන දානත් තියෙනවද, ඒකට හේතු මොනවද කියල.

(1) සාරිපුත්තයෙනි, මෙලොවෙහි ඇතමෙක් තෘෂ්ණා සහිත වූයේ දන් දෙයි. විපාකයෙහි පිළිබැඳියේ

දන් දෙයි. පරලොවදී පරිභෝග කරන්නෙමැයි දන් දෙයි. හේ මරණින් පසු සිවු මහරද වැසියන්ගේ සහභාවයට (චාතුර් මහාරාජික දේවතාවන්ගෙ සම්බන්ධයට) පැමිණෙයි. හෙතෙම ඒ කර්ම විපාකය ගෙවා මිනිසත් බවට එන සුළු වූයේ ආගාමී වෙයි (ආපසු එයි).

(2) සාරිපුත්තයෙනි, ඇතමෙක් ඉහත කරුණුවලින් නොබැඳී දන් දෙයි. පරලොවදී පරිභෝග කරමියි දන් නොදෙයි. වැලිත් දානය මනායයි දන් දෙයි.

(3) තවත් කෙනෙක් ඉහත කරුණු මෙන්ම දානය මැනවයි කියාද දන් නොදෙයි. වැලිත් මාතෘ පීතෘන් විසින් දෙන ලද විරුය (එසේ දෙන ලද්දේය) පැරණි කුල වංශයට අයත් සිරිත පිරිහෙන්නට නොසුදුස්සෙමැයි දන් දෙයි.

(4) තවත් කෙනෙක් ඉහත කරුණුවලට අමතරව, මම ආහාර පිසමි, මොහු ආහාර නොපිසත්, පිසනුයෙම් නොපිසනුවනට නො දෙන්නට නො නිසියෙමියි දන් දෙයි.

(5) තවත් කෙනෙක් ප්‍රසිද්ධ පූර්ව කාලීන ඍෂීන්ගේ මහායඥයෝ (මහා දාන) යම් පරිදි වූහු නම් එ පරිද්දෙන් මාගේ මේ දානයද දාන සංවිභාගයෙක් (දාන කොටසක්) වන්නේ යැයි දන් දෙයි.

(6) තවත් කෙනෙක් එසේත් දන් නොදී මේ දානය දෙන මාගේ චිත්තය ප්‍රසන්න වන්නේය, අත්තමන්තායෙන් (තමන්ගෙ හිත ගත) ප්‍රීති සෝමනස්සය ලබන්නේ යැයි දන් දෙයි.

(7) තවත් කෙනෙක් මාගේ චිත්තය පහන් වන්නේ යයි අත්තමන්තායෙන් සෝමනස්ස උපදනේ යයි දන් නොදෙයි. වැලිත් සමථ විපස්සනා චිත්තයට චිත්තාලංකාරයෙකැයි ද චිත්ත පරිස්කාරයෙකැයි ද දන් දෙයි. (නිවනට ආධාරයක් උපකාරයක් වේ යැයි) හේ මහණකුට වේවයි, බමුණකුට වේවයි අන්නය (ආහාරය), පානය (පාන වර්ග), වස්ත්‍රය, යානය (ගමන් බිමන්වලට ගන්න දේවල්), මාලා ගන්ධ විලේපනය (මල් ගඳ විලවුන්), ශයියාවස්ථය (අමතර වස්ත්‍ර), ප්‍රදීපෝකරණ (ප්‍රදීප හෙවත් ආලෝකය ලබා දෙන උපකරණ) යන ඒ දන් දෙයි.''

එතෙකුදු වුව සමථ විපස්සනා චිත්තයට අලංකාරයයි කියා දන් දේද, හේ එසේ දන් දී, මරණින් මතු බ්‍රහ්ම කායික දෙවියන්ගේ සහභාවයට යයි. හෙතෙම ඒ කර්ම, ඍද්ධි, යසස් ගෙවා මිනිසත් බවට නොඑන සුළු වූයේ අනාගාමී වෙයි. (ඒ කියන්නෙ පස් කම් සැප බලාපොරොත්තුවකින් තොරව නිවනම බලාපොරොත්තුවෙන් දන් දෙනවා. යථාර්ථය දක්ක කෙනෙක් තමයි ඒ වගේ දානයක් දෙන්නෙ. බ්‍රහ්ම චරියාව පූර්ණ කර ගන්න උපනිශ්‍රයක් වේවා කියල, ඒ ගුණය තියෙන උත්තමයන්ට දන් දෙනව කියල, සම්පූර්ණයෙන්ම නිවනටම හිත පිහිටවල දන් දීමක් තමයි මෙතනදි සිද්ධ වෙන්නෙ. ඒ නිසා ඒ වගේ කෙනෙක් ඒ දීපු දානෙ විපාක විඳින්න නැවත මනුස්ස ලෝකෙට එන්නෙ නෑ.)

සාරිපුත්තයෙනි, මෙලොව ඇතමෙකු විසින් දෙනු ලබන දානය මහත් ඵල මහානිසංස නොවීමටත්, ඇතමෙකු විසින් දෙනු ලබන දානය මහත් ඵල මහානිසංස වීමටත් මේ එයට හේතුය. මේ ප්‍රත්‍යයි. (සත්තක නිපාතය, ප්‍රථම පණ්ණාසකය, අංගු.නි. (4) දාන මහප් ඵල සූත්‍රය)

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැගවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඇල්. අමරසිංහ**
**(විශ්‍රාමික ලංකා බැංකු ජ්‍යෙෂ්ඨ කළමනාකරු)**
**පිළියන්දල.**

## නිවැරදි කිරීමයි....

පසුගිය 27 වන කලාපයේ ''ගෙවුණු අතීතය'' නම් මාතෘකාව යටතේ පළ වූ හයවන කවියත්, 30 වන කලාපයේ ''අත්බැව්'' නම් මාතෘකාව යටතේ පළ වූ හතර වන කවියත් ප්‍රමාද දෝසයකින් ''යවහන්'' දෝස සහිතව සටහන් වී ඇත. එම කවි දෙක යවහන් දෝස ඉවත් කර පහතින් ඉදිරිපත් කර ඇති අතර, අන්තර්ජාලයට නිකුත් කර ඇති කලාපවල එම නිවැරදි කිරීම් දැනටමත් සිදු කර ඇත.

**ගෙවුණු අතීතය (27 කලාපය)**

**ගෙවුණු අතීතය සිහි කර සසර හවේ**
**දැවුණු සිතින් යළි ගතැකිද තිබුණු සුවේ**
**මැවුණු සිතෙහි මාලිග රිසි ලෙසට නොවේ**
**නිවුණු විටදි වැටහෙයි තතු නිසරු ලොවේ**

**අත්බැව් (30 කලාපය)**

**මිනිසුන් විලසට ඉපිද මනු ලොවේ**
**කරමින් හරසුන් වැඩට හිත දිවේ**
**දරමින් අකුසල් හදන හැම හවේ**
**එතෙකින් වැනසෙයි සසර යළි දැවේ**

එසේම 30 වන කලාපයේ 19 පිටුවේ පළ වූ ''අධිමානේන කුක්කුටෝ'' යන්න ''අතිමානේන කුක්කුරෝ'' යනුවෙන් නිවැරදි විය යුතු බවත් සළකන්න.

## නිවනට වදන්

**මව මැරීම ආනන්තරීය පාප කර්මයකි. සංඝ භේදය ආනන්තරීය පාප කර්මයකි. මවට පහරදීම මහා පාපයකි. බොදු පිරිස භේද කිරීම මහා පාපයකි. සියල්ලෝම සමගිය නමැති මව ආදරයෙන් රැක බලා ගනිත්වා.**

**- වහරක අභයරතනාලංකාර හිමි**

# නිවසක බුදු පහන තැබීම නිවැරදි අයුරින්...

එදිනෙදා බුදු පහන දැල්වීම සෑම බෞද්ධ නිවසකම වගේ සිදු කරන කටයුත්තක්. බොහෝ නිවෙස්වල හවස හයට පමණ බුදු පහන දල්වල මල්, පැන්, හඳුන්කූරු ආදිය පූජා කරනවා. සමහර නිවෙස්වල උදේ කාලයෙත් බුදු පහන දල්වල මල්, පැන් ආදිය පූජා කරනවා. මේ අතර තවත් සමහර නිවෙස්වල උදේ හවස දෙකේම ඒ වතාවත් සිද්ධ කරනවා. එතකොට නිවසක බුදු පහනක් දල්වන කොට ඒ සඳහා සුදුසු ස්ථානය කොයි ආකාරයෙන් වෙන්න ඕනද? ඒ සඳහා සුදුසු වෙලාවක් තියෙනවද? සුදුසු දිසාවක් තියෙනවද? මේ ආදී ප්‍රශ්න පිළිබඳව බෞද්ධයින් අතර විවිධ මති මතාන්තර තියෙනවා.

මේ වගේ ප්‍රශ්නවලදි ලෝක සම්මත න්‍යායන්ට අනුකූලව, නැකත් ශාස්ත්‍ර ආදී ක්‍රමවලට අනුකූලව පෙන්වපු විවිධ ක්‍රම තියෙනවා. නමුත් බෞද්ධත්වය තුල ඉඳගෙන කටයුතු කරන කොට ඒ වගේ ක්‍රම අත්‍යවශ්‍ය වෙන්නෙ නෑ. උදාහරණයක් විදියට මෙහෙම දෙයක් හිතුවොත්, ලෝකයේ පහළ වෙච්ච ශාස්තෘන් වහන්සේලා අතරින් බුදු පියාණන් වහන්සේ කියන්නෙ අග්‍ර ශ්‍රේෂ්ඨතම ශාස්තෘන් වහන්සේ. බෞද්ධයින්ට බුදු පියාණන් වහන්සේ හැරුණු කොට වෙනත් මූලික ශාස්තෘන් වහන්සේ නමක් ඉන්න විදියක් නෑ. එහෙනම් අග්‍ර වූ ශ්‍රේෂ්ඨ වූ උත්තමයාට අග්‍ර තැනක් හිමි වෙන්න ඕන. මේක අපේ නිගමනයක්වත්, කවුරුවත් පනවපු දෙයක්වත් නෙවෙයි. අග්‍ර උත්තමයාට අග්‍ර තැන ලැබීම ස්වභාවිකව උරුම වෙන දෙයක්.

එතකොට නිවසක අග්‍ර ස්ථානය වෙන්නෙ කැණිමඬල හෙවත් මුදුන (මධ්‍ය ස්ථානය) කෙලින් තියෙන බ්‍රහ්ම පාදය. එහෙනම් බුදු පිළිම වහන්සේ තැන්පත් කරන්න සුදුසුම ස්ථානය වෙන්නෙත් කැණිමඬල කෙලින් තියෙන බ්‍රහ්ම පාදය. ඕනෑම තැනක මධ්‍ය ස්ථානය ලැබෙන්නෙ අග්‍ර වූ නායක වූ පුද්ගලයාට. ඒක ස්වභාවික න්‍යායක්. ධර්මානුකූල හිමිකමක්. නැකත් ශාස්ත්‍ර ආදියෙදිත් බ්‍රහ්ම පාදය විදියට සැළකෙන්නෙ, නිවසක හතර කොන් යා කරන කොට කැපී යන මධ්‍ය ස්ථානය. බ්‍රහ්ම පාදය ඊට සුදුසුයි කියල කෙනෙක් කියන්නෙත් ඒ ශාස්ත්‍රයට අනුව බ්‍රහ්ම කිච්චම උසස් යන අර්ථය දෙන නිසා. නමුත් බෞද්ධයින් මේ වගේ දේවල් සඳහා



දෘෂ්ටිගත වෙන්න හොඳ නෑ.

එතකොට බ්‍රහ්ම පාදය කියන්නෙ මොකක්ද, ඒක බුදු පිළිම වහන්සේ වැඩ හිඳුවන්න සුදුසු වෙන්න හේතුව මොකක්ද කියලත් බෞද්ධයො විදියට දැන ගන්න ඕන. ගෙයි මුල්ල හොඳයි කියල කෙනෙක් කියනවා. තව කෙනෙක් කියනවා ගෙයි මැද හොඳයි කියල. මෙහෙම එක එක්කෙනා කියන දේවල් අනුමත කරන්නෙ නැතුව, ඇයි එහෙම සුදුසු වෙන්න හේතුව කියල හොයල බලන්න බෞද්ධයො විදියට පුරුදු වෙන්න ඕන. එහෙනම් අග්‍ර වූ ශ්‍රේෂ්ඨ වූ බුදු පියාණන් වහන්සේට නිවසකත් අග්‍ර තැන තමයි සුදුසුම ස්ථානය වෙන්නෙ. බුදු පහන දල්වන්න සුදුසුම ස්ථානය තමයි ඒ. ඒ වගේම බුදුන් වහන්සේට පහනක් පූජා කරන කොට ඒක උස් ස්ථානයක තියන්නත් වග බලා ගන්න ඕන. උසස් අයට සළකන්න ඕන උසස් විදියට නිසා, බුදුන්ට පූජා කරන පහන ඉහළ ස්ථානයක තියන්න ඕන. පහත් ස්ථානයකින් පහනක් දල්වන්නෙ පහත් අයට. උදාහරණ විදියට පෙරේතයන්ට දල්වන පහනක් පෙරේත තටුවෙ පහතින්ම තමයි තියන්නෙ.

බුදු රජාණන් වහන්සේට පහනක් පූජා කරන කොට ඒක තියන්න නිසි වෙලාවක් තියෙනවද කියල සමහර අය අහනවා. ලෝක සම්මතයේ උදය වෙලාව කියන්නෙ සාමාන්‍යයෙන් වැඩක් ආරම්භ කරන වෙලාව. වැඩක් ආරම්භ කරන වෙලාවෙ යහපත් දෙයක් කරල අදාළ වැඩේ පටන් ගත්තොත් ඒක බොහොම සුදුසුයි. ඒ නිසා වැඩක් ආරම්භ කරන්න පෙර උදය කාලයේ බුදුන් සිහි කරල පහනක් පූජා කරනවා කියන්නෙ ඉතාම සුදුසු දෙයක්. ඒ වගේම උදේ කාලයේ ඉඳල හවස් කාලය වෙනකල්ම වැඩක් ආරම්භ කරන්න හැකියාව තියෙනවා. අදාළ වැඩේ ආරම්භ කරන්න ප්‍රථම ප්‍රසන්න මනසකින් යුක්තව, චිත්ත ප්‍රසාදයෙන් යුක්තව කරන කියන දේවල්, ඡායාව තමන් පසු පස එනව වගේ සැපය පසු පසින් ඇවිත් ඒවා ඵල දෙනවා. ඒ පිළිබඳව හෙළ බොදු පියුම 23 කලාපයේ පළ වූ ''වරදවා තේරුම් ගෙන කරන පැරණි සිරිත්...'' කියන ලිපියෙනුත් විස්තර කරල තියෙනවා. ඒ වගේම යම් වැඩක්, රැකියාවක් කරල අවසානයේදි චිත්ත ප්‍රසාදයෙන් යුක්තව සැනසීමක් ඇති කර ගන්න කොට අවසාන වෙලාවත්, ඒ කියන්නෙ හවස් යාමයත් බුදු පහන දල්වන්න සුදුසු වෙනවා. දවසේ වැඩ ඔක්කොම ඉවර වෙලා චිත්ත ප්‍රසාදයක් නැගුනම හිතේ ගතේ දුක් මහන්සියත් නැති වෙලා යනවා. එහෙම චිත්ත ප්‍රසාදයක් නැගුනම හවසට බුදුන්ට පහනක් පූජා කිරීමත් බොහොම සුදුසුයි. මේ නිසා උදේ හවස බුදුන්ට පහනක් පූජා කරන්නෙත් හේතුවක් ඇතුව.

කෙනෙකුට චිත්ත ප්‍රසාදයකින්, පහන් සිතකින් දූෂ්‍ය වැඩක් කරන්න බෑ. මිනිස්සු එදිනෙදා වැඩ කටයුතු කරන කොට හොඳ වැඩ සහ නරක වැඩ සියල්ලම කලවමේ කරන්න පුළුවන්. ☞

ඒ කියන්නෙ ලෝභ, ද්වේශ, මෝහ සහ අලෝභ, අද්වේශ, අමෝහ සිතිවිලි - ක්‍රියා - වදන් සියල්ලම කලවමේ දවස තුළ සිද්ධ වෙන්න පුළුවන්. නමුත් උදය කාලයේ චිත්ත ප්‍රසාදයකින්, පහන් සිතකින් වැඩ ආරම්භ කළාම ලෝභයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් කරන්න යමක් තියෙනව නම් ඒවා කරන්න හිතෙන්නෙ නැතුව යනවා. සිත පහන් නිසා අලෝභයෙන්, අද්වේශයෙන්, අමෝහයෙන් කරන යහපත් දේකටම සිත පිහිටනවා. **අලෝභය ලැබීමටත්, අද්වේශය සමගියටත්, අමෝහය නුවණටත් හේතු වෙනවා.** එතකොට ලැබීම, සමගිය සහ නුවණ යම් සමාජයක පහළ වෙනව නම්, යම් කෙනෙකුට පහළ වෙනව නම්, ඒ සමාජයට, පුද්ගලයට අභිවෘද්ධියක් මිස පිරිහීමක් එන්නෙ නෑ. යම් විදියකින් ආරම්භය පහන් සිතකින් පටන් ගත්ත නම්, හැම වෙලේම නැගිල එන්නෙ අලෝභය, අද්වේශය සහ අමෝහය. ලෝභය, ද්වේශය, මෝහය පැත්තට පහන් සිත හැකිලෙනවා. ඒ කියන්නෙ ඒ පැත්තට සිතිවිලි, ක්‍රියා, වදන් නගන්න ඉඩ ප්‍රස්ථාව නැති වෙනවා. ඒ නිසා වැඩක් ආරම්භයේදී පහන් සිතකින් පටන් ගන්න කොටම, පහන් සිත මුල් කරගෙන පහනක් තියනවා. මේ පහනේ ආලෝකය වගේ තමන්ගෙ ජීවිතයත් ආලෝකමත් වෙනව කියල තේරුම් අරගෙන, තම තමන්ගෙ නුවණ මට්ටමට ප්‍රාර්ථනා කරනවා.

ඒක විදර්ශනා මට්ටමට අවශ්‍ය නම් විදර්ශනා මට්ටමින් සිහි කරල පහන් පූජා කරන්නත් පුළුවන්. ඒ වගේම ලෞකික මට්ටමිනුත් සිහි කරල පහන් පූජාව කරන්න පුළුවන්. ලෞකික මට්ටම්වලදිත් උතුම් ගුණ තියෙනවා. බුදු පියාණන් වහන්සේට පූජා කරන මේ පහන් ආලෝකය වගේම, මගේ ජීවිතයත් ආලෝක වේවා කියල කෙනෙකුට යහපත් සිතිවිල්ලක් මුල් කරගෙන පැතුමක් පතන්න පුළුවන්. ආලෝකය කියන්නෙ අලෝභ, අද්වේශ, අමෝහ පැත්ත. අඳුරු පැත්ත තමයි ලෝභ, ද්වේශ, මෝහ කියන්නෙ. අලෝභ, අද්වේශ, අමෝහ කියන ඒවා ලෝකයම ආලෝකමත් කරනවා. ලෝක පැවැත්මක් එක්ක ජීවත් වෙන්න කෙනෙක් කැමති නම්, ලෝකයේ ආලෝකය පැත්තෙ ඉඳගෙන කටයුතු කරන්න ඕන. ඒ කියන්නෙ අලෝභ, අද්වේශ, අමෝහ සිතිවිලි, ක්‍රියා, වදන්වලට අනුව කටයුතු කරන්න ඕන. එහෙම නැතුව ලෝකයේ අඳුරු පැත්තට කටයුතු කළොත් සතර අපාගත තත්වයට තමයි අත වනන්නෙ. ඒ නිසා පහන් සිතකින් ඒ ආලෝක ගුණයට ආලෝක පූජාවක් කරන කොට අලෝභයට, අද්වේශයට, අමෝහයට තමයි මුල පුරන්නෙ. ඒක තමයි මුලිකම වැඩ පිළිවෙල වෙන්න ඕන.

උදේ ඉඳල රෑ වෙනකල් වැඩ කරල නිදහස් වෙලා පාඩුවේ ඉන්න වෙලාවට කරපු කියපු දේවල් අරමුණු වෙන්න ගන්නවා. උදේ ඉඳන් වැඩ කරපු පරිසරයෙන් මිදිල සිත සැහැල්ලු බවට පත් වෙන පරිසරයකට ආවම දවස අවසානයේදිත් චිත්ත ප්‍රසාදය හට ගන්නවා. නැවතත් දවස තුළ පහන් සිතක් ඇති වෙනවා. හවස් වරුවෙ වැඩ ඔක්කොම ඉවර කරල පහන් සිතක් හටගෙන නැවතත් බුදු පියාණන් වහන්සේට පහනක් පූජා කරල, මල් පූජා කරල, හඳුන්කූරු පූජා කරල වැඳුම් පිදුම් සිද්ධ කරනවා. උදේ ඉඳන් හවස් වෙනකල් තමන් කරපු, කියපු, හිතපු යහපත් දේවල් සිහි කරන කොට නැගෙන්නෙත් පහන් සිතක්. චිත්ත ප්‍රසාදයෙන් නම් හිතන්න පටන් ගත්තෙ, උදේ ඉඳල හවස් වෙනකල් කරපු, කියපු, හිතපු දේවල්වල හොඳ පැත්තම සිහියට එනවා. බුදුන් සිහි කරල දවල් චිත්ත ප්‍රසාදයෙන් ගත කළා නම් රෑත් එහෙමයි. බුදුන් සිහි කරල රාත්‍රිය චිත්ත ප්‍රසාදයෙන් ගත කළා නම් දවල්ටත් එහෙමයි. දිවා රාත්‍රී දෙක චිත්ත ප්‍රසාදයෙන්, පහන් සිතින් යුක්තව කටයුතු කළා නම් හරි මාර්ගය වැඩෙනවා. ඒ කියන්නෙ හරි මාර්ගයට පසුතලය සැකසෙනවා. ඒ නිසා මාර්ගය වඩා ගන්න මේ විදියට ඥාන සම්ප්‍රයුක්තව උදේ හවස පහනක් තැබීම බොහෝ උපකාරී වෙනවා. ඒ අනුව උදේ හවස බුදුන්ට පහනක් දල්වා මල්, හඳුන්කූරු ආදිය පූජා කිරීමෙන් නිවන් මගට නැඹුරු වෙන පූර්ව ප්‍රතිපදාවට උපනිශ්‍රයක් වෙනවා. උදේ හවස දෙකම අපහසු නම්, එක්කො උදේ කාලයේ රැකියාවට යන්න පෙර, එහෙම නැත්නම් හවස් කාලයේ රැකියාව නිම කරල ගෙදර ආවට පස්සෙ සිත නිවා ගෙන බුදුන්ට මල්, පහන්, හඳුන්කූරු පූජා කරන්න පුරුදු පුහුණු වුනොත් ඒක යහපතක්ම ගෙන දෙනවා.

ඊළඟ ප්‍රශ්නය තමයි බුදුන්ට පහනක් දල්වන කොට ඒකට යම් කිසි සුදුසු දිසාවක් තියෙනවද කියන කාරණය. ලෝක සම්මතයේ එක් එක් දිසාවන් එක් එක් කටයුතු සඳහා සුභයි කියල හඳාගෙන තියෙනවා. නැකත් සාස්ත්‍රය අනුවත් විවිධ දිසාවන් විවිධ කටයුතු සඳහා පෙන්වා දීල තියෙනවා. ලෝක සම්මතයේ ඒ ඒ ආකාරයෙන්, ඒ ඒ පැත්තට ගැළපෙන, ඒ ඒ දේවල් ඇසුරු කළ යුතු දිසාවන් තියෙනවා. උත්තරීතර ධර්ම උතුරු දිසාව මුල් කරගෙන ඇසුරු කරනවා. ප්‍රඥාව නැගෙන පැත්ත නැගෙනහිර දිසාව මුල් කරගෙන ඇසුරු කරනවා. බස්නාහිර හෝ දකුණ කියන දිසාවන් නරක පැත්තටත්, උතුර හෝ නැගෙනහිර හොඳ පැත්තටත් සලකන ලෝක සම්මතයක් තියෙනවා. මේ ආකාරයෙන් වූ දිසාවට අනුව ඇසුරු කරන ක්‍රමවේදයකුත් ලෝකයේ තියෙනවා. ලෝක පිහිටීම අනුව නැගෙනහිර දිසාව කියන්නෙ හැම වෙලේම ඥානවන්තයින්ට ගෝචර වෙන දිසාවක්. ලොව්තුරා බුද්ධත්වය ලබන්නත් බෝසතාණන් වහන්සේ නැගෙනහිර දිසාව බලාගෙන තමයි ඉඳ ගත්තෙ. බස්නාහිර දිසාව බලාගෙන බුදු වෙච්ච කිසිම බුදුවරයෙක් නෑ. නැගෙනහිර දිසාව ප්‍රඥාව නැගෙන්න පසුතලය සකසන නිසා තමයි බුදුවරයන් වහන්සේලා නැගෙනහිර දිසාව බලාගෙනම බුද්ධත්වය ලබන්නෙ. ඒ නිසා **ප්‍රඥාව නගන්න නැගෙනහිර දිසාව ලෝක සාධකයක්. නැගෙනහිර දිසාවෙන් එන කිරණ ප්‍රඥාවට ආධාර වෙනවා.**

**උත්තරීතර දහම් මෙනෙහි කරන්න උතුරු දිසාව ලෝක පරිසරයක්. බැහැර කළ යුතු දහම් බැහැර කරන්න බටහිර දිසාව ලෝක පරිසරයක්. පාප දහම් පහ කරන්න දකුණු දිසාව ලෝක පරිසරයක්.** (දා + කුණු - දකුණු, කුණු දමන පැත්ත) මේ ආකාරයෙන් විවිධ පැති ඇසුරු කරගෙන සිද්ධ කරන කටයුතු තියෙනවා. ඒ නිසා නිවසක බුදු පිළිම වහන්සේ නමක් වැඩ හිඳුවන කොටත්, බුදුන්ට පහනක් දල්වන කොටත් නැගෙනහිර දිසාව මුල් කරගෙන සිද්ධ කිරීම හොඳයි. හැබැයි නැගෙනහිර දිසාවට මුහුණලා ගෙනම පහන් පූජා කරල බුදුන් වඳින්න හැකියාව නෑ කියල දෘෂ්ටිගත වෙන්නවත්, කනස්සල්ලට පත් වෙන්නවත් අවශ්‍ය නෑ. බුදුන් කෙරෙහි චිත්ත ප්‍රසාදය ඇති කරගෙන නිසි පරිදි වැඳුම් පිදුම් කරන්නයි ඕන. මෙතැනදි පෙන්වා දෙන්නෙ, නැගෙනහිර දිසාවම මුල් කරගෙන වැඳුම් පිදුම් කළ යුතුම බව නෙවෙයි, ඒ දිසාව වඩාත් සුදුසු බව.

මේ දිසාව ගැන කියනකොට, ලෝක සම්මත දිසාව මොකක් වුනත් පරමාර්ථ වශයෙන් බෞද්ධයෙකුට ඕනෑම දිසාවක් ගන්න පුළුවන් ක්‍රමයක් තියෙනවා. එතනදි බුදුන් වහන්සේ ඉදිරියේ කෙලින්ම ඉඳගන්නෙ නැතිව පොඩ්ඩක් පැත්තකින් ඉඳගන්නවා. එකත්පසව ඉන්නව කියන්නෙ ඒකට තමයි. ඒ කියන්නෙ පේන්න ඉන්නකොට බෙල්ල හුඟක් මහන්සි වෙලා හරවන්න ඕන නැති මට්ටමක්. ඒ අවස්ථාවෙදි දිසාව විදිහට ගන්නෙ අර කියපු ලෝක සම්මත දිසාවන් නෙවෙයි, බුදුරජාණන් වහන්සේ ඒ අවස්ථාවෙදි වැඩ ඉන්න දිසාව. එතකොට ලෝක සම්මත දිසාව මොකක් වුනත් කමක් නෑ. හැබැයි අපි ඒ අදහස හිතට ගන්න ඕන. ඒ කියන්නෙ බුදුන් වහන්සේ ☞

වැඩ ඉන්න දිසාවෙ අපි ඉන්නවයි කියන කාරණය. එතකොට ඒක තමයි අග්‍ර ශ්‍රේෂ්ඨම දිසාව වෙන්නෙ.

දැන් මේකට තවත් උදාහරණයක් තියෙනවා. සැරියුත් මහරහතන් වහන්සේ රාත්‍රියට සැතපෙන්න යන්න පෙර, දිවැසින් අස්සජි හාමුදුරුවො වැඩ ඉන්න දිසාව බලල ඒ දිසාවට වදින සිරිතක් තිබුණා. එතකොට මිනිස්සු කියන්න පටන් ගත්තා, සැරියුත් හාමුදුරුවො තවමත් පැරණි පරිබ්‍රාජකයන්ගෙ ගතිය අනුගමනය කරනව කියල. මොකද ඒ ඒ දිසාවට වදින නිසා. එතකොට උන්වහන්සේ ඒකට පිළිතුරු දෙනවා, මම දිසාවකට වැන්ද නෙවෙයි, මගේ ගුරුවරයා වශයෙන් තියෙන ගුරු ගරුත්වයට වැන්ද කියල. ඒ අනුව අස්සජි හාමුදුරුවො කොයි පැත්තෙද හිටියෙ, ඒ පැත්ත බලල තමයි සැරියුත් හාමුදුරුවො වැන්දෙ. ඒ වගේ අපිටත් ඒ ක්‍රමය අරගෙන, අපි ඉන්න දිසාව මොකක් වුනත් බුදු පිළිම වහන්සේ තැන්පත් කරල තියෙන දිසාවට හැරිල වදින්න පුළුවන්. එතකොට ලෝක සම්මත දිසාව ගැටළුවක් වෙන්නෙ නෑ. ඒ නිසා ලෝක සම්මතය අනුව නැගෙනහිර දිසාවෙන් බුදු පිළිම වහන්සේ තැන්පත් කරන්න පුළුවන් නම් එහෙම කරනවා. එහෙම අවස්ථාවක් නැත්නම් උතුර හෝ ඊසාන දිසාවෙන් තැන්පත් කරනවා. ඒ එක ක්‍රමයක්වත් නැත්නම්, දැන් මේ විස්තර කළා වගේ බුදු පිළිම වහන්සේ මොන දිසාවක තැන්පත් කරල තිබුණත්, එකත් පසව ඉඳගෙන උන්වහන්සේ වැඩ ඉන්න දිසාව කියල හිතාගෙන, ඒ පැත්තට හිත පිහිටුවාගෙන වදිනවා. එතකොට ලෝක සම්මත දිසාව කිසිම ගැටළුවක් වෙන්නෙ නෑ.

ඊළඟට බෞද්ධයින් නිවසක පහනක් පූජා කරල බුදුන් වදින්නෙ ඇයි කියල කෙනෙක් ඇහුවොත් විවිධ උත්තර ලැබේවි. කෙනෙක් කියන්න පුළුවන්, නිවන් දකින්න කියල. නිවන් කියන්නෙ මොකක්ද කියල ඇහුවොත්, ගෙදරක පහනක් තියෙන චාරිත්‍රය කවුරුත් කරනවනෙ, ඒ නිසා අපිත් බුදුන්ට පහනක් තියනව කියල උත්තර දෙනවා. නිවන කියන්නෙ මොකක්ද කියල අවබෝධයක් නැතුව, කරන්නන් වාලෙ පහන් තැබීමත් සිද්ධ කරනවා. ඒ වගේම ඒ අයගෙන් ඇහුවොත්, ඉක්මනින් නිවන් දැක ගන්න කැමතිද කියල, සමහර විට බය වෙන්නත් ඉඩ තියෙනවා. මොකද නිවන් දකිනව කියන දේ මැරුණට පස්සෙ සිද්ධ වෙන දෙයක් කියල හිතන බොහෝ බෞද්ධ පිරිස් තවමත් ඉන්නවා. ඒකට ප්‍රධාන හේතුවක් තමයි, කෙනෙක් මැරුණට පස්සෙ හාමුදුරුවරු වඩම්මවල, ඒ මළගිය කෙනාට පිං අනුමෝදන් කරල නිවන් සැප ලැබේවා කියල ප්‍රාර්ථනා කිරීම. ඒ නිසා ලෝක සම්මත බෞද්ධයින් හිතන්නෙ නිවන කියන්නෙ මැරුණට පස්සෙ දකින දෙයක් කියල.

නමුත් බුද්ධ දේශනාවට අනුව රාගක්ෂයෝ නිබ්බානං, ද්වේශක්ෂයෝ නිබ්බානං, මෝහක්ෂයෝ නිබ්බානං. දැන් කෙනෙක්ගෙන් මෙහෙම දෙයක් අහනවා. රාගයෙන් රත්වෙලා අසහනයෙන් ඉන්න කැමතිද, එහෙම නැත්නම් රාගයෙන් සංසිඳිල සැනසුමෙන් ඉන්න කැමතිද, ද්වේශයෙන් දැවි දැවී අසහනයෙන් ඉන්න කැමතිද, එහෙමත් නැත්නම් ශාන්තව සැනසුම් සිතකින් ඉන්න කැමතිද, මුලාවට පත් වෙලා තේරුම් ගන්න බැරුව අනේ මොනවා කරන්නද කියල හිතා ගන්න බැරුව, අසහනයෙන් ඉන්න කැමතිද, කරුණු තේරුම් අරගෙන සිහි බුද්ධියෙන් යුක්තව තමන්ගෙ කටයුතු කර ගන්න



කැමතිද කියල මෙහෙම ඇහුවොත් කොහොම උත්තරයක් ලැබෙයිද?

''රාගයෙන් රත් වෙලා දැවි දැවී ඉන්න මම කැමති නෑ, එහෙම දාහයක් නැතුව සැනසිල්ලෙ ඉන්න තමයි මම කැමති, ද්වේශයෙන් දැවි දැවී ඉන්න මම කැමති නෑ, ශාන්තව සැනසුම් සිතකින් ඉන්නයි මම කැමති, ඒ වගේම මුලාවට පත් වෙලා කිසි දෙයක් තේරුම් ගන්න බැරුව ඉන්න මම කැමති නෑ, කරුණු මනා ලෙස අවබෝධ කරගෙන සිහි බුද්ධියෙන් යුතුව කටයුතු කරගෙන සැනසුම් සිතකින් ඉන්නයි මම කැමති'' කෙනෙක් මෙහෙම උත්තර දෙනවා. ඒ කියන්නෙ ඒ පුද්ගලය නිවන් දකින්න කැමති කෙනෙක්. රාගය, ද්වේශය, මෝහය සහමුලින්ම උදුරා දමන්න පුළුවන් වුනා නම් එතන තමයි සෝපාදිසේස නිවන. මේ කාරණය අවබෝධ කර ගත්ත පුද්ගලය ඒක පූර්ණ කර ගත්තොත් මතු සසර ගමනක් හටගෙන මතු උප්පත්තියක් ඇති වෙන්න තියෙන හේතුත් බිඳිල යනවා. එහෙනම් නිවන් දකින්නෙ මෙලොව ජීවත් වෙලා ඉන්න කොටමයි කියන කාරණය තේරුම් ගන්න ඕන.

මේ විදියට නිවන කියන දේ තේරුම් අරගෙන නිවන ළඟා කර ගන්න නම්, වීතරාගී, වීතදෝෂී, වීතමෝහී උතුමන්ගෙ ගුණ සිහි කරන්න ඕන. එතකොට රාගයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් ඈත් වෙනවා. මොකද එබඳු උතුමන්ගෙ ගුණ සිහි කරන නිසා ඒ ගුණ අල්ප මාත්‍රයක් හරි තමන්ටත් පිහිටනවා. මේ හේතුව නිසා මම බුදු ගුණ සිහි කරනව කියල කෙනෙක් කියනව නම්, ඒ පුද්ගලය නිවන තේරුම් අරගෙන නිවනට හිත පිහිටුවා ගෙන බුදු ගුණ සිහි කරන කෙනෙක් වෙනවා. දැන් නිවස තුළ පහන තියන්නෙ මොන හේතුවකටද කියල තමන් තමන්ගෙ සිතින්ම අහන්න. ලැබෙන පිළිතුර ඉහත ආකාරයේ පිළිතුරක් නම් නිවන් දකින්න කැමති කෙනෙක්.

නමුත් ඇත්තටම අද බොහෝ දෙනෙක් නිවස තුළ පහනක් තියන්නෙ මේ කාරණය නිසා නෙවෙයි. කෙනෙක් කියන්න පුළුවන්, අපි ඉතිං බෞද්ධයොනෙ, බෞද්ධයො වුනාම උදේ හවස පහනක් තියන්න ඕනනෙ කියල. එහෙම නැත්නම්, දෙවියන්ගෙ හරි බුදුන්ගෙ හරි පිහිටක් ලබන්න නම් පහනක් තියන්න ඕන කියල කියන්න පුළුවන්. මෙහෙම එක එක විදියට දෘෂ්ටිගත වෙන්නෙ නැතුව පහනක් තියල වීතරාගී, වීතදෝෂී, වීතමෝහී උතුමන්ගෙ ගුණ සිහි කරල, නිවන අරමුණු කරගෙන වැඳුම් පිදුම් කටයුතු කරන්න බෞද්ධයො විදියට පුරුදු පුහුණු වෙන්න ඕන. ඒ නිසා අලෝභ, අද්වේශ, අමෝහ මාර්ගය තේරුම් අරගෙන ලෝභක්ෂය, ද්වේෂක්ෂය, මෝහක්ෂය කියන ආර්ය මාර්ගයත් තේරුම් අරගෙන, ඒ මාර්ගය මුදුන් මල් කඩක් කරගෙන, අග්‍ර ශ්‍රේෂ්ඨ ස්ථානය එතැනට දීල, ඒ සඳහා පසුතලය හැදෙන විදිහට කටයුතු කර ගන්න පුරුදු වෙන්න ඕන.

*වැහැරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ප්‍රසාද් ද සිල්වා**
**පරිපාලන නිලධාරී**
**ශ්‍රී ලංකා පරිගණක හදිසි ප්‍රතිචාර සංසදය**

**අභයරතනාලංකාරය - 32**

# නවීන විද්‍යාවට හසු නොවන විශ්වයේ අද්භූත සිදුවීම්...

*(පසුගිය කලාපයෙන් - මනුස්ස වේසයෙන් පෙනී සිටින අමනුස්සයින් ...........)*



**- වහරක අභයරතනාලංකාර හිමි**

විවිධ දේවතා, අමනුස්ස ආදී කොටස් ඒ අයගෙ කය සනීභවනය කරගෙන නොයෙක් ආකාරයෙන් පෙනී හිටපු අවස්ථා හේතු ඵල සහිතව පසුගිය කලාපවල පළවෙච්ච ලිපි කිහිපයකින්ම හෙළිදරව් කළා. ඒ වගේම ජන සමාජයේ අනාදිමත් කාලයක පටන් මේ සම්බන්ධයෙන් විවිධ කතා අහන්න ලැබෙනවා. සිරීපාදෙ වන්දනා කරන්න යන කොට වාරු නැති වෙච්ච අයට මිනිස් වෙසින් ඇවිත් අද්භූත බලවේග උදව් කරල ගියපු අවස්ථා වගේම, තවත් සමහර පූජනීය ස්ථානවලත් මනුස්ස වෙසින් පෙනී හිටපු නොයෙක් අද්භූත බලවේග ගැන වාර්තා වෙලා තියෙනවා. ලංකාවෙ විතරක් නෙවෙයි පිටරටවල පවා ඒ වගේ සිද්ධි දැන ගන්න ලැබිල තියෙනවා. නමුත් ඒවායේ විද්‍යාත්මක පසුබිම නවීන විද්‍යාවටත් පැහැදිලි කරගන්න නොහැකිවීම නිසා ඒ සම්බන්ධයෙන් ලොකු කතිකාවක් සමාජයේ ඇති වෙලා නෑ. මේ වගේ අවස්ථාවල සමහර විට එක් එක් කෙනාගෙ විවිධ මානසිකත්වයන් නිසා විකාර පේනවයි කියල සමහර මනෝ විශ්ලේෂකයින් විසින් ප්‍රකාශ කරපු අවස්ථාත් තියෙනවා. ධර්මානුකූලව මේ වගේ දේවල් සිද්ධ වෙන විදිය ඒ අයට පැහැදිලි කරන්න බැරි වුනාම, තමන්ගෙ උගත්කම රැක ගන්න ඔය වගේ මොනව හරි දේවල් කියනවා. නමුත් හුදෙක් භෞතික රාමුවක් තුළ හිරවෙලා ඉන්නෙ නැතිව මේ පිළිබඳව ධර්මානුකූලව කරුණු කාරණා හොයල බලන කොට, අනාදිමත් කාලයක පටන් මේ අද්භූත සිදුවීම් සිද්ධ වෙලා තියෙනව වගේම, ඒ සිද්ධ වෙන දේවල් ධර්මානුකූලව පැහැදිලි කරන්නත් පුළුවන්කම තියෙනවා.

සංයුක්ත නිකායේ 5 (2) 306 පිටුවේ එන චින්තා සූත්‍රයේ මේ පිළිබඳ වැදගත් සාක්ෂියක් තියෙනවා. හෙළ බොදු පියුම 3 වන කලාපයේ අභයරතනාලංකාරය යටතේ පළ වූ ''භෞතික ලෝකයෙන් ඔබ්බට ගිය ගුප්ත ලොව අත්දැකීම්වලින් බිඳක්'' නම් ලිපිය තුළින් ඒ පිළිබඳව විග්‍රහයක් දැනටමත් ඉදිරිපත් කරල තියෙනවා. ඒ අනුව කෙටියෙන් කියනව නම් මේ ලෝකෙ විවිධයි, විසමයි, අචින්ත්‍යයි. ලෝක විෂය අචින්ත්‍ය නිසා නොදන්න දේවල් ගැන නිගමන දෙන්න යන්න එපා කියන එක තමයි ඒකෙන් කෙටියෙන් කියන්නෙ. ඒ කාරණය අද ඉන්න අයටත් හරි වැදගත්. දැන් මේ හෙළිදරව් කරන්න යන්නෙ වහරක අභයරතනාලංකාර හිමියන්ට එදා මෙදා තුර අහන්න දකින්න ලැබිච්ච ඒ වගේ සිදුවීම් කිහිපයක් විතරයි.

මේ සිද්ධිය මීට අවුරුදු 40 කට විතර ඉස්සර සිද්ධ වෙච්ච දෙයක්. ඒ සිද්ධියට මුහුණ පාපු දෙන්නෙක්ගෙන් එක් කෙනෙක් තමයි මේ කතාව මාත් එක්ක කිව්වෙ. ඒ දෙන්න තමන්ගෙ ගම් පළාතෙ ඉඳන් එක්තරා දවසක කතරගම ගිහින් තිබුනෙ, අතරමග වෙහෙස මහන්සිය නිවාගන්න වාඩියක නැවතිලා ඉඳල. ඉතින් නැවත ගම් බිම් බලා එන කොටත් අතරමග ඒ වාඩියේම නැවතිලා යන්න බලාපොරොත්තුවෙන් තමයි බඩුමුට්ටුත් අරගෙන ඇවිත් තියෙන්නෙ. මොකද ඒ කාලෙ අද වගේ එක දවසින් ගිහින් එන්න තරම් පහසුකම් ඈත පළාත්වල අයට තිබුනෙ නෑ. ඉතින් ගමනට දවස් 2 - 3 ක් විතර ගත වෙනවා. ඔහොම ගිහින් එනකොට රෑ බෝවෙච්ච නිසා මේ දෙන්න අර නැවතිලා හිටපු වාඩියට යන්න බස් එකක් එනකල් බලාගෙන හිටියා. දැන් ඉතින් හැතැප්ම ගණනක් ඈතට යන්න තියෙනවා. ඒ පාරෙ බස් එකක් යන්නෙත් බොහොම කලාතුරකින්. බස් එකක් බලාගෙන ඉඳල එදා තිබුනෙ නැති නිසා හුඟ දෙනෙක් පයින්ම යන්න ගියා. දැන් ඉතින් මේ දෙන්නට පයින් යන්න හරි බයයි. මොකද කලින් එහෙම ගිහිල්ලත් නෑ, අතේ බඩු මුට්ටුත් තියෙනවා, ඒ පැත්තෙ කවුරු ඉන්නවද දන්නෙත් නෑ, මංකොල්ලකයිද ... ආදී වශයෙන් හිතල මේ අය යන්න බය වුණා.

ඔහොම බයේ ඉන්න කොට තවත් කෙනෙක් එතන හිටියා. ඒ මනුස්සයා මේ අයගෙන් ඇහුවලු, ඔයගොල්ලො කොහාටද යන්නෙ කියල. අපි අහවල් ගමට යනව කිව්වම, මාත් ඒ පැත්තට තමයි යන්නෙ එහෙනම් අපි යමු කියල දැන් මේ තුන් දෙනත් එක්කම පයින් යන්න ලෑස්ති වුනාලු. ඊට පස්සෙ අර දෙන්නගෙ අතේ තිබිච්ච බඩු මල්ලෙන් කොණකුත් අල්ල ගත්තලු, දෙන්න මාත් ඔයගොල්ලන්ට උදව්වක් කරන්නම් කියල. දැන් බඩු මල්ලකුත් එක පැත්තකින් අල්ල ගෙන අමුත්තත් එක්ක එක් කෙනෙක් ඉස්සරහින් යනවා. ඊට පිටිපස්සෙන් අනිත් කෙනා තව බඩු වගයකුත් අරගෙන යනවා. මෙහෙම යන කොට හොඳට හඳ එළියත් වැටිල තිබුණලු. දැන් අර පිටිපස්සෙන් ගිය කෙනාට ඉස්සරහින් යන දෙන්නගෙන් එක් කෙනෙක්ගෙ හෙවණැල්ලක් විතරලු පේන්නෙ. අර අමුත්තගෙ හෙවණැල්ල පේන්නෙ නැතිලු. නමුත් අර අමුත්ත තමන්ගෙ යාළුවත් එක්කම බඩු මල්ලත් අතින් අරගෙන යනව පේනවා. ඉතින් පිටිපස්සෙන් යන කෙනාට බය හිතිල, ඇඟ හිරිවැටිල වෙව්ලල ගියාලු, මේ පුද්ගලයා මනුස්සයෙක් නම් වෙන්න බෑ කියල. මොකද ඔහු කලින් අහල තිබුණා, අමනුස්සයින් පේන්න හිටියට හෙවණැල්ලක් පේන්නෙ නෑ කියල. ඒක විශේෂ දෙයක්. නමුත් ඉතින් කර ගන්න දෙයක් නැතිකමට සද්ද නැතුව ගිහින් තියෙනවා.

ඔහොම ගිහින් ඒගොල්ලො නැවතිලා ඉන්න තැනට ළං වුනාම, එහෙනම් ඔයගොල්ලො යන්න මං මෙතනින් යනව කියල ඒ අමුත්ත යන්න ගියාලු. ඔහු ගියාට පස්සෙ, දැන් තමයි ඇඟට ලේ ඉනුවෙ කියල අර පිටිපස්සෙන් ගිය කෙනා කිව්වලු. දැන් ඉතින් මේ ☞

දෙන්නම මේ ගැන කතා වෙනවලු. ඔය අපිත් එක්ක ආවෙ කවුරු කියලද හිතන්නෙ, වෙනසක් දැනුනෙ නැද්ද කියල අර පිටිපස්සෙන් ගියපු කෙනා අනෙකාගෙන් ඇහුවලු. මටත් ප්‍රශ්නයක් මතු වුනා, මමත් බය වෙලා ඇඟ හිරිවැටිල හිටියෙ කියල ඒ පුද්ගලයත් කිව්වලු. ඒ මොකද කියල ඇහුවම, එයාට හෙවණැල්ලක් තිබුනෙ නැනෙ කියල ඒ පුද්ගලයත් කිව්වලු. එතකොට මේ දෙන්නම දැනගෙන ඉඳල තියෙනවා ඒ පුද්ගලයාට හෙවණැල්ලක් තිබුණෙ නෑ කියන කාරණයත්, කවුරු හරි මනුස්සයෙක් නම් වෙන්න බෑ කියන කාරණයත්.

දැන් මේ සනීභවන කයකින් මනුස්ස වේසයෙන් ඇවිත් තියෙන්නෙ කවුරු හරි දේවතාවෙක්. එහෙම ඇවිත් උදව් කරල ඒ පුද්ගලයා අතුරුදන් වුණා. මෙතන තියෙන විශේෂත්වය තමයි, ඒ අයට උදව්වක් විදියට අර බඩු මල්ලෙන් පැත්තකුත් උස්සගෙන ගිහින් තියෙනවා. දේවතා කියන වචනයෙන් පෙන්වන්නෙ යම්කිසි ආකාරයක ආවතේව ආදී කටයුතු කරල උදව් උපකාර කරල දෙනවා කියන අදහස. සාමාන්‍යයෙන් මේ විදියට වෙස් අරගෙන ඇවිත් මනුස්සයින්ට උදව් උපකාර කරන්නෙ බොහෝ කොටම චාතුර්මහා රාජික දේව ලෝකයේ ඉන්න උදවිය. මේ වගේ අවස්ථා අනාදිමත් කාලයක පටන් සිද්ධ වෙනවා. ඒ වගේ අදත් එහෙම උදව් උපකාර කරල යන අවස්ථා තියෙන්න පුළුවන්.

දැන් මේකට ත්‍රිපිටකයේ හොඳ සාක්ෂියක් තියෙනවා. බුදුන් වහන්සේට ලේ පොකුරු ගැසීමේ රෝගය හැදිච්ච වෙලාවෙ සක්‍ර දෙවියෝ මිනිස් වෙසක් මවාගෙන ඇවිත් උන්වහන්සේගෙ ඒ අසනීපය නිසා පිටවෙච්ච අපද්‍රව්‍ය භාජනවල දාගෙන හිස් මුදුනෙ තියාගෙන අදිනකොට, ඒක දැකපු භික්ෂූන්වහන්සේලා පුදුම වෙලා අහනවා, මෙච්චර මේ ලස්සන හැඩ වැඩ තරුණයෙක් කිසිම අප්‍රියතාවයක් හඟවන්නෙ නැතිව මේ අපද්‍රව්‍ය හිස් මුදුනෙ තියාගෙන යන්නෙ කොහොමද කියල. එතකොට බුදුන් වහන්සේ කියනව, මහණෙනි, ඔය තරුණයෙක් නෙවෙයි, සක්‍ර දෙවියො කළ ගුණ සලකනව කියල. මොකද සක්‍ර දෙවියො ඒ අත්බවයෙන් චුත වෙලා දුගතියට යන්න හිටියෙ. නමුත් බුදුන් වහන්සේ නිසා නැවතත් සුගතියේ සක්‍ර දෙවියො වෙලා ඉපදෙන්න පුළුවන් වුනා. ඒ කළ ගුණය තමයි අරවිදිහට සැලකුවෙ. එතකොට ඒ කාරණයෙන් පැහැදිලිව පේනවා, එදා සක්‍ර දෙවියන්ටත් පුළුවන්කම තිබිල තියෙනවා, සාමාන්‍ය අයට අඳුනගන්න බැරිවෙන්න මිනිස් වෙස් මවාගෙන ඇවිත් යම් යම් ද්‍රව්‍ය වස්තු උස්සගෙන යන්න.

මේ වගේ අවස්ථාවලදී යම්කිසි පුද්ගලයෙක් ගත්තම, කෙනෙක්ගෙ ඡායාවක් වැටෙන්නෙ මස් ලේ කයක් තිබුණොත් විතරයි. නමුත් අර ගුප්ත ලෝකයේ කෙනෙක් නිසා සනීභවන වෙලා කය පෙනුනට මවල දෙන කයක් නිසා හෙවණැල්ලක් වැටෙන්නෙ නෑ. ඒ කියන්නෙ භෞතිකව පෙනුනත් කිරණමය කාන්දම් කයක් ඒ අයට තියෙන්නෙ. රූපය පෙනුනට හෙවණැල්ල නෑ. මොකද ඒ තුලින් ආලෝකය හොඳට විනිවිඳ යනවා. උදාහරණ විදියට සුද්ධ වීදුරුවක් අපේ ඇස් දෙකට පෙනුනත්, අතින් ඇල්ලුවම දැනුනත් ඒකෙ හෙවණැල්ලක් නෑ. මොකද ඒ තුලින් ආලෝකය සම්පූර්ණයෙන් විනිවිඳ යනවා. යම්කිසි වස්තුවක ආලෝකය වැදිල



පරාවර්ථනයක් වුනොත් විතරයි හෙවණැල්ලක් පේන්නෙ. හෙවණැල්ලක් නැති කෙනෙක් ඉන්නව නම් ඒ මවා ගත්තු රූපයකින් ඉන්න කෙනෙක් කියල ඉස්සර ඉඳන් එන කතාවක් ජන සමාජයේ තියෙනවා. නමුත් යම්කිසි මහ අභිඥා බල තියෙන ඍෂිවරයෙක් හෝ රහතන් වහන්සේ නමක් අධිෂ්ඨාන කරල තමන්ගෙ මවාගත්තු රූපයක හෙවණැල්ල වුනත් පේන්න සලස්වන්න පුළුවන්. ඒක යම්කිසි අධිෂ්ඨානයකින් කරන්න පුළුවන් දෙයක්. මොකද සමහර අභිඥාලාභී රහතන් වහන්සේලා වැල්ලෙ සක්මන් කළත් අඩි හිටින්නෙ නැති අවස්ථා තියෙනවා. ඒක ඉතින් උන් වහන්සේලාගෙ අභිඥා ශක්තිය අනුව සිද්ධ වෙන දෙයක්. මොකද සත්ව කරුණාව නිසා තමන්ට හැකියාවක් තියෙනව නම්, අධිෂ්ඨාන කරල සතෙක්වත් පොඩි නොවෙන්න අඩිය තියන්න පුළුවන්. එතකොට පොළවට තද නොවී යන්න පුළුවන්. සමහර විට එහෙම බලයක් තියෙන කෙනෙක් නම්, ඒක මිනිස්සුන්ටවත් නොපෙනෙන්න, පොළවටත් නොදැනෙන්න කරන්න පුළුවන්.

කොයි ආකාරයකින් හරි ශරීරයේ පරිවර්තනයක් කර ගන්න පුළුවන් වුනොත් එහෙම හෙවණැල්ලක්, අඩි පාරක් නැතිව යන්නත් පුළුවන්. මොකද එතකොට මිනිස්සුන්ට පේන ආකාරය වෙන එකක්. ඒ ශරීරයේ පරමාණු වෙනස් වෙලා චිත්ත බලයත් එක්ක සම්බන්ධ වුනාම ශරීරයේ ස්වභාවය වෙනස් වෙන්න පුළුවන්. එහෙම නැත්නම් කවදාවත් අභිඥාලාභියෙකුට සතෙක්ගෙ වෙස් ගන්න බෑ, ලොකු වෙන කොට පුංචි ළමයෙක්ගෙ වෙස් ගන්න බෑ, බඩු මුට්ටු අතුරුදන් කරන්න බෑ. ඒකට යම්කිසි හැකියාවක් තියෙන්න ඕන. පරමාණුක වශයෙන් ඒවායේ තියෙන අංශු වෙනස් කරන්න හෝ ඇත් කරන්න හෝ නොපෙනෙන්න සලස්වන්න වගේ දේවල් කරන්න පුළුවන්. මානසිකත්වයත් එක්කම ස්වභාවයෙන්ම එහෙම කායිකත්වයේ වෙනසක්, පරිවර්තනයක් වෙන්න පුළුවන්. මුල් කාලෙ දෙව්දත් තෙරටත් ඔය වගේ හැකියාවන් තිබුණා. නයි වෙස් ගන්න, පුංචි ළමයෙක්ගෙ වෙස් ගන්න පුළුවන් වුණා. බුදුන් වහන්සේට විරුද්ධව අජාසත් රජතුමා පොළඹවා ගත්තෙත් පුංචි ළමයෙක්ගෙ වෙස් අරගෙන ඇවිත් ඇගේ දවටිලා. ඒ වගේම සම්පූර්ණ ශරීරයම අතුරුදන් කරල එන්නත් පුළුවන්. එතකොට මස් ලේ කයක් වුනත් සම්පූර්ණයෙන්ම වෙනස් කරන්න හැකියාවක් තියෙන බව ඒ වගේ කාරණාවලින් ඔප්පු වෙනවා. මේ වගේ මහ පුදුම සිද්ධි අදත් වෙන්න පුළුවන්. නමුත් තෝර ගන්න බැරි එකයි ගැටළුව.

ඔය වගේ තවත් සිද්ධියක් ඒ කාලෙ අපේ ගම් පළාතෙ කෙනෙකුට සිද්ධ වෙලා තිබුණා. ඒ මනුස්සය රෑ වෙලාවක තමන්ගෙ වාහනය පදවගෙන එන කොට එක්තරා පාළු තැනකදි ගැහැණු කෙනෙක් ළමයෙක් වඩාගෙන වාහනයට අත දාල තිබුණා. මේ මනුස්සය හොඳටම බය වෙලා වාහනය හයියෙන්ම පාගගෙන යන කොට, වාහනයේ ඇතුල් කණ්ණාඩියෙන් පේනවලු, පිටිපස්සෙ ආසනයෙ අර ගැහැණු කෙනා ළමයත් එක්ක වාඩිවෙලා ඉන්නවා. මනුස්සය හොඳටම බය වෙලා වාහනය අධි වේගයෙන් පාගල ගෙදරට ගියා. දැන් මනුස්සය හිතන් ඉන්නෙ ගෙදර ගිහින් වාහනය ගරාජයේ නැවැත්තුව කියල. යන්තම් ඇති බේරුණා කියල මහන්සියටම ඒ මනුස්සය සුක්කානමේ ඔළුව ගහගෙන හිටියලු. පස්සෙ තමයි මනුස්සයට නිච්චි ආවෙ මේ ඉන්නෙ ගෙදර නෙවෙයි කියල. මොකද එක පාරටම මනුස්සයගෙ කකුල තෙමෙන්න අරගෙන බලන කොට වාහනය තිබිල තියෙන්නෙ එතන තිබ්බිච්ච ඇලක. වාහනය ඇතුලටත් වතුර ඇවිත්.

බලන කොට ගෙදර නෙවෙයි ඇවිත් තියෙන්නෙ, අර ආපු වේගෙට කෙලින්ම එතන ඇලක් ළඟ තිබ්බ්ච ගල් බැම්මක් කඩාගෙන ඒක උඩින්ම එතන තිබ්බ්ච උණ පඳුරක් උඩට පාත් වෙලා, උණ පඳුරත් තලාගෙනම වාහනය ඇවිත් ඇලේ නතර වෙලා. පුදුමෙ කියන්නෙ වාහනය පෙරලිලත් නෑ. නමුත් අර ගල් බැම්මත් කැඩිල පහළට වැටිලා. වාහනය උඩින් ගිහින් උණ පඳුරත් පහත් කරගෙන තිරිංග තද කළා වගේ වේගය බාල වෙලා. ඒ නිසා මනුස්සය හිතන් ඉඳල තියෙන්නෙ ගෙදර ගිහින් වාහනය ගරාජයේ නැවැත්තුව කියල. ටිකක් වෙලා යන කොට ගමේ පිරිස මොකක්ද වෙලා තියෙන්නෙ කියල බලන කොට, ඒ සද්දෙ ඇහිල තමයි මනුස්සයට නිච්චි ඇවිත් තියෙන්නෙ. වාහනයට මුකුත් ලොකු හානියක් වෙලත් නෑ. ඊට පස්සෙ ඒ මනුස්සය කාලයක් යන කල් බයට වාහන පැදෙව්වෙත් නෑ.

අමනුස්ස කතාවක් නොවුනත් දැන් මේ කියන්න යන්නෙ මට අහන්න ලැබිච්ච ඒ වගේ තවත් අද්භූත සිදු වීමක්. මේ සිද්ධියට මුහුණ දීපු ඒ ප්‍රදේශයේ හිටපු කෙනෙක් තමයි මේ කාරණය මාත් එක්ක කිව්වෙ. දැන් ඒ අය ජීවතුන් අතර ඉන්නවද දන්නෙත් නෑ. ඒ කාලෙත් වයසයි. මොකද මේක මීට අවුරුදු 40 කට විතර ඉස්සර ලංකාවෙ එක්තරා පුරාණ ප්‍රදේශයක වෙච්ච සිදු වීමක්. ඒ ප්‍රදේශයේ කැලෑවක එක්තරා බුද්ධ ප්‍රතිමාවක් තිබිල තියෙනවා. හැබැයි ඒ ප්‍රතිමා වහන්සේ ඈතට පෙනුනට ළඟට ගියාම දකින්න නෑ. ඒ බුද්ධ ප්‍රතිමාව පිහිටල තියෙන තැන ඇත් අඩිය යට මැණික් තියෙනව කියල ඒ ප්‍රදේශයේ පරම්පරාවෙන් ආපු කතාවක් තිබුණා.

ඒ කියන්නෙ හුඟක් ඉස්සර ඒ ප්‍රදේශයේ තිබ්බ්ච ගඟක් ගලාගෙන යද්දි විවිධ මැණික් වර්ග පෙරිල පෙරිල එක ගුලියකට පිහිටල අනික් වැලි බොරළු ආදී ගල් අහකට ගිහින් තියෙනවා. එහෙම තිබිල පස්සෙ ඕක වැහිල ගියා. ඒ කියන්නෙ ගංගාවක් ගලල කාලයක් යද්දි වෙනස් වෙනවා. ඒ තිබ්බ්ච මැණික් ටික තමයි ඔය විදියට එක පොදියකට ඇත් අඩියක් ප්‍රමාණයට පිහිටල තියෙන්නෙ. අන්න ඒක උඩ තමයි ඒ බුදු පිළිමය තියෙනවයි කියන්නෙ. ඇත් අඩියක මැණික් කියන්නෙ විශාල මැණික් ප්‍රමාණයක්. ඉතින් ඒක බලාගෙන ගිහින් ළඟට ගියපු කෙනෙකුට ඊළඟ සැරේ ඒ පිළිමෙ පේන්න නෑ. මුලින් හොඳට පැහැදිලිව පිළිමය බලන්න පුළුවන්. හැබැයි හැමෝටමත් නෙවෙයි. සමහර අයට පේන්නෙ නෑ. එක් එක්කෙනා ගිහින් තමයි බලන්න ඕන. එහෙම බලන් ඉන්න කොයි වෙලාවක හරි සම්පූර්ණ පිළිමයම හොඳට පේනවා. හැබැයි පිළිමෙ තිබිල, අනෙක් සැරේ වරෙන්කො යන්න පෙන්වන්න කියල තවත් කවුරු හරි එක්ක ගියොත් එහෙම පිළිමයක් ඒ පළාතෙවත් නෑ.

දැන් මේ සිද්ධිය නිසා ඒ ගමේ හිටපු එක මනුස්සයෙක් මොකද කළේ, ලොකු බැලුන් නූල් බෝල ගොඩක් අරගෙන ඔඩොක්කුවෙ දාගෙන කැරකි කැරකි සද්ද නැතුවම ඉඳල, මං ඕකට හොඳ වැඩක් කරන්නම් කියල, අර පිළිමෙ දිහාවට ගිහින් තියෙනවා. යන කොට පිළිමෙ තියෙනවා. ඉතින් මේ මනුස්සය ළඟට ගිහින් අත පත ගාල බලන කොට පිළිමෙම තමයි කියල සැක හැරල දැන ගත්තා. ඊළඟට අර ගෙනාපු නූල් බෝලයක් අරගෙන පිළිමෙ වටේටම ඔතල ඒක ඉවර වෙන කොට අනිත් කෙළවර ඇදගෙන ගිහින් තවත් නූල් බෝලෙකට ගැට ගහල, ඒකත් දිගටම ඇදගෙන ගිහින් ඉවර වෙන කොට තවත් නූල් බෝලයකට ගැට ගහල, ඔය විදියට දිගටම ගමට යන කල්ම මේ නූල් බෝලය ඇද ගෙන ගිහින් තියෙනවා. එහෙම ගිහින්, දැන් අල්ල ගත්තනෙ වරෙන් යන්න පෙන්වන්න කියල අර ගමේ හිටපු අනිත් පිරිසත් ඇදගෙන ඒ නූල අල්ලගෙනම ඒ ඉසව්වට ගියාලු පිළිමෙ පෙන්වන්න. ගිහින් බලන කොට නූල ගහක ගැටගහල තියෙනවලු. බුදු පිළිමෙ නෑ, ඒ වෙනුවට ගහක් වටේ නූල ඔතල තියෙනවලු. ඉතින් මම නිකං විහිළුවට කිව්ව, වැඩේ හරි එහෙනම් ගහ ගැලෙව්ව නම් ගහ යට මැණික් ටික තියෙනව කියල.

නමුත් ඔය කාලෙ වෙන කොට මොනව හරි රටේ කැරලි කෝලහල ඇති වෙලා තිබුන නිසා, ඒ අය ඒ කැලේ පැත්ත පලාතෙවත් යන්නෙ නැතිව ඒක දාල පැනල ගිහින් තියෙනවා. අදටත් ඒ ගම් පළාතෙ මිනිස්සු ඒ කතාව දන්නව ඇති. ඒ සිද්ධිය ඇස් දෙකෙන්ම දැකපු අයත් ඉඳල තියෙනවා. මැණික් තියෙන කතාවත් ඒ ගම් පළාතෙ එදා හිටපු පැරණි මිනිස්සු කියපු කතාවක්. නමුත් ඉතින් ඒක කාටවත් හොයාගන්න බැරි වෙලා තියෙනවා. මොකද ළඟට ගියාම වෙනස් වෙනවා. තිබ්බ්ච තැන ලකුණු කරල ගියත්, ගිහින් එනකොට පිළිමෙ නෑ, අතුරුදන් වෙලා. ඒ කියන්නෙ එතනදි මොනව හරි දෙයක් නිර්මාණය වෙනවා. සමහර විට ඒක දේවතාවන්ගෙ අධිෂ්ඨානයක් වගේ දෙයකින් සිද්ධ වුනා වෙන්නත් පුළුවන්.

ඔය වගේ ඒ කාලෙ මම බෝධි පූජා කරන කොටත් විශේෂ සිදුවීම් අත් දකින්න ලැබිල තියෙනවා. මම ඒ කාලෙ පොල්ගහවෙල ගිජිදාගම කියන ප්‍රදේශයේ නැවතිලා විශේෂ බෝධි පූජා කටයුතු සිද්ධ කරන කොට, ඊට පල්ලෙහා වත්තෙ තවත් බෝධියක් තිබුණා. ඒක හුඟක් පැරණි බෝධියක්. පාරම්පරිකව ආපු අයගෙන් ඇහුවම, අපේ සීයල ඉන්න කාලෙත් ඔය වත්ත මුර කරන කොට ඔය බෝධිය එහෙම්මම තිබුණයි කියල ඒ අය කියල තියෙනවා. ඒ කියන්නෙ ඒ බෝධිය ලොකු වෙන්නෙ නෑ. විශේෂ යමක් තිබුණ නිසා පස්සෙ මමත් ඕක යොමු කරල බලන කොට, වලගම්බා රජතුමාගෙ කාලෙ වගේ ඈත කාලයකට දිවෙන බෝධියක්. ඒක ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේටත් සම්බන්ධ බෝධි ශාඛාවක්. ඒ වගේ සම්බන්ධයක් උඩ කවුරු හරි ඒක ගෙනත් ඔය ස්ථානයේ තිව්වම නැවත ගෙනියන්න බැරි වෙලා තියෙනවා. ඊට පස්සෙ එතනම මුල් ඇද්ද කියල තමයි යොමු කරල බලන කොට වැටහුණේ. ඒක අවුරුදු 1000 කටත් වඩා පැරණි බෝධියක්.

අපි එතන බෝධි පූජාවක් තිව්වා. ඒ බෝධි පූජාව දවසෙ බොහෝ දෙනෙක් දැකල තිබුණු දෙයක් තමයි, එතන තිබ්බ්ච බෝධි කඳ වෙනුවට තනිකරම බුදුන් වහන්සේ වැඩ ඉන්න දර්ශනය. ඒක දැකපු අය අදටත් ඉන්නවා. එදා ඒ අවස්ථාවට සහභාගි වෙලා හිටපු උපාසිකාවක් ඒ ගහ දිහා බලාගෙන අඬන කොට, ඒක දැකපු තවත් මහත්මයෙක් අහල තියෙනවා, ඇයි නෝන මහත්තය අඬන්නෙ කියල. අර බලන්නකො කියල බෝධීන් වහන්සේ දිහාවට අත දික් කළාම, ඒ මහත්තයටත් පුදුම හිතිල ඇඟ හිරිවැටිල ගියාලු. බෝධි කඳෙන් තනිකරම බුදුන් වහන්සේගෙ රූපය මැවිල. ඒක දැකල හරිම පුදුම හිතුනලු. ඒ වගේ අද්භූත දේවල් අදටත් සමහර තැන්වල සිද්ධ වෙනවා. විශේෂයෙන් සමන් අඩවියේ පිහිටල තියෙන සිරි පතුල ආශ්‍රිතවත් ඔය වගේ විශ්මයජනක දේවල් සිද්ධ වෙලා තියෙනවා. ඒ වගේ දේවල් දැකපු අයත් ඉන්නවා.

**ඉතින් මේ වගේ දේවල් භෞතික විද්‍යාවෙන් ඔප්පු කරන්න බැරි වුනාට ඒක මානසික රෝගීතාවයක්, එක එක්කෙනාගෙ දෘෂ්ටිවල හැටි ... ආදී වශයෙන් නිගමන දෙන්න කාටවත් පුළුවන්කමක් නෑ. මොකද නවීන විද්‍යාවට අංශු මාත්‍රයක්වත් අහු නොවෙච්ච, ඒ වගේම අහුවෙලා ඔප්පු කරගන්නත් බැරි වෙච්ච අතිශය ගුප්ත සිදුවීම් මේ විශ්වයේ අනන්තවත් තියෙනවා. ඒ නිසා ලෝක විෂය අචින්ත්‍යයි, සර්වඥගෝචරයි කියන කාරණය වටහා ගෙන කටයුතු කරනව මිසක්, තමන් නොදන්න දේවල්වලට නිගමන දෙන්න යන්න හොඳ නෑ. මොකද එහෙම වුනොත් තමන් දන්නෙම නැතුව දෘෂ්ටිගත වෙලා, දුගතිගාමී වෙන්නත් පුළුවන්.**

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# කෘත යුගය ආරම්භයත් සමග ස්වයංජාත ඇල් ප්‍රභේදයක් යළි පහළ වෙයි...

මිහිතලය මත මුලින්ම පහළ වූ බ්‍රහ්ම කල්පික මනුස්සයින්ගෙ පුණ්‍ය ශක්තියට, ඔවුන්ට අවශ්‍ය ආහාර හටගත් ආකාරය බුද්ධ දේශනාවේ සඳහන් වෙනවා. ප්‍රීතිය ආහාර කරගෙන මුලින්ම ජීවත් වෙච්ච ඔවුන්ට කාලයක් යන කොට රස පොළවත්, රස පොළව අතුරුදන් වෙලා භූමි පටක නමින් හතු වගේ දෙයකුත්, ඊළඟට බදාලතා නම් වැල් විශේෂයකුත් පහළ වෙලා, එතනින් පස්සෙ ස්වයංජාත ඇල් හටගෙන තියෙනවා. මේ බව පසුගිය කලාපයේ පළ වූ ''දානය සහ අත හැරීම'' කියන ලිපියෙන් පැහැදිලි කළා.

මෙතනදි ස්වයංජාත ඇල් කිව්වෙ ඒ ආහාරයේ නම නෙවෙයි. ඇල් කිව්වෙ හාල්වලට. ඒ ශාකය ස්ව ශක්තියෙන් නැගී එන නිසා ඒකට ස්වයංජාත කියල කියනවා. වෙනත් බාහිර බීජයකින් හෝ ශාකයකින් හෝ හට නොගෙන මුලින්ම පොළවෙ යම්කිසි රසායනික සංයුතියක් නිර්මාණය වෙනවා. ඒකෙන් තමයි ස්වයංජාත කියන අවස්ථාව මුලට එන්නෙ. එතැන් පටන් කාලයක් යන කල් මනුස්සයින්ගෙ තිබ්බ්ච්ච පිරිසිදු බව, දස අකුසලයෙන් තොර වූ බව නිසාම ඒ ස්වයංජාතවලට බාහිරින් හානියක් වුනෙත් නෑ, බාහිරින් පොහොර වගේ දෙයක කිසිම අවශ්‍යතාවයක් තිබුණෙත් නෑ. ඒ වගේම ඒ කාලෙ කෘමීන් පහළ වෙලා හිටියෙ නැති නිසා කෘමි හානි තිබුනෙත් නෑ. ස්වභාවිකව සීග්‍රයෙන් වැඩිල හැදිල ආවා. ඒ තමයි ස්වයංජාතවල මුල. එතකොට තමන්ම ජනිත වුණා කියන එක තමයි ඒකෙන් අදහස් කරන්නෙ. එදා හිටපු **මනුස්සයින්ගෙ සුද්ධතාවය නිසාම තමයි බාහිර උවදුරු නැති වුනෙත්, පොළවෙ රස ධාතුව තිබුණෙත්. ඒ නිසාම තමයි ආරම්භයේදි කිසිම සාත්තුවක් බාහිරින් දෙන්න අවශ්‍ය නොවුනෙ.** සත්වයින් සංසේදජව බිහි වෙනව වගේ තමයි ගස් කොළං පවා මුලින්ම ස්වයංජාතව නිර්මාණය වෙලා එන්නෙ. මේ කියන ස්වයංජාත ඇල් විතරක් නෙවෙයි, මේ හැම ගහක් කොළක්මත් මුලින්ම හට ගන්නෙ ස්වයංජාතව. නමුත් මනුස්සයින්ට සහල් ආහාරයක් වශයෙන් විශේෂ වෙච්ච නිසා, විශේෂයෙන් කැපී පෙනිච්ච නිසා ඒකට ස්වයංජාත කියන නම දිගටම භාවිතා කළා. ඒ වගේම මේ ශාකය වැවෙන්නෙ සී සාල සකස් කරපු පොළවක නෙවෙයි. වියලි පොළව මත සාමාන්‍ය තෙතමනය මේ ශාකයට හොඳටම ප්‍රමාණවත්.

ලෝක සත්ත්වයාට පොදුවේ ආහාර වශයෙන් බුක්ති විඳින්න ස්වයංජාතව ලැබුණු ඇල් සහල්, එක් සත්ත්ව කොටසක් තණ්හාවෙන් රැස් කර ගන්න පටන් ගැනීම නිසා පසු කාලෙකදි ස්වයංජාත ඇල්වල ශක්තිය බාල වෙලා ඒ



වෙනුවට සී සාල පොළව සකස් කරගෙන බාහිරින් ජලය හා පොහොර ලබාගෙන, මහන්සියෙන් වීර්යෙන් ගොවිතැන් කරල තමන්ගෙ ආහාර සපයා ගන්න මිනිස්සුන්ට සිද්ධ වුණා. ඒක මනුස්සයින්ගෙ දස අකුසලයත් එක්කම සිද්ධ වෙච්ච දෙයක්. දස අකුසලය නිසා සිදු වෙච්ච පිරිහීම කාලයක් යනකොට තිබුණා. තවත් සෑහෙන කාලයක් ගත වුනාට පස්සෙ එහෙම ලැබෙන අස්වැන්න මදි වෙනකොට, ගොවිතැන් වැඩි දියුණු කරන්න වැව් අමුණු බැඳල ජලය සපයා දෙන්න රජවරුන්ට සිද්ධ වුණා. ඊට පස්සෙ මේ මෑත කාලය වෙන කොට කෘමි නාශක, වල් නාශක ආදිය පාවිච්චිය නිසා ඇති වෙච්ච දූෂ්‍යතාවයෙන් හදිසි විපර්යාස රැසක් ඇති වෙන්නත් හේතු වුණා.

මේ ආකාරයට පෙර මුතුන් මිත්තන්ගෙන් පැවත ගෙන ආ චාරිත්‍ර වාරිත්‍ර ඉටු කරමින් සාම්ප්‍රදායිකව කරගෙන ආපු ගොවිතැන්වල අස්වැන්න වැඩිකර ගැනීමේ තණ්හාවෙන් ඒවාට රසායනික පොහොර හා වල් නාශක, කෘමි නාශක ආදිය එකතු කිරීමේ ප්‍රතිඵලයක් විදියට ආහාරවල රසය හා පෝෂණය හීන වෙලා ගිහින්, ඒ කරපු අවැඩට අසාධාරණයට වන්දි ගෙවන්න සිද්ධ වෙන ආකාරයට තමයි දැන් ඵලය සකස් වෙලා තියෙන්නෙ. ඒ නිසා දියවැඩියාව, හදවත් රෝග ආදී ලෙඩ රෝග රැසකට මනුස්සයින්ට අද මුහුණ දෙන්න සිද්ධ වෙලා තියෙනවා. ඒ වගේම වී ගොවිතැනට යන අධික වියදමත්, ජලය සහ ශ්‍රමිකයන්ගේ හිඟ කමත් අද ගොවිතැනට බලවත් තර්ජනයක් වෙලා.

වී ගොවිතැන මේ වගේ ඉරණමකට මුහුණ දීල තියෙන අවස්ථාවක, ස්වයංජාත ඇල් ප්‍රභේදයක් යලි පහළ වීම මනුස්සයින්ගෙ මහා වාසනාවක්. ලෝක සත්ත්වයින්ගෙ අවැඩ අසාධාරණකම් නිසා යටපත් වෙලා තිබ්බ්ච්ච ස්වයංජාත ඇල්, නැවතත් පහළ වෙන බව මීට වසර කිහිපයකට පෙර වහරක අභයරත-නාලංකාර හිමියන් සමාධියෙන් දැකල ප්‍රකාශ කරල තිබුණා. උන්වහන්සේ සමාධියෙන් දැකල කියපු ඒ කාරණය අද සත්‍යයක් බවට පත්වීම විශේෂයක්.

අනුරාධපුර දිස්ත්‍රික්කයේ තන්තිරිමලේ ප්‍රදේශයේ කෘෂිකාර්මික පර්යේෂණ කටයුතුවල යෙදිල හිටපු සබරගමුව විශ්වවිද්‍යාලයේ පර්යේෂණ කණ්ඩායමකට, ඒ ප්‍රදේශයේ කාන්තාවකගෙන් එක්තරා ස්වයංජාත ඇල් ප්‍රභේදයක් ලැබුණු ආකාරයත්, ඒවා වගා කරල අස්වැන්න ලබාගත් ආකාරයත් පැහැදිලි කරල තියෙනවා. මේ පිළිබඳ යම් යම් විස්තර පසුගිය දවස්වල පුවත්පත්වලත් පළවෙලා තිබුණා. ඒ ස්වයංජාත ඇල් සහ එහි අස්වැන්න පිළිබඳව අවධානය යොමු කළ අභයරතනාලංකාර හිමියන්, ඒවා ස්වයංජාත ඇල් ප්‍රභේදයක් බව හඳුනාගෙන ඒ සම්බන්ධයෙන් ධර්මානුකූල විග්‍රහයකුත් කරල තියෙනවා. දැනට සබරගමු විශ්ව විද්‍යාලය සහ තවත්

කිහිප තැනක මේ ශාකය පර්යේෂණ මට්ටමින් වගා කරල තියෙනවා. මේ පිළිබඳව තම අත්දැකීම් විස්තර කරන විශ්වවිද්‍යාලයේ ආචාර්ය මහත්මයෙක්, මේ ශාකය සී සාල සකස් නොකර, වියලි පොළවක පැල කරල කිසිම පොහොරක් හෝ පලිබෝධ නාශක හෝ වල් නාශක හෝ යොදන්නෙ නැතිව සාර්ථක අස්වැන්නක් ලබාගත් බවත් පවසනවා. ඒ වගේම අද වී ගොවිතැනට බලපාල තියෙන තර්ජන නිසා ස්වයංජාත ඇල් ආරක්ෂා කරගෙන ව්‍යාප්ත කිරීමේ අවශ්‍යතාවයත් ඒ අය තේරුම් අරගෙන තිබීම බොහොම වැදගත් දෙයක්.

ස්වයංජාත ඇල් නැවත පහළ වීමේ පුණ්‍ය ශක්තිය උදා වූ ආකාරයත්, ඒවා ආරක්ෂා කරගෙන ව්‍යාප්ත කිරීමේ බාරදූර කාර්යත් අවබෝධ කර ගැනීමට පෙර, ස්වයංජාත ඇල් පහළ වීමේ අතීත කථාව දැන ගැනීමත් වැදගත්. ස්වයංජාත ඇල් මුලින්ම ලෝකෙට පහළ වූ ආකාරය පිළිබඳව පුරාණ කථාව බුදු පියාණන් වහන්සේ දේශනා කරන්න හේතු වුනේ, බ්‍රාහ්මණ වංශය අතහැර පැවිදි වෙච්ච වාසෙට්ඨ, භාරද්වාජ කියන ථේරුණුන්ට නිග්‍රහ කරපු බමුණන්ගෙ මානය බිඳින්න. (අග්ගඤ්ඤ සූත්‍රය, දීඝ නිකාය - 3) මේ පිළිබඳ සම්පූර්ණ විස්තරයක් පසුගිය කලාපයේ පළ වූ ''දානය සහ අත හැරීම'' කියන ලිපියෙන් ඉදිරිපත් කළා.

නව කල්පයක් ආරම්භ වෙලා ලෝකය නිර්මාණය වෙන කොට ආභස්සර බ්‍රහ්ම ලෝකයේ ඉන්න සත්ත්වයින්ගෙ ආයුෂ ක්‍රමයෙන් අඩුවෙලා ගිහින්, ඒ බ්‍රහ්ම ලෝකයෙන් චුත වෙලා, ප්‍රථම ධ්‍යාන තලයේ පහළ වෙලා, නැවතත් එතැනින් චුත වෙලා බ්‍රහ්මකල්පික මනුස්සයින් වශයෙන් උපදිනවා. එතැන් පටන් ඒ බ්‍රහ්ම කල්පික මනුස්සයින් ක්‍රමයෙන් දස අකුසලයට බර වෙලා පුණ්‍ය ශක්තිය පිරිහීමෙන් මේ දක්වා ආපු ගමන් මග පසුගිය කලාපයෙන් වගේම මීට පෙර අවස්ථා කිහිපයකදිම විග්‍රහ කළා. ඒ විදියට එදා ස්වයං ජාත ඇල් හට ගත්තු හැටිත්, රස පොළව අතුරුදන් වෙච්ච හැටිත් විස්තර කළා. ස්වයංජාත ඇල් හටගත් ආකාරය සහ එහි ස්වභාවය බුදු පියාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ මේ ආකාරයට.

''වාසෙට්ඨයෙනි, ඉක්බිත්තෙන් ඒ සතුනට බදාලතාව අතුරුදහන් වූ කල්හි, නොසෑ පොළවෙහි හටගෙන පැසෙන කුඩු නැති දහවෙයියා නැති සුවඳවත් සහල්ව ඵල කොට ඇති හැල් වෙසෙසක් පහළ විය. යම් සහලක් සවස් වෙහෙලෙයි සවස් බොජුනට ගෙනෙත්ද, පසු දින උදෑසන එය පැසුණේ යළිදු වැඩුනේ වෙයි. කපා නොගන්නා ලද තැනක් ව (නොඅඩුව පැනෙයි) වාසෙට්ඨයෙනි, එකල්හි ඒ සත්ත්වයෝ නොසාන ලද බිමෙහි හටගෙන පැසුණු හැල් සහල් පරිභෝග කරන්නා වූ එයම වළඳන්නා වූ එයම ආහාර කොටැත්තාහු ඉතා බොහෝ කලක් සිටියාහ. (අග්ගඤ්ඤ සූත්‍රය, දීඝ නිකාය 3, 150-151 පිටු)

ඒ විදියට පහළ වෙච්ච ස්වයං ජාත ඇල් තණ්හාවෙන් රැස් කරල තියාගෙන ආහාරයට ගන්න පටන් ගත්තම, කුඩුවලින් සහල් වසා ගත්ත කියල සඳහන් වෙනවා. ඒ බවත් පසුගිය කලාපයෙන් විග්‍රහ කළා.

''ඒ සත්ත්වයෝ යම් කලෙක හැල් රැස් කොට තබා පරිභෝග කරන්නට පටන් ගත්තුද එකල්හි කුඩුද සහල් වසා ගත්තේය. දහවෙයියාද සහල් වසා ගත්තේය. හැල් කපාගත් තැනද යලි නොවැඩුනේය. හැල් කපාගත් තැනද ඌනව පැනුණේය. හැල් හු පඳුරු පඳුරුවැ සිටියාහ. (යායට තිබිච්ච වගාව තුරන් වෙලා තැනින් තැන පඳුරු කිහිපයක් විදියට පිහිටියා)'' (අග්ගඤ්ඤ සූත්‍රය, 152-153 පිටු)



බ්‍රහ්ම කල්පික මනුස්සයින්ගෙ පුණ්‍ය ශක්තියට පහළ වෙච්ච ස්වයංජාත ඇල් වෙනස් වෙලා, යටපත් වෙලා යන්නෙ මේ ආකාරයට. සියලු ලෝක සත්ත්වයින්ට පොදුවේ ආහාර වශයෙන් බුක්ති විඳින්න ලැබුණු දේ, සංසාර පැවැත්ම තුළ සත්ත්වයින්ගෙ තණ්හාවත්, මානයත් හේතු කොටගෙන, තම තමන් විසින් තනියෙන් රැස් කර ගෙන ගොඩ ගහ ගන්න ගිහින් ස්වයංජාත ඇල් රස ගුණයෙන් හීන වෙලා යන්න පටන් ගත්තා. මේ නිසා මුල යහපත් වෙලා අග හිඟ වුණා. මනුස්සයින්ගෙ අගහිඟකම් වැඩි වුනේ මේ ආකාරයට. ගොවිතැන් කරන්න භූමිය අවශ්‍ය නිසා ඉඩකඩම් මැන මැන කොටු කරගන්න යෑමෙන්, පොදුවේ ලෝක සත්ත්වයින්ට බුක්ති විඳින්න ලැබුණු ඉඩකඩම් අනන්‍ය පිරිසකට අහිමි වීමෙන් තවත් අසාධාරණයක් සිදු කරගත්තා. සත්ත්ව ප්‍රජාව වැඩි වෙන කොට භූමි ප්‍රමාණය වැඩි වෙන්නෙ නැති නිසා, ඒ සීමිත භූමිය තුළ අස්වැන්න වැඩි කරගන්න වෙනත් උපක්‍රමයන් සොයන්න පටන් ගත්තා. මේ අනුව ගොවිතැනට බාහිරින් පොහොර සහ රසායනික වර්ගත්, කෙම් ක්‍රම ආදියත් යොදන්න සිද්ධ වුණා. සාම්ප්‍රදායික ගොවිතැන තුළින් ලැබෙන අස්වැන්න ප්‍රමාණවත් නොවීම නිසා නගුල වෙනුවට ට්‍රැක්ටර් ආදියත්, පසේ රස ධාතුව හීන වෙන කොට ස්වභාවික පොහොර වෙනුවට රසායනික පොහොරත්, පළිබෝධ සහ වල් නසන්න වෙනත් රසායනික බෙහෙත් ආදියත් යොදන්න පටන් ගත්තා. තණ්හාව මුල් කරගෙන කරපු මේ වැඩපිළිවෙලේ අවසාන ප්‍රතිඵලය විදියට අද වෙන කොට දියවැඩියාව සහ රුධිර ආසාධනය නිසා ඇතිවන ලෙඩ රෝග රැසකටත් මුහුණ දෙන්න මනුස්සයින්ට සිද්ධ වෙලා තියෙනවා.

එතකොට **මෑත කාලයේ ස්වයංජාත ඇල් ප්‍රභේදයක් මේ ආකාරයෙන් පහළ වීම, විශ්වය තුළ වසර 50,000 කින් පසුව සිද්ධ වෙන මහා යුග පෙරලියකට සමගාමීව සිද්ධ වෙච්ච තවත් දෙයක් බව** වහරක අභයරතනාලංකාර හිමියන් පෙන්වා දෙනවා. 2012 වසරේ දෙසැම්බර් 21 වන දින ලෝක විනාසයක් සිද්ධ වෙන බව දෙස් විදෙස්වල ප්‍රකට ඇතැම් මහා විද්‍යාඥයින් වගේම නක්ෂත්‍රකරුවන් පවා ප්‍රකාශ කරල තිබුණා. මේ නිසා බොහෝ දෙනෙක් ඒ ගැන බියෙන් සැකෙන් තමයි හිටියෙ. නමුත් විශ්වයේ සිදු වෙච්ච වෙනස් වීම් නිසා එදින යුග පෙරලියක් සිද්ධ වෙලා ඒ විනාසය වැළකුනු හැටි හෙළ බොදු පියුම 24 වන කලාපයේ අභයරතනාලංකාරය ඔස්සේ පළ වූ ''විශ්වය තුළ බුද්ධ ශක්තිය තවමත් නොඅඩුව පවතින බවට සාක්ෂි'' යන ලිපිය තුළින් ඉදිරිපත් කළා.

වසර 50,000 ක් තුළ විශ්වයට බලපාන යුග හතරක් ගෙවිල නව යුගයක් උදා වෙනවා. කෘත යුගය, ද්වාපර යුගය, ත්‍රේතා යුගය, කලි යුගය තමයි ඒ යුග හතර. වසර 5,000 ක් පැවතිච්ච කලි යුගය අවසන් වෙලා කෘත යුගය ආරම්භ වුන වසර 2012 දෙසැම්බර් මස 21 වන දින විශ්වයේ මහා වෙනසක් සිද්ධ වුනා. මේ සම්පූර්ණ වෙනස සඳහා ගතවන කාලය වසර 50,000 ක්. ඒ 50,000 න් වසර 20,000 ක් කෘත යුගයත්, වසර 15,000 ක් ද්වාපර යුගයත්, වසර 10,000 ක් ත්‍රේතා යුගයත්, වසර

5,000 ක් කලි යුගයත් පවතිනවා. එතකොට මායාවරුන්ගෙ දින දර්ශනය අවුරුදු 5,000 කින් පසු අවසන් වුණා. ඒ කියන්නෙ අවුරුදු 50,000 ක් ගියාම විනාස වෙනවයි කියන කාරණයත්, ඒ අතර තියෙන යුග 4 ත් මායාවරු දැකල තිබුණා. එහෙම දැකල කලි යුගයෙන් පස්සෙ විනාසයක් වෙන බවත් දැක්කා. නමුත් ඊට පස්සෙ නැවත හට ගන්න හැටි ඉදිරිපත් කරල තිබුණෙ නෑ. ඒ නිසා තමයි මහා විනාසයක් වෙන බව දැනගෙන දින දර්ශනය එතැනින් නැවැත්තුවෙ. ඒ කියන්නෙ කලි යුගයට අයත් වසර 5,000 අවසානය තමයි 2012.12.21 විදියට සටහන් වුණේ.

කලි යුගය අවසන් වුනාට පස්සෙ කෘත යුගයට නැවතත් දින දර්ශනය හදන්න ඕන. ඉතින් ඒක හැදුවද නැද්ද කියල දන්නෙ නෑ. සමහර විට කෘත යුගයේ ආරම්භය කොහේ හරි සටහන් කරල තිබිල හොයා ගන්න බැරි වුනාද දන්නේත් නෑ. කොහොම හරි කලි යුග වර්ෂ 5,000 ඉවර වෙන කල් ඒ දින දර්ශනය හදන්න මායාවරුන්ට පුළුවන් වෙලා තිබුණා. හැබැයි මේ 5,000 කියන්නෙ අපේ බුද්ධ වර්ෂ නෙවෙයි, අර කලි යුග වසර 5,000 ඉවර වෙච්ච දවස. කලි යුග වසර 5,000 න් පස්සෙ විනාසයක් ගැන හිතුව මිසක් කෘත යුගයක් ගැන සටහන් කිරීමක් හමුවෙලා නෑ. දැන් නැවත කලි යුගය කියල කතා කරන්න බෑ. කෘත යුගය කියල තමයි නැවත පටන් ගන්න ඕන. අසත් පුරුෂකම් කරන්න කල්ලි ගැහිච්ච කාලය තමයි කලි යුගය කියන්නෙ. කලි කිව්වෙ කල්ලිවලට. කෘත යුගය කියන්නෙ කටයුතු සම්පාදනය වෙන කාලය. මේ කාලය තුළ තමයි ඍෂිවරු එහෙම පහළ වෙන්නෙ. හැබැයි අසත් පුරුෂ ගති ලක්ෂණවලින් යුක්තව කරපු කියපු දේවල් නිසා කලි යුගය ඉවර වෙලත් ඒ විස කිරණ එතැන් පටන් තවත් අවුරුදු එකහමාරක් පමණ යන කල් මේ ලෝකය තුළ පවතිනවා. කල්ලි ගැහිල කරපු යුද්ධ, කළකෝලහල ආදිය ඒ කලි යුගය තුළ බහුලව පැවතුනා. එතකොට ඒ අවුරුදු එකහමාරක් පමණ කියන්නෙ 2012.12.21 දින පටන්. ඒ කියන්නෙ දළ වශයෙන් 2014 ජුනි මාසය පමණ වෙනකල්. ඒ කාලය තමයි දැනටත් ගෙවී ගෙන යන්නෙ. එතැනින් පස්සෙ තමයි නියම විදියට කෘත යුගයට හැරෙන්න පටන් ගන්නෙ. හැබැයි කෘත යුගය ආරම්භ වුනාට ඒකෙ ස්වභාවය එන්නෙ ක්‍රමානුකූලව. මෙච්චර කලක් කලි යුගයේ ස්වභාවයෙන්ම තමයි ගියේ. අවුරුදු එකහමාරකින් පස්සෙත් කෘත යුගය විද්‍යමාන වෙන තත්ත්වයට පත් වෙන්න තවත් කාලයක් යනවා.

ඒ වගේම මේ කෘත යුගය ආරම්භ වෙලා වර්ධනය වෙන කොට වැඩිහරියක්ම බිහි වෙන්නෙ ගුණවතුන්. ඊට පස්සෙ ද්වාපර යුගය එන කොට 1/2 ක් ගුණවතුන්, 1/2 ක් දුසිල්වතුන්. නේත්‍රා යුගයට එන කොට 1/3 ක් ගුණවතුන්, 2/3 ක් දුසිල්වතුන්. කලි යුගයට එන කොට ගුණවතුන් 1/4 ක් වත් නෑ. දුසිල්වතුන් 3/4 කටත් වැඩියි. ඒ තමයි පිරිහෙන කාලය.

ඒ වගේම මේ ප්‍රධාන යුග 4 ගත්තම නැවතත් ඒ හැම එකක්ම කෘත - කෘත, කෘත - ද්වාපර, කෘත - නේත්‍රා, කෘත - කලි ආදී වශයෙන් තවත් යුගවලට බෙදෙනවා. ඒවා තවත් සූක්ෂමයි. කෙටියෙන් කියනව නම් මේ හැම ප්‍රධාන යුගයක් ඇතුලෙම අනිත් යුග 3 ත් තියෙනවා. එහෙම ගිහින් අන්තිමට කලි - කලි යුගමයි එන්නෙ. ඒ තමයි අවසන් කාලය. ඒ වගේම බොහොම භයානක කාලය. ඒ කාලෙට ගුණවතුන් ඉන්නෙ බොහොම අල්ප මාත්‍රයයි. ඒ නිසා තමයි පසුගිය කාලෙ හොඳටම පිරිහිලා තිබුණෙ. නමුත් දැන් කෘත යුගය පහළ වෙච්ච නිසා නැවතත් යහපත් විදියට පරිවර්තන කාලයක් තමයි එන්නෙ. හැබැයි ඒක 100% ක්ම පරිවර්තනය වෙන්න කාලයක් යනවා. නමුත් කල් ගිහින් නැවත වරක් 3/4 ක් ගුණවතුන් බිහි වෙන කාලයක් එනවා. ඒ කියන්නෙ මේ කෘත යුගයට අයත් වසර 20,000 න් ඒ සඳහා තවත් කාලයක් ගත වෙනවා. කෘත - කෘත, කෘත - ද්වාපර, කෘත - නේත්‍රා, කෘත- කලි ආදී වශයෙන් යන කොට කෘත- කෘත යුගය තමයි හුඟක් බලවත් වෙන්නෙ. ඒ කියන්නෙ මේ 20,000 ත් තවත් යුග 4 කට බෙදෙනවා. ඒක බෙදෙන්නෙ 4/10, 3/10, 2/10, 1/10 වශයෙන්. එතකොට කෘත යුගය තුලත් කෘත යුගයක් තියෙනවා. අන්න ඒ යුගයෙත් මැද කාලයකදී තමයි ඒ නැගීම සාර්ථකව එන්නෙ. දැන් මේ ඒ පරිවර්තනය පටන් ගත්ත විතරයි.

දැන් කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්, එතකොට ගෞතම බුදුන් වහන්සේ පහළ වුනේ කලි යුගයෙද කියල. උන් වහන්සේ පහළ වෙච්ච කාලය කලි - ද්වාපර යුගයට අයිති වෙන්නෙ. කලි - කලි යුගයට අහුවෙන්නෙ නෑ. මොකද කලි - කලි කියන්නෙ සම්පූර්ණයෙන්ම පිරිහෙන කාලයක්. ඒ කියන්නෙ මේ කලි යුග වසර 5000 ත් අර විදියටම කොටස් 4 කට බෙදෙනවා. ඒකෙනුත් ඉස්සෙල්ලම එන්නෙ කලි - කෘත යුගය. ඊට පස්සෙ කලි - ද්වාපර, කලි - නේත්‍රා, කලි - කලි වශයෙන් යනවා. එහෙම ගිහින් කලි - ද්වාපර යුගය ඇවිත් ගෞතම බුදුන් වහන්සේ පහළ වෙන කොට එදා හිටපු ජනගහනයත් එක්ක බලද්දි සත් පුරුෂයො හිටියෙ අඩුවෙන්. ඒ පිරිස තමයි බුදුන් වහන්සේගෙන් බණ අහන්න හිටියෙ. ඒ අය තමයි දහම ගත්තෙ.

එතකොට දැන් මේ නැවතත් පටන් ගත්තෙ කෘත - කෘත යුගය. ඒ කියන්නෙ ලෞකිකත්වය තුළ හොඳම කාලය. ඒ නිසා මේ කාලය ඇතුලත තමයි හොඳම පිරිස් ඉන්නව නම් නැවත එකට එකතු වෙන්නෙ. ඒ නිසා කලි - ද්වාපර යුගයෙ බුදු දහම පහළ වෙලා, කලින් කල යටපත් වෙලා ගිහින් දැන් ඊළඟට නැවතත් දහම බබලන කාලයක් එන්නෙ. දළ වශයෙන් කියනව නම් තවත් අවුරුදු 600 - 700 ක් විතර තමයි මේ මතුවෙන ලෝකෝත්තර දහම නැවත බබළන්නෙ. උදාහරණයක් විදියට යම් කිසි ලැව් ගින්නක් ඇවිලෙනකොට වියලි රොඩු බොඩු ආදිය තියෙන ඒවා සියල්ල ඒකෙන් දවාගෙන යනව වගේ, මේ කාල සීමාවෙදි පාරමිතා පිරිල හේතු වාසනා තියෙන පිරිස ඉක්මනින් ඒ දහම් මාධ්‍යයෙන් ලෝකෝත්තර මග වඩාගෙන සසර දුක් කෙළවර කරගන්නවා. ඊළඟට ඉතිරි වෙන්නෙ ලෞකික ගුණ දහම් තියෙන පිරිස. ඒ අය ලෞකික මග තමයි වඩන්නෙ. ඒ නිසා ඒ අයට තමයි ඊළඟ පසුතලය හැදෙන්නෙ. ඒ කාලෙදි ඍෂි භාෂිතය ඇවිත් ලෝකෝත්තර පැත්තට වඩා සෘද්ධි ප්‍රාතිහාර්ය වගේ ලෞකික දේවල්වලට තමයි මිනිස්සු නැඹුරු වෙන්නෙ. මේ විදියට මේ කෘත යුගයත් විවිධාකර උස පහත්වීම් සහිතව ගෙවෙනව මිසක්, කෘත යුගයට අයත් අවුරුදු 20,000 ම එකාකාරව තියෙන්නෙ නෑ. ඒ කාලෙන් පස්සෙ නැවතත් ක්‍රමයෙන් පිරිහිලා යනවා. මොකද මේ යුග කියන්නෙ ලෞකිකත්වය පදනම් කරගෙන හදපු ක්‍රමයක්. එතකොට ලෝකෝත්තර වූ දහම බැබලීම වෙනම අංශයක්. හැබැයි ඒකටත් මේ ලෞකික පරිසරය උපනිශ්‍රය වෙනවා.

එතකොට මේ මෑතකදි පටන් ගත්තු කෘත යුගය තුළ නව කටයුතු සම්පාදනය වෙන බව සංකේතවත් කරමින් තමයි ස්වයංජාත ඇල් ප්‍රභේදයක් යළි පහළ වෙලා තියෙන්නෙ. ඒ කියන්නෙ මේ ස්වයංජාත ඇල් අවුරුදු 1,000 ක් පමණ වෙන කල් කලින් කල යටපත් වෙමින්, කලින් කල සකස් වෙලා ඇවිත්, ඊට පස්සෙ නැවතත් මෑත කාලයක් වෙන කල්ම යටපත් වෙලා තිබිල මේ කලි යුගය අවසානයේ නැවත පහළ වෙලා තියෙනවා.

ඒ වගේම මේ ස්වයංජාත ඇල්වල තියෙන පෝෂණය සහ ප්‍රතිශක්තිකරණය අනෙක් සියලු ආහාරවලට වඩා වැඩියි. විශේෂයෙන් මුල් කාලෙ තිබිච්ච ස්වයංජාත ඇල් ආහාරයක් වශයෙන් ගත්තම මළපහ කරන්න තරම් ☞

දෙයක්වත් ඉතිරි වුනේ නෑ. මනුස්සයො මස් මාළු පවා කන්න පටන් ගත්තෙ, ස්වයංජාත ඇල් වඳ වෙලා ගියාට පස්සෙ, වෙහෙස මහන්සි වෙලා ගොවිතැන් බත් කරල ලබාගත් ආහාරවල පෝෂණ ගුණය, රස ගුණය හීන වෙච්ච නිසා. පෝෂණ ගුණය අතින් ස්වයංජාත ඇල් ඉතා ඉහළ තැනක තියෙන්නෙ. ජීවක වෙද මහත්තය බුදු පියාණන් වහන්සේට බඩ විරේකයක් දීපු අවස්ථාවක, ඒ විරේකයෙන් පස්සෙ උන්වහන්සේට මෘදු ආහාරයක් වශයෙන් දෙන්න නියම කරල තිබුනෙත් සුවඳ රත් ඇල් බතක් කියල සඳහන් වෙනවා. ඒ වගේම මේ සුවඳ ඇල් වගා කරල තිබුණ සිටුවරයෙක් ළඟට මුගලන් මහරහතන් වහන්සේ ඍද්ධි බලයෙන් වැඩම කරල, මේ ඇල් ගෙනත් දීල තියෙනවා. ඒ සුවඳ ඇල් බත පිළියෙල කළාම ඒකෙ සුවඳ කොසොල් රජතුමාට විඳ දරාගන්න බැරි වුණාම, තමන් වහන්සේට පිළියෙල කරපු ආහාරයෙන් කොටසක් එතුමාට දෙන්න කියලත් බුදුන් වහන්සේ දන්වල තියෙනවා.

ඒ වගේම මහ පැරකුම්බා රජ්ජුරුවන්ගෙ කාලෙත් මේ වගේ විශේෂ හාල් වර්ගයක් නොතිබෙන්න ඔය කියන විදියට පිටරටවලට හාල් යවන්න පුළුවන් වෙන්නෙත් නෑ. **සමහර විට මේ රටේ සිද්ධ වෙන විපත්ති දිවැසින් දැකල, පෙර හිටපු ඍෂිවරු මේවා නිදන් කරල හෝ යම් කිසි අධිෂ්ඨානයක් කරල තිබිල හෝ නැවත මතු වුණා වෙන්නත් පුළුවන්.** එහෙම නොවෙන්න, වී ඇට වසර 1000 කට වැඩි කාලයක් පැලවීමේ ශක්තිය නොසිඳී පැවතුනා කියල හිතන්න අමාරුයි.

අදත් මේ ස්වයංජාත ඇල් ප්‍රභේදය හරියට ව්‍යාප්ත වුනොත්, මනුස්සයින්ට මහන්සි වෙලා දැන් වගේ වී ගොවිතැන් කරන්න අවශ්‍ය වෙන්නෙත් නෑ. අවුරුද්ද පුරාම ඒවායෙ කරල් හටගන්නවා. යල මහ ආදී වශයෙන් වෙනම කන්න නෑ. බිම් හාල පොළව සකස් කරන්න උවමනා නෑ. මේ භෝගය සාමාන්‍යයෙන් ඕනෑම පසක වැඩෙනවා. නමුත් සාමාන්‍ය වියලි පසේ තමයි විශේෂයෙන් වැඩෙන්නෙ. ස්වයංජාත ඇල් ඇටවලින් වගේම ඒවායෙ මුල හටගන්නා අලවලිනුත් පඳුරු හැදිල අස්වැන්න හටගන්නවා. මේ ඇල්වල තවත් විශේෂයක් වෙන්නෙ, පැලවෙන්න දාන ඇට සියල්ලම වගේ පැලවීම. ඒ කියන්නෙ ප්‍රරෝහණ ශක්තිය ඉතාමත් ඉහළයි. ඒ වගේම බොල් හටගන්නෙත් නෑ. මේ භෝගය ව්‍යාප්ත වෙන කල් ගිරව් වගේ කුරුල්ලන්ගෙන් සහ ගවයින්ගෙන්, අලින්ගෙන් විතරයි ආරක්ෂා කරගන්න අවශ්‍ය වෙන්නෙ. බොහෝ කොටම කෘමි උවදුරුවලින් හානි නොවන විදියට තමයි මේ ස්වයංජාත ඇල් ප්‍රභේදය සකස් වෙලා තියෙන්නෙ. නමුත් ඉතින් මේ කාලෙ වෙන කොට ඇති වෙලා තියෙන කාල විපත්තිය නිසා යම්කිසි පොදු බලපෑමක් වුනොත් ඇරෙන්න අනෙක් ශාකවලට වගේ කෘමි උවදුරු මේ ශාකයට එන්නෙ නෑ.

සාමාන්‍යයෙන් අඩි 9 ක් 10 ක් විතර උසට වැඩෙන මේ ශාකය ඊටත් වඩා උස යන අවස්ථාත් තියෙනවා. ඒ වගේම මේ ගහ සාමාන්‍ය ගොයම් ගහක් වගේ එක කන්නයකින් ඉවර වෙන්නෙ නෑ. ප්‍රධාන වී කරල ඇවිත් එතැනින් නවතින්නෙ නැතිව, පුරුකක් පුරුකක් ගානෙ කොළයයි කරලයි විදියට මාරුවෙන් මාරුවට නැවතත් එනවා. එහෙම ඇවිත් ප්‍රධාන ගහ මැරෙන කොට යටින් තවත් පඳුරු දානවා. ඒ විදියට



දිගටම යනවා.

ඒ වගේම මේ පහළ වෙච්ච ස්වයංජාත ඇල්වල අනෙක් වී වර්ගවලට වඩා විශේෂත්වයක් තියෙන බව මේ වෙන කොටත් ඔප්පු වෙලා තියෙනවා. විශේෂයෙන් ඉතාමත් කෙටි කාලයක් ඇතුලත කිසිම පොහොරක්, වල් නාශකයක්, කෘමි නාශකයක් හෝ පාවිච්චි නොකර, විශේෂ සාත්තුවක් නොකර, දිවයිනේ ප්‍රදේශ ගණනාවකම යම් යම් ප්‍රමාණවලින් මේ ස්වයංජාත ඇල්වල අස්වැන්න ලබාගන්න පුළුවන් වෙලා තියෙනවා. ඒ වගේම වෙනත් වී වගේ යන්ත්‍රානුසාරයෙන් පොතු ඇර ගන්නෙ නැතිව නිකං අතින් පොඩි කරල පොතු ඇර ගන්න තරම් පහසු විදියට ඒ ඇල් වර්ගය සකස් වෙලා තියෙනවා. හැබැයි අතින් පොතු ඉවත් කිරීමෙන් පස්සෙ එන හාල් ඇටේ පුංචි රතු කුරුටු පොත්තක් තියෙනවා. අන්න ඒ කුරුටු පොත්ත පැහැල ඉවත් කරන්න පුළුවන්නම් වඩා හොඳයි. එහෙම නැත්නම් ඒ හාල් තැම්බෙන්න හුඟක් වෙලා යනවා. ඒ නිසා තමයි හුඟ දෙනෙක් මේ කාරණය දන්නෙ නැතිව හාල තම්බන්න ගිහින් හුඟක් කාලය ගත වෙලා තියෙන්නෙ. දැන් තියෙන හාල් මදින යන්ත්‍රවලින් ඒක පහසුවෙන් ඉවත් කරගන්න පුළුවන්. එහෙම නැත්නම් දහයියා කුඩු සමග වංගෙඩියක දාල කොටාගෙන කුල්ලකින් පොළා ගන්නත් පුළුවන්. එතකොට ඒ කුරුටු පොත්ත කුඩු වෙලා ඉවත් වෙනවා. එහෙම නොකළම තමයි නියම හාල හොයා ගන්න බැරි වෙන්නෙ. ඒ නිසා මේව සෝගම් වර්ගයක් කියලත් සමහරු හිතනවා. නමුත් සෝගම් වගේ පේන්නෙ අර පිට තියෙන කුරුටු පොත්ත නිසා. ඒක ඉවත් කළාට පස්සෙ නියම හාල ලැබෙනවා. එතකොට තමයි නියම විදියට තැම්බෙන්නෙ. හැබැයි ඒක ඉවත් නොකළයි කියල කන්න බැරි කමක් නෑ. නමුත් සාමාන්‍ය කාලයකින් බත තම්බ ගන්න පුළුවන් වෙන්නෙත්, බතේ නියම රසය එන්නෙත් ඒ කුරුට්ට ඉවත් කළාම තමයි.

ඒ විදියට ලබාගත් ස්වයංජාත ඇල් උපයෝගී කරගෙන පසුගිය වෙසක් මස පුර පසළොස්වක පෝය දින වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ, අති උත්තම බුද්ධ පූජෝපහාරයක් පවත්වන්නත් පුළුවන්කම ලැබුණා. එතනදි ගෞතම බුදුන් වහන්සේ පෙරුම් පුරන බෝසත් කාලෙ (මවු කර මත තබාගෙන පිහිනපු කාලෙ පටන්) මුණ ගැසුනු බුදුවරයන් වහන්සේලා පන් ලක්ෂ දොළොස් දහස් විසි හත් නමක් (ගෞතම බුදුන් වහන්සේත් සමග පන් ලක්ෂ දොළොස් දහස් විසි අට නමක්) සංකේතවත් කරමින් සහ අසූ හාර දහසක් ධර්මස්කන්ධය සංකේතවත් කරමින් මේ ස්වයංජාත ඇල් ඇට 512,028 ක් සහ 84,000 ක් වෙන වෙනම උත්සවාකාරයෙන් ගැනල, ඒ හාල් ඇටවලින් වෙන වෙනම විශේෂිත කිරිබත් දාන 2 ක් පිළියෙල කරල සම්බුද්ධ ශාසනයට පූජා කිරීම උත්සවාකාරයෙන් සිද්ධ වුණා.

සැඟවුණු බොදු මග යලි පිබිදිලා සසර දුකෙන් මිදෙන්න අවශ්‍ය කටයුතු සම්පාදනය කරගන්න පුළුවන් වෙන ආකාරයට යුග පෙරලියකුත් සිද්ධ වෙලා විශ්වය පවා සකස් වෙලා තියෙන අවස්ථාවක, ඒ සඳහා නිරෝගී කායික මානසික ශක්තිය වර්ධනය කරගන්න වස විසෙන් තොර ආහාර පද්ධතියක් සකස් වෙලා තිබීමත් වැදගත්. මේ වගේ පසුබිමක් තුළ ස්වයංජාත ඇල් යලි පහළ වීම මනුස්සයින්ගෙ පුණ්‍ය ශක්තියට ලැබුණු ආශිර්වාදයක්.

දැන් කෙනෙක් තර්ක කරන්න පුළුවන්, අග්ගඤ්ඤ සූත්‍රයේ කියන ☞

විදියට මනුස්සයො දස අකුසලයෙන් තොරව ජීවත් වෙලා හිටපු මුල් කාලෙ පහළ වෙච්ච මේ ස්වයංජාත ඇල් අද කොහේ පහළ වෙන්නද, ඕව බොරු කතා කියල. ඒ වගේම ඒ ස්වයංජාත ඇල් කියන්නෙ කිසිම මහන්සියක් නොවී නිකං අමුවෙන් ආහාරයට ගන්න පුළුවන් මිහිරි දෙයක් කියලත් සමහරු තර්ක කරන්න පුළුවන්. නමුත් මුල් කාලෙ තිබ්බ ස්වයංජාත ඇල් වුනත් අමුවෙන් කන්න පුළුවන් තත්ත්වයක් තිබුනෙ නෑ. ඒවත් කිරිබත් වශයෙන් උයල තමයි ආහාරයට ගත්තෙ. උයල ගන්නෙ නැතිව නිකං අමුවෙන් කන්න පුළුවන් මිහිරි රසයකින් තිබුණෙ ඊටත් පෙර පහළ වෙච්ච බදාලතා සහ භූමි පටක කියන දෙක විතරයි. මොකද මුලින්ම තිබ්බ කිරි යොදය අතුරුදන් වුනාට පස්සෙ භූමි පටක කියන ආහාරය තමයි අවුරුදු ලක්ෂ ගණනාවක් යන කල් මිනිස්සු ආහාරයට ගත්තෙ. එතනින් පස්සෙ තමයි ඒකත් අතුරුදන් වෙලා බදාලතාවලින් යැපෙන කාලයක් ආවෙ. එතකොට බදාලතා ආහාරයට ගත්ත කාලයත් අවුරුදු ලක්ෂ ගණනක් වුණා. එතනිනුත් අවුරුදු ලක්ෂ ගණනක් ගියාට පස්සෙ තමයි ස්වයංජාත ඇල් පහළ වුනේ. එතකොට ඒ කාලෙ වෙන කොට මනුස්සයින්ගෙ පරම්පරා ලක්ෂ ගණනාවක් ගිහින් කොච්චර නම් පරිවර්තනයක් වෙලාද ? ඒ වෙද්දි නිකං අමුවෙන් කන්න පුළුවන් අවස්ථාවක් නෙවෙයි, උයල පිහල කන ස්වභාවයක් තමයි ඒ ස්වයංජාත ඇල්වලට තිබුණෙ. ඒ නිසා ඒ වෙන කොටත් ඒක කිරිබතක් විදියට උයන්න ඕන. මොකද එතකොට අර මුලින් තිබ්බ ශක්තිය සෑහෙන දුරට හීන වෙලා තිබුණෙ.

ඒ වගේම ඔය **ස්වයංජාත ඇල් අදත් උතුරුකුරු දිවයිනට සම්බන්ධ යක්ෂ විමානයක තියෙන බව සඳහන් වෙනවා.** ආටානාටිය සූත්‍රයේ පෙන්වනවා, මැණික් ගල් තුනක් උඩ තියල ඒකෙන් එන ගින්දරින් ඒ ස්වයංජාත ඇල් බත උයනව කියල. ඒ ලෝකෙ අය ඒ විදියට බත් උයාගෙන කනව කියලත් සඳහන් වෙනවා. ඉතිං කොහොම හරි එදා තිබ්බ ස්වයංජාත ඇල් කියන්නෙත් නිකං අමුවෙන් කන්න පුළුවන් දෙයක් නෙවෙයි. මොකද ඒ කාලෙ වෙද්දි මනුස්සයො අවුරුදු ලක්ෂ ගණනාවක් දුරට පරම්පරා ගිහින් සෑහෙන පරිවර්තනයක් වෙලා ගින්දරත් හොයාගෙන තිබ්බ කාලයක්. ඒ නිසා කිසිම පොත පතකවත් සඳහන් වෙන්නෙ නෑ, ස්වයංජාත ඇල් කියන්නෙ මී පැණි වගේ නිකං කන්න පුළුවන් දෙයක් කියල. කවුරු හරි එහෙම කියනව නම් ඒ කරුණු කාරණා දන්නෙ නැති කෙනෙක්. නමුත් ත්‍රිපිටකය හරියට කරුණු කාරණා සහිතව තේරුම් ගත්ත නම් එහෙම කියන්නෙ නෑ.

ඒ වගේම **මේ කියන්නෙ එදා මුල් කාලෙ තිබ්බ ස්වයංජාත ඇල් ඒ තිබුණු තත්ත්වයෙන්ම නැවත පහළ වෙලා කියන එක නෙවෙයි. ඒකෙ තවත් ප්‍රභේදයක්.** එදා මුල් කාලෙ තිබ්බ ස්වයංජාත ඇල්වල රසය අද බොහෝ දුරට ඈත් වෙලා. නමුත් වී ඇටයෙ ප්‍රමාණය ගත්තොත් සමානයි. එදා තිබුනෙත් බොහොම පොඩි ඇට වර්ගයක්. ඒ වගේම අද තියෙන ස්වයංජාත ඇල්වල පුංචි පොත්තක් තියෙනවා. හැබැයි දනුත් ඒ පොත්ත නිකං අතින් පොඩි කරල ගන්න පුළුවන් විදියට තමයි හැදිල තියෙන්නෙ. ඊට අමතරව පුංචි කුරුට්ටකුත් තියෙනවා. එදා තිබ්බ ස්වයංජාත ඇල්වල පොතු, දහයියා, නිවුඩු මේ මුකුත් තිබුනෙ නෑ. ඒ වගේම සියලු රසයෙන් පූර්ණ, වෙනත් බාහිර ව්‍යංජනයක් අවශ්‍ය නැති බතක් හදල ගන්න පුළුවන් ඇල් වර්ගයක් තමයි එදා



තිබුණෙ. හරියට කිරි බතක් වගේ. තවත් විදියකින් කියනව නම් අද මුරුතැන් බත කියන එක වගේ. මුල්තැන් බත කියන අදහස තමයි අද මුරුතැන් කියල කියන්නෙ. ඒ කියන්නෙ මුල් කාලෙ තිබ්බ බතේ ආකාරය. ඒක හරි රසයි. ඒ බත තමයි අද මුරුතැන් බත කියල පැණි, මුද්දරප්පලං ආදිය දමල ලුණු දාන්නෙ නැතිව රසට හදල ගන්නෙ. ඒ බතේ ආකාරය තමයි එදා මුල් කාලෙ තිබ්බ ස්වයංජාත ඇල්වලින් ඉදෙව්වම ආපු බත. ඒ වගේ රසවත් කිරි බතකට වෙන මුකුත් ව්‍යංජන අවශ්‍ය නෑ. ඒකම ආහාරයට ගන්න පුළුවන්. එහෙම තමයි මුල් කාලෙ තිබුණෙ.

නමුත් කාලයක් යද්දි ක්‍රමයෙන් රස අඩු වෙන කොට ඒ වෙනුවට විවිධ දේ බාහිරින් එකතු කරල රස කරල ගන්න සිද්ධ වුණා. පොල් කියන ශාකය කල්පය ආරම්භයේදීම හැදිච්ච නිසා ඊළඟට පොල් තමයි ආහාරය කිරි රස කරන්න භාවිතා කළේ. ඊළඟට පැණි වර්ග, මුද්දරප්පලං ආදිය දමන්න පටන් ගත්තා. ඒකෙන් තමයි අර හීන වෙච්ච රසය නැවත ගත්තෙ. තවත් කාලයක් යනකොට ඒකත් අත් හැරල වෙන වෙන ආහාර වර්ග ගන්න පටන් ගත්තා. එතකොට තවත් වී වර්ගත් අලුතින් හට ගත්තා. ඒවත් ස්වයංජාත විදියටම තමයි මුලින් හට ගත්තෙ. නමුත් කලින් කල ඇති වෙච්ච වෙනස්කම් අනුව විවිධ වී ප්‍රභේද ඇති වෙලා ඒවාට පොහොර, ජලය, රසායන ආදිය යොදන්න අවශ්‍ය වෙන තත්ත්වයට පරිවර්තනය වුණා.

එතකොට එදා තිබ්බ ස්වයංජාත ඇල් ඒ ආකාරයෙන්ම අද නැත්තෙ, සතර මහා ධාතූන්ගෙ රස ධාතුව හීන වෙලා තියෙන නිසා. ඒක දස අකුසලයත් එක්ක සිද්ධ වෙච්ච දෙයක්. ඒ විදියට රස ධාතුවේ හීනවීම සියලු භව භෝගවල රසය හීන වෙන්න බලපානවා. එදා තිබ්බ ස්වයංජාත ඇල්වල රසයටත් සිද්ධ වුනේ ඒකයි. අනෙක් හැම භව භෝගයකමත් ඒ හීනවීම විවිධ මට්ටම්වලින් සිද්ධ වෙලා තියෙනවා. නමුත් එදා තිබ්බ ස්වයංජාත ඇල්වල ප්‍රභේදයක්ම තමයි අද පහළ වෙලා තියෙන්නෙත්. අද තියෙන බතලත් ඒ වගේ තමයි. එදා තිබ්බ බදාලතා තමයි අද බතල වෙලා තියෙන්නෙ. මුල් කාලෙ බදාලතාවල අල බැස්සෙ නෑ. කොළවල තමයි සියලු රසය තිබුණෙ. මනුස්සයින්ගෙ දස අකුසලයත් එක්කම රස ගුණ හීන වෙන කොට ඒ ශක්තිය පොළව ඇතුලට ගිලා බැස්සා. ඊළඟට ඒක බතල අල වශයෙන් පොළොව යට හැදෙන්න පටන් ගත්තා. නමුත් මුල් කාලෙ ඒව උයන්න අවශ්‍යතාවයක් තිබුනෙ නෑ. කොළ නිකං කන්න පුළුවන් වුණා. ඒව ක්‍රමයෙන් හීන වෙලා ගිහින් ඒකෙම තවත් ප්‍රභේදයක් තමයි අද බතල විදියට තියෙන්නෙ.

**මේ වගේ එදා තිබ්බ භූමි පටකත් පහතට බැහැල අදත් මහ පොළව යට තියෙනව කියල බුද්ධ දේශනාවලින් ඔප්පු වෙනවා.** (අංගු. නි. 5 වේරඤ්ජ සූත්‍රය) වතාවක් වේරංජාවෙදි වේරංජ බමුණගෙ ආරාධනයෙන් බුදුන් වහන්සේ තුන් මසක් යවහල් වළඳල වස් කාලෙ ගත කරන කොට, ඒ තිබ්බ අපහසුතාවය දකල මුගලන් හාමුදුරුවො කියනව, මුල් කාලෙ තිබ්බ භූමි පටක කියන ආහාරය තවමත් පොළව යට තියෙනවා, ඒක තමන්ගෙ සෘද්ධි බලයෙන් නැවත අරගෙන ඔබ වහන්සේට දන් දෙන්න පුළුවන් කියල. එතකොට බුදුන් වහන්සේ අහනව, ඒක ගන්න ගියොත් මේ විසාල ක්ෂුද්‍ර ජීවීන් ප්‍රමාණයක් විනාස වෙනව, ඒකට මොකද කරන්නෙ කියල. ස්වාමීනි, මගේ සෘද්ධි බලයෙන් එක ක්ෂුද්‍ර ජීවියෙකුටවත් කරදරයක් නොකර මහ පොළව දෙබෑ කරල ඒක ගන්න පුළුවන් කියල මුගලන් හාමුදුරුවො කියනවා. ඔබට ඒ හැකියාව තියෙන බව ඇත්ත, නමුත් අපි මේ පැවිදි වෙලා ඉන්නෙ අනෙක් අයගෙ යහපත සඳහා ඒ අය දෙන කර්කෂ භෝජනයක් හෝ අරගෙන ඒකෙන්

යැපෙන්න මිසක් අපේ සෘද්ධි බලයෙන් අරගෙන ඉන්න නෙවෙයි, අපි ඒ ආහාරය අතහැරල මේ යවහල්වලින් යැපෙමු කියල බුදුන් වහන්සේ දේශනා කළ බවත් ත්‍රිපිටක ධර්මයේ සඳහන් වෙනවා.

දැන් මෙතනින් වැදගත් කාරණයක් ඔප්පු වෙනවා. **මුල් කාලෙ තිබ්බ්ච භූමි පටක තවමත් පොළව යට සැඟවිලා තියෙන බවට මුගලන් හාමුදුරුවො කරපු ප්‍රකාශයයි, ඒ බව ඇත්ත කියල බුදුන් වහන්සේ කරපු අනුමැතියයි අනුව ඒකාන්තයෙන්ම තවමත් පොළව යට ඒ භූමි පටක තියෙනවයි කියන කාරණය ඔප්පු වෙනවා.** එතකොට භූමි පටක කියන්නෙ ස්වයංජාත ඇල්වලටත් අවුරුදු ලක්‍ෂ ගණනාවකට පෙර තිබ්බ්ච ආහාරයක්. එහෙනම් ස්වයංජාත ඇල්වලටත් පෙර තිබ්බ්ච ආහාරයක් අදත් සැඟවිලා තියෙනව නම්, බදාලතා කියන එකත් අද බතල වශයෙන් තියෙනව නම්, ස්වයංජාත ඇල් අද තියෙන්න බැරි ඇයි ?

දැන් කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්, එදා තිබ්බ්ච භූමි පටක අද පොළව යට තියෙනව කියන කාරණය වෙන්න පුළුවන්ද, එහෙම තියෙනව නම් මොන ආකාරයකටද, මොන වගේ තැනකද තියෙන්නෙ කියල. හැබැයි දැන් මේ විස්තර කරන තොරතුරු පොත් පත්වල නෑ. අභයරතනාලංකාර හිමියන්ගෙ සමාධියට ගෝචර වෙච්ච කොටසක් තමයි දැන් මේ විස්තර කරන්නෙ.

ඔය භූමි පටක කියන දේ හරියට කිරි මැටි හා සමානයි. ඒව ස්වභාවිකව පොළව යට ගිහින් කාලයක් යද්දි ගල් බවට පත් වුණා. අද තිරිවානා ගල් කියන්නෙත් ඒ භූමි පටකත් එක්ක හට ගත්තු ආදේශකයක්. කිරි මැටිම තමයි එක්තරා ආකාරයකින් ඝනීභවනය වෙලා තිරිවානා විදියට හැදුනෙත්. පොළව යට තියෙන මහ ගල් ගත්තමත් ඒවා ඇතුලෙ ගල් මද කියල දෙයක් තියෙනවා. ඒවත් සුදු පාටයි. අන්න ඒ වගේ යම්කිසි උකු ද්‍රාවණයක් වශයෙන් තමයි ඒක තියෙන්නෙ. ඒක තනිකරම පෝෂණ පදාර්ථයක්. නමුත් ඒක අද තියෙන තාක්‍ෂණ ක්‍රමවලින් හොයා ගන්න බැරුව මිසක්, යම්කිසි විදියකින් ගත්තොත් පාවිච්චි කරන්නත් පුළුවන්. ඒක මහ පොළව යටට ගිහින් අඩියට බැහැල තියෙන්නෙ. නමුත් මුහුදු පතුලෙ ඉඳල කි.මී. 9 ක් විතර ඇතුලට විද්දොත් මේ ද්‍රාවණය අහු වෙනවා. ඒකෙ එක්තරා ලාටුවක් වගේ දෙයක් තියෙනවා. ඒක තියෙන්නෙ විසාල ගල් පර්වතයකට මැදි වෙන්න. ඒ කියන්නෙ ලෝක පෘෂ්ඨයේ ගලේ මැදට අහු වෙන්න. ඒ සීමාවෙ හැම තැනම තියෙනවා. මේ කියන්නෙ දැනට තෙල් ගන්න සීමාවටත් හුඟක් යට. තවත් විදියකින් කියනව නම් මේ මුළු ලෝකෙ හැම මහද්වීපයකම ඇතුලට වෙන්න විසාල ගලක් පිහිටල තියෙනවා. මහද්වීපයක අඩිය කියල කියන්නෙ මේ තියෙන පස් තට්ටුව පසාරු කරගෙන ඇතුලට ගියාට පස්සෙ තියෙන තනිකර ගල් පොළවක්. අන්න ඒ ගලට අහුවෙන්න තමයි ඕක තියෙන්නෙ. මුල් කාලෙ ඒ ගල තිබුණෙ නෑ. නමුත් පසු කාලෙක ක්‍රමයෙන් භූමි පටක කියන ඒව පොළව යටට බැහැල ඒ ගලේ ඇතුලෙ මදයක් වගේ පිහිටියා. අදටත් ඒ ගලෙන් ඒක වැහිල තියෙන්නෙ. ඒක තනිකරම කිරි යොදයක් වගෙයි. ඒක ඉතින් ලේසියෙන් ගොඩ ගන්න පුළුවන් දෙයක් නෙවෙයි. මනුස්සයින්ගෙ දස අකුසල් නිසා ඒ තරම්ම යටට ගිහින්. සෘද්ධි බල තියෙන කෙනෙක් ගත්තොත් ඇරෙන්න මේ නවීන තාක්‍ෂණය පාවිච්චි කරල ගන්න පුළුවන් දෙයක් නෙවෙයි. ඒ වගේ මහා සෘද්ධි බල තිබ්බ්ච මුගලන් මහ රහතන් වහන්සේ එදා සෘද්ධි බලයෙන් ගන්න පුළුවන් කිව්වෙත්, ඔන්න ඔය පොළව යට ඔය විදියට තැන්පත් වෙලා තියෙන භූමි පටක.



ඒ වගේම මේ සම්බන්ධයෙන් ඉදිරිපත් කරන්න පුළුවන් සාක්ෂි දැනටත් තියෙනවා. ඒ තමයි මේ සමහර කළුගල්වලත් මැද, ගල් මදය කියල දෙයක් තියෙනවා. ඒව දැනටත් ආයුර්වේදයේ බෙහෙත්වලට ගන්නවා. ඒව අති දුර්ලභ වගේම මිල අධිකයි. මීට වසර 40 කට පමණ ඉස්සර තුල්හිරිය පෙහෙකම්හල හදන කොට ඒ ප්‍රදේශයේ උමගක් හදන්න පොළව යට තිබ්බ්ච මහ කළු ගලක් විදින්න සිද්ධ වුණා. ඒ ගල සම්පූර්ණයෙන්ම යටටම කඩල තමයි ඒ උමග හැදුවෙ. මෝල් ගස් වගේ උපකරණවලින් තමයි ඒ ගල මැදට විදගෙන ගියේ. එතකොට සුදු පාටට තනිකරම කිරි මැටි වගේ දෙයක් උඩට ආවා. ඒක ඇල්ලුවාමත් නිකං අතින් පොඩි කරන්න පුළුවන් දෙයක්. ඒව තමයි ගල් මද කියන්නෙ. ඉතින් ඒ සිද්ධිය ආරංචි වෙලා හැම තැනින්ම මුදලාලිල ඇවිත් ඒව එක කැල්ලක්වත් ඉතිරි කරන්නෙ නැතිව ඔක්කොම රහසිගතව අරගෙන ගියා. පස්සෙ ආරංචි වුනා මහ විසාල වටිනාකමක් තියෙන ද්‍රව්‍යයක් කියල. ඒ කාලෙ ඒක රහසක් විදියට පැවතුණා. අන්න ඒ හා සමාන දෙයක් තමයි මේ කියන්නෙ. කිරි මැටි නොවුනත් කිරි මැටි වගේ පොඩි කරන්න පුළුවන් දෙයක්. ඒකත් අති දුර්ලභව හමු වෙන බෙහෙතක් කියලයි කියන්නෙ. හැබැයි මේ ගල් මද කියන්නෙ භූමි පටකම නෙවෙයි. නමුත් ඒවායේ කොටසක්ම තමයි. දැන් ඒ ගල් මදවල තියෙන රසය බොල් වෙලා තියෙන්නෙ. මොකද කල් පැන්නට පස්සෙ ඒව බොල් වෙනවා. හරියට මැරිච්ච මැණික් ගල් වගෙයි. නමුත් ඒවත් ඖෂධ විදියට ගන්න පුළුවන්. ඒවත් පෙර සසරෙ තිබ්බ්ච ඒවම තමයි. ඒකෙ තියෙන රසායනික සංයුතිය ගැන පරීක්‍ෂණයක් කළොත් විශේෂත්වයක් තියෙන බව හොයා ගන්න පුළුවන්.

ඉතින් කලි යුග කාලෙ ඉවර වෙන කොට ස්වයංජාත ඇල් වෙනත් ප්‍රභේදයකින් මේ වගේ පහළ වෙන්න පුළුවන්. මොනව හරි අන්තිම නරක කාලෙක තමයි ඕක යටපත් වෙලා පවතින්නෙ. කෘත යුගයත් එක්කම ඒ වගේ දෙයක් නැවතත් ටික ටික මතු වෙලා එන්න පුළුවන්. නමුත් ඒකත් මුල් කාලෙ තිබ්බ්ච නියම විදියට එන්න නම් සම්පූර්ණයෙන් දස අකුසලයෙන් තොර සමාජයක් බිහිවෙන්න ඕන. එතකොට තමයි ඒ ස්වයංජාත ඇල්වල පෙර තිබ්බ්ච ගති ලක්‍ෂණ එන්නෙ. ඒ වගේම මෛත්‍රී බෝසතාණන් වහන්සේ බුද්ධත්වයට පත් වෙන කොට කේතුමතී කියන රාජධානියේ සක්විති රජ කෙනෙක් පහළ වෙන කාලයක් එනව කියනවා. අන්න ඒ කාලෙදි ඔය මුල් කාලෙ තිබ්බ්ච ස්වයංජාත ඇල්, ඊට ආසන්න ගති ලක්‍ෂණවලින් පහළ වෙලා ඒවායින් පෝෂණය වෙන මහා සශ්‍රීක කාලයක් එනව කියලත් ධර්මයේ සඳහන් වෙනවා. මොකද ඒ කාලෙ වෙද්දි මිනිස්සුන්ගෙ දස අකුසල් අඩු වෙලා පරමායුෂත් අවුරුදු 80,000 ක් තරම් ඉහළයි. අදත් පහළ වෙලා තියෙන ස්වයංජාත ඇල් ප්‍රභේදයේ ඒ ගති ලක්‍ෂණ ඒ විදියටම නැතත් එක්තරා මට්ටමකින් හරි තියෙනවා. ඒ නිසා හැම කෙනෙක්ම මේ එක පැළයක් හරි, වගා කරල තියෙන කොහේ හරි ස්ථානයකින් ලබාගෙන තමන්ගෙ ගෙවත්තෙ හිටවා ගන්න පුළුවන් නම් මේ කාලෙ හැටියට ඒක බොහොම වැදගත් වෙනවා.

සටහන
**ඇල්. අමරසිංහ**
**(විශ්‍රාමික ලංකා බැංකු ජ්‍යෙෂ්ඨ කළමනාකරු)**
**පිළියන්දල.**

# ශබ්ද විද්‍යානුකූල පිරිතකින් නැගෙන බලය...

(පසුගිය කලාපයෙන්: ලොවුතුරා බුදුන් වහන්සේට සුවිශේෂ වූ අෂ්ඨ මධුර ස්වර...)

ශබ්ද විද්‍යාව ගැන කතා කරන කොට විශේෂයෙන් පිරිතක් වගේ දෙයකින් ලෝකයාට සෙතක් ශාන්තියක්, යහපතක් වෙන්නෙ කොහොමද කියන කාරණයත් යම් පමණකින් දැන ගැනීම වැදගත්. ඒ වගේ දෙයක් නිකම්ම පිළිගන්නවට වඩා හේතු සහිතව දැන ගැනීම වැදගත්. යම්කිසි ගතිගුණයකට අනුරූපව නිකුත් වන ගති හඬක් තමයි පිරිතකින් ප්‍රධාන වශයෙන්ම එන්නෙ. එතකොට නිකුත් වන ගති හඬට පිරිතෙන් කියවෙන ගති ගුණ වගේම ඒ පිරිත කියන අයගෙ ගති ගුණත් බලපානවා. ඒ ගති ගුණවලින් චිත්ත කිරණත් පැතිරෙනවා. ඒ වගේම ඒ ගති හඬින් භෞතිකමය ශබ්ද කිරණත් ඊට අනුරූපව නිකුත් වෙනවා. ඒ තමයි ශබ්ද තරංග. ශබ්ද කිරණ මුලින්ම පටන් ගන්න කොට වායු කම්පනයෙන් තමයි කනට ඇහෙන්න සැලැස්වෙන්නෙ. ගති හඬක් නිකුත් වෙන කොට එතනදි ක්‍රම 2 කට ඒ කිරණ ගමන් කරනවා. එකක් චිත්ත කිරණ, අනික ශබ්ද තරංග.

උදාහරණ විදියට මයික්‍රෆෝනයක එක්තරා පතුරක් කම්පනය වෙලා තමයි හඬ නිකුත් වෙන්නෙ. ඒකට වදින වායු කම්පනයට අනුරූපව තමයි ඒ හඬ නිකුත් වෙන්නෙ. එතකොට ඒකෙන් විදුලියක් හෙවත් කිරණක් හට ගන්නවා. ඒක තමයි ඊට පස්සෙ මයික්‍රෆෝනයට ඇවිත් ඒ හරහා ශබ්ද විකාශන යන්ත්‍රයකට දෙන්නෙ. ඒකෙන් ඉලෙක්ට්‍රෝන, ප්‍රෝටෝන ආදී අංශු කම්පනයට පත් වෙලා ශබ්ද තරංග කිරණක් විදියට පිට වෙනවා. ඒ උපකරණ තවත් සියුම් කළොත් සූක්ෂම තරංග බවට පත් වෙලා මේ භෞතික ලෝකයේ දේවල් ඒකට ආධාර කරගෙන ඒ හඬ මහත් කරල ඈත ප්‍රදේශයක විසාල පිරිසකට යවන්නත් පුළුවන්.

මේ වගේ දෙයක් තමයි පිරිතක් කියන කොට ක්‍රියාත්මක වෙන්නෙත්. ගති ගුණයට අනුකූලව ගති හඬක් නිපදවෙනවා. ඒ හඬ කටින් නගන කොට ඒකෙන් කියවෙන අර්ථය දැනගෙන නොහිටියත්, ඒ ගති හඬට අක්ෂර, ගණ, මාත්‍රා ආදියත් ක්‍රමානුකූලව ගෙතිල ආව නම්, ඒ හඬත් එක්ක අර වායු කම්පනය නියම විදියට සිද්ධ වෙනවා. ඒ වායු කම්පනයත් එක්කම කිරණ කම්පනයකුත් සිද්ධ වෙනවා. ඒකෙන් තමයි ඒ ශක්තිය ඈතට විහිදිලා යන්නෙ. ගති ගුණයේ යම්කිසි ස්වභාවයක් ඇත්ද ඒ ශක්තිය ඊට අනුකූලයි. එතකොට ගති ගුණයක් තියෙන කෙනෙක් ඉන්නව නම්, ඒ පුද්ගලයගෙ ගති හැඟීම් කම්පනය වෙනවා. ඒකත් අර වගේම කම්පනය වෙලා හැඟීම් වශයෙන් අප්‍රමාණ පරිවර්තනයක් සිද්ධ වෙනවා. මේ විදියට **පිරිතකින් නැගෙන බලය කිරණ ශක්තිය විදියටත්, ශබ්ද තරංග විදියටත් ගිහින් සත්වයින්ගෙත්, ද්‍රව්‍ය වස්තුවලත් පරිවර්තනයන් ඇති කරනවා. ඒ නිසා තමයි ඒ පිරිත අහගෙන ඉන්න කෙනෙක් ඒ ගැන දන්නෙ නැතිව හිටියත්, කියන දේ තේරෙන්නෙ නැතිව හිටියත්, ඒ පිරිත හරියට ශබ්ද විද්‍යානුකූලව කළා නම් ඒ පුද්ගලයට සෙතක් ශාන්තියක් සිද්ධ වෙන්නෙ.** උදාහරණ විදියට මන්තරයකින් කියන්නෙ මොකක්ද කියල දන්නෙ නැති වුනත් අක්ෂර, ගණ, මාත්‍රා හරියට පිහිටවල කළා නම් ඒකෙ බල පිහිටල විශාල ශක්තියක් නැගෙනවා.



මේ වගේ බුදුන් වහන්සේ ජීවමානව වැඩ ඉන්න කාලෙ උන් වහන්සේගෙ හඬ අහගෙන හිටපු මැඩියෙක් එතනින් චුත වෙලා මණ්ඩූක නමින් දිව්‍ය පුත්‍රයෙක් වෙලා ඉපදිලා නැවතත් බුදුන් වහන්සේගෙන් බණ අහල සෝවාන් වුනා කියලත් ධර්මයේ සඳහන් වෙනවා. එතකොට තිරිසන් වෙලත් ඒ විදියට ඇහුවෙ බුදුන් වහන්සේගෙ හඬක්. නමුත් ඒ තිරිසන් සතාට බණ තේරුම් ගන්න හැකියාවක් නෑ. ඒ වුනත් අර හඬ අහල තමයි ඒ තරම් විසාල පරිවර්තනයක් සිද්ධ වුණේ. එතකොට එහෙම වෙන්නෙ කොහොමද? එතනදි බුදුන් වහන්සේ ඇත්ත වශයෙන්ම දන්නව, මේ හඬ අහල ඒ මැඩියා ඒකෙන් ලබන ප්‍රතිඵලය ගැන. ඊට පස්සෙ ඒ මැඩිය එතනින් චුත වෙලා දෙවියෙක් වෙලා නැවත ඇවිත් බණ අහන බවත් උන් වහන්සේ දන්නවා. මොකද තුන් කල් නුවණ නිසා. ඒ වගේ අවස්ථාවල හුඟක් දුරට සිද්ධ වෙන්නෙ ඒ හඬ ඒ සතාට උපනිශ්‍රය වීම. එතකොට සියලු මැඩියන්ට එහෙම හඬ අහල පරිවර්තනයක් වෙන්න බෑ. එතනදි ඒකට ගැලපෙන, යම් කිසි විදියකින් සසරෙදි පින් දහම් කරල පුරුද්ද තිබ්බව අය අද දුගති අත්බැවක හිටියත්, පෙර සසර පුරුද්ද ඇදිල ඇවිත් අර හඬත් උපනිශ්‍රය වෙලා ක්‍රියාත්මක වීමක් තමයි සිද්ධ වෙන්නෙ. ඒ නිසා බණ ඇහිච්ච පලියටම සුගතිගාමී වෙන්නෙත් නෑ, නිවන් දකින්නෙත් නෑ. නමුත් එක්තරා මට්ටමක ගුණ වඩපු කෙනෙක් හිටියොත් සමනන්තර - අනන්තර ප්‍රත්‍යය ක්‍රියාත්මක වෙලා එහෙම උපනිශ්‍රයක් වෙන්න පුළුවන්.

උදාහරණ විදියට කෙනෙක් ඍතමය ඥානං කියන තැනට පත් වෙලා (දැනීමට අවශ්‍ය කරන මාර්ගය පෑදීමක් විතරයි) මග ඵල නොලබා නමුත් ධර්මය කෙරෙහි චිත්ත ප්‍රසාදයකින් ඉන්න පුළුවන්. හැබැයි එහෙම මනුස්ස වෙලා ඉඳෙද්දි අනිත් අය මැඩ පවත්ව ගෙන පාග ගෙන තමන්ගෙ වැඩේ කර ගන්න මැඩි සංඛාර වැඩුවොත්, ඒක උපාදානය වෙලා ඊළඟට එතනින් චුත වෙලා මැඩියෙක් වෙලා උපදින්න පුළුවන්. නමුත් සසර පුරුද්ද නිසා තිරිසනෙක් වෙලත් සුදුසු පරිසරයක් ආවොත්, ඒක උපනිශ්‍රය වෙලා ඒ සසර පුරුද්ද ක්‍රියාත්මක වෙනවා. දහම් හඬක් එන කොට සසර පුරුද්ද ක්‍රියාත්මක වෙලා පෙර ගතිය ඇවිත් ඒ සද්දෙට කන් දෙනවා. අවශ්‍ය කරන සමනන්තරය එතනින් හැදෙනවා. පෙර බණ අහපු අනන්තරය ඇදිල ඇවිත් සමනන්තර - අනන්තර ප්‍රත්‍යය ක්‍රියාත්මක වෙලා සුගතියට යන්න ඒකෙන් ශක්තිය ලැබෙනවා. එහෙම හඬට පැහැදිලා දෙවියෙක් වෙලා ත්‍රිහේතුක පටිසන්ධියක් ලබල, නැවත ඇවිත් බණ අහල අවබෝධ කරගෙන තමයි මණ්ඩූක සෝවාන් වුණේ. එතකොට මුල් අවස්ථාවෙදි තිරිසන් වෙලා බණ තේරුනේ නෑ. මොකද ත්‍රිහේතුක පටිසන්ධියක් නෑ. නමුත් සසර කරපු පුණ්‍ය ශක්තියක් අනුකූලව ඇදිල ඇවිත්, ඒක තමයි දෙව් ලොවට යන්න සම්බන්ධ වුණේ. ඒකට අර ශබ්ද විද්‍යාවට අනුව ගෙතිච්ච බුද්ධ ☞

නාදය උපනිශ්‍රය වෙලා ඊට අනුකූල ගතියක් හැදුණා. නමුත් සසර පුණ්‍ය ශක්තිය තිබුණත්, ඒ වෙලාවෙදි එහෙම හඬක් ඇහුනෙ නැත්නම් දිව්‍ය ලෝකෙ උපදින්න විදියක් නෑ. එතකොට ඒ අවස්ථාවෙදි ප්‍රධාන වශයෙන්ම බාහිරින් ඇහුනු ඒ හඬේ තිබිච්ච විශේෂත්වය තමයි බලපෑවෙ.

දැන් එතකොට මේ කියන හඬ තේරෙන්නෙ නැතිවත්, ශරීරයට වදින කිරණ ශක්තිය නිසා කායික මානසික පරිවර්තන සිද්ධ වෙනවා. පිරිත්වලින් ලෙඩ රෝග නිවාරණය වෙන්නෙත් ඒ විදියට. උදාහරණ විදියට එක්ස් රේ (X-Ray) කිරණ යන්ත්‍රයක් ළඟ හිටියම ඒ කිරණ ශරීරයට වදිනව කියල දැනෙන්නෙ නැති වුනත්, ඒව ශරීරයේ ඇට මිදුළුවලට පවා කා වැදීමෙන් නොයෙක් විකෘති ඇති කරන බව නවීන විද්‍යාවෙන් හොයා ගෙන තියෙනවා. ඒ වගේ තමයි තමන් දන්නෙ නැති වුනාට, මේ සෙත් කිරණත් ශරීරයට වැදුනම යහපත් විදියට පරිවර්තන හට ගන්නවා. ඒකත් ඇට මිදුළු හරහා කිඳාගෙන යනවා. එතකොට ළඟ ඉන්න අයට විතරක් නෙවෙයි, ද්‍රව්‍ය වස්තු වුනත් ඒවට අහුවෙලා සෙත් වෙනවා. යන්ත්‍රයක් ජීවම් කරන කොටත් ලෝහ තහඩුවට ඒ ශක්තිය ගැබ් කරල බල පිහිටුවනවා. එතකොට ඒ ශබ්ද ශක්තිය ගිහින් සුදු කිරණක් වගේ ඒ තහඩුවට වැදිල ගැබ් වෙනවා. මේ වගේ මනුස්සයෙකුට හෝ ජලයට හෝ තෙල් බෙත්වලට හෝ පිරිතකින් වගේ දේකින් සෙත් කළොත් ඒකෙන් නැගෙන ශක්තිය ඒ පුද්ගලයට හෝ ද්‍රව්‍ය වස්තුවලට කා වදිනවා. එහෙම කා වැදිල යම් යම් වෙනස්කම් ඇති කරනවා, විස කිරණ ඉවත් කරල සුද්ද කරල දෙනවා. ඒකට ඒ පිරිතෙ තේරුම දැනගෙන ඉන්න ඕනෙත් නෑ, අහගෙන ඉන්න ඕනෙත් නෑ. හැබැයි අහගෙන හිටියොත් තවත් උපනිශ්‍රය වෙලා ශක්තිය වැඩි වෙනවා. ඒ වගේම ඒකෙන් කියන දේ තේරුම් ගත්තොත් ඒ ශක්තිය තවත් වැඩි වෙනවා. ඒක අමතර කාරණයක්. එහෙම නැතිව හරියට කරපු පිරිතක් නම් ළඟ නිකං හිටියත් හේතු තියෙන විදියට ක්‍රියාත්මක වෙනවා. ඒ ශක්තිය ශරීරයට වැදිල වැඩ කරන්න පටන් ගන්නවා. ඒ වගේම ඒ වචන හඬ නගන කොටත් ඒකත් ඇහෙනවා. ඒකෙන් මනසේ පරිවර්තනයක් ඇති වෙනවා. **ඒ නිසා ශබ්ද විද්‍යාවෙන් පිට පැනල වැරදියට කිව්වොත්, ඒ පිරිතෙ බල අඩු වෙනවා. ඒ වගේම විකෘතියට කිව්වොත් විකෘති වෙලා වැඩ කරනවා.** ඒ නිසා පැත්තක ඉන්න කෙනෙකුට වැදුනත් සෙත් කිරණ නම් යහපතක්ම සිද්ධ වෙනවා.

උදාහරණ විදියට ලොවුතුරා බුද්ධත්වයට පත් වෙන්න, බෝසතාණන් වහන්සේ නමක් පශ්චිම අත්බවයෙදි පහළ වෙන කොට මහා ඝණ අන්ධකාර ලෝකවල ඉන්න නිරි සතුන්ටත් මහා ආලෝකයක් විහිදිලා මොහොතකට ඒ ඝණ අඳුර පළවා හරින බව කියවෙනවා. ඒ වගේම අන්ධයන්ට පෙනීම එනවා, බීරන්ට ඇහීම එනවා, කොරුන්ට ඇවිදින්න පුළුවන් වෙනවා ... ආදී වශයෙන් ලොවුතුරා බුදු වෙන්න, මහ බෝසතාණන් වහන්සේ නමක් පශ්චිම අත්බවයෙදි ලෝකෙට පහළ වෙන කොට සිද්ධ වෙන විශේෂ අද්භූත කරුණු 32 ක් ගැන කියවෙනවා. නමුත් මේ කතාව පොත් පත්වල තියෙන්නෙ ජාති අන්ධයින්ට පෙනීම එනවා, ජාති බිහිරන්ට ඇහෙන්න පටන් ගන්නවා ආදී වශයෙන්. නමුත් ජාති අන්ධයින්ට පෙනීම එන්න විදියක් නෑ. මොකද ජාති අන්ධ කිව්වම පටිසන්ධියත් එක්කම අන්ධ වෙලා ඇස්වල ප්‍රසාද රූප නැතිව තමයි මවු කුසකට ඔක්කන්ති වෙන්නෙ. එහෙම අයට ලොවුතුරා බුදුන් වහන්සේ නමක් පහළ වුනත් පෙනීම එන්න විදියක් නෑ. ඒ නිසා මේ කියන්නෙ ජාති අන්ධයින් ගැන නෙවෙයි. සමහර අය මවු කුසේදි ප්‍රසාද රූප ඇතිව ඉපදිලා ඊට පස්සෙ කර්ම විපාකයක් ඇවිත් ප්‍රවෘත්ති විපාකයක් වශයෙන් අන්ධ වෙන්න පුළුවන්. එහෙම අයට ශරීරයේ යම්කිසි ඌනතාවයක් තමයි තියෙන්නෙ. ඒ කියන්නෙ චුති - පටිසන්ධියෙන් පස්සෙ ආපු අවහිරයකින් වෙච්ච ස්නායු දුර්වල වීමක් වගේ දෙයක්. එහෙම අයට ලොවුතුරා බුදු බව ලබන්න නියමිත මහ බෝසතාණන් වහන්සේ නමකගෙන් විහිදෙන ඒ අති සියුම් කිරණවලින් ස්නායු ප්‍රකෘතිමත් වෙන්න පුළුවන්. එහෙම වෙලා පේන්න පටන් ගන්නත් පුළුවන්.

බීරන්ට ඇහෙනවයි කිව්වමත් මේ කියන්නෙ ජාති බිහිරි අය ගැන නෙවෙයි. මොකද ඇහෙන්න නම් ස්නායු මාධ්‍යයක් තියෙන්න ඕන. නමුත් ජාති අන්ධ, ජාති බිහිරි අයට මොනම හේතුවකින්වත් ස්නායු පද්ධති හදන්න පුළුවන්කමක් නෑ. මොකද ඒක චුති - පටිසන්ධියත් එක්කම සිද්ධ වෙන දෙයක්. නමුත් ප්‍රවෘත්ති විපාක වශයෙන් මවු කුසේදි අන්ධ වෙච්ච අයට, බිහිරි වෙච්ච අයට, එහෙම නැත්නම් මවු කුසින් බිහි වුනාට පස්සෙ ඒ වගේ ආබාධයන්ට පත් වෙච්ච අයට එහෙම ප්‍රකෘති වීම් සිද්ධ වෙන්න පුළුවන්. කොර වුනා කියන්නෙත් ශරීරයේ තිබිච්ච මොනව හරි දුර්වලතාවයක්. එහෙම අයට අර කිරණ ශක්තිය පිහිටන්න පුළුවන්. ඒ කියන්නෙ ඒ කිරණ ශක්තිය විහිදිච්ච ගමන් දුර්වල ස්නායු ප්‍රබෝධමත් වෙලා වැඩ කරන්න පුළුවන්. ලොවුතුරා බුද්ධත්වයට පත්වෙන්න ඉන්න මහ බෝසතාණන් වහන්සේ නමකගෙ පශ්චිම අත්බවය පහළවීම අති විශේෂ දෙයක් නිසා ඒ නැගෙන මහා ශක්තියෙන් ඒ වගේ දෙයක් වෙන්න පුළුවන්. මොකද අනන්ත පාරමිතා බලය උපරිමයෙන් නැගෙන ඒ අවස්ථාවේ උන්වහන්සේගෙ පහළ වීමත් සමගම ජය ශ්‍රී මහ බෝධීන් වහන්සේ ඇතුළු සප්ත සහජාත වස්තු පහළ කරන්න තරම් බලවත් අවස්ථාවක් තමයි මේ කියන්නෙ.

මෙන්න මේ වගේ වීතරාගී, වීතදෝසී, වීතමෝහී ගුණවලින් ශබ්ද විද්‍යානුකූලව හදපු පිරිතකත් විශේෂ ශක්තියක් පිහිටනවා. ඒ බලය හරියට නැගිල ආවොත් ඒක යහපතටම හේතු වෙනවා. එතකොට පිරිත අහගෙන හිටියත් නැතත්, තේරුණත් නැතත් එයින් යහපත ලැබෙනවා. ඒ වගේම ඒ පිරිත කියන කොට කියන අයටත් ඒ ගතිය පිහිටල තියේ නම්, එතනදි නැගෙන හඬින් මතු වෙන ශක්තියටත් ඒ ගතිය බලපානවා. ඒකෙන් අහගෙන ඉන්න අයගෙත් චිත්ත ප්‍රසාදය නැගෙනවා. ඒකට ඒ පිරිත දැන ගෙන ඉන්න ඕනම නෑ. අද වුනත් පිරිතක් කියන කොට ඒ හඬ ඇහුනත් හිත සාන්ත බවට පත් වෙනවා. ඒක සාමාන්‍ය අයටත් දැනෙන දෙයක්. එතකොට ඒ පිරිත දැන ගෙන නෙවෙයි. පිරිත් අහන්න අනාදිමත් කාලෙක පටන් මිනිස්සු ප්‍රිය කරන්නෙත් ඒ ස්වභාවය නිසා.

නමුත් දැන් මේ කියපු විදියට පිරිතකින් ලැබෙන යහපත 100% ක්ම ඒ ආකාරයෙන්ම සිද්ධ වෙන්න නම් ඒ පිරිත ශබ්ද විද්‍යානුකූලව කරන්න ඕන. එතකොට තමයි නියම ගති හඬ නැගිල ඊට අනුකූලව ශක්තිය පිට වෙන්නෙ. ඒ වගේම චිත්ත කිරණ විහිදෙන්නෙ. එහෙම නැතිව කෘතීමව රඟ පාන්න ගියොත් ඒකෙ බලය හීන වෙනවා. උදාහරණ විදියට කෙනෙකුට විවිධාකාරයෙන් හිනා වෙන්න පුළුවන්. නමුත් නියම ගතියට අනුව ස්වභාවිකව හිනා වුනොත් තමයි ඒ අදහස මිනිස්සුන්ට ගෝචර වෙන්නෙ, ඒ වගේම අහගෙන ඉන්න හිතෙන්නෙ. නමුත් ඒ පුද්ගලය කෘතීමව නිකං රඟපාල ඇද ඇද හිනාවෙන්න ගියොත් ඒක නිකං මවා ගත්තු හිනාවක් කියල අහගෙන ඉන්න අයට තේරෙනවා. එතකොට ඒ ගැන මිනිස්සු ඒ තරම් උනන්දුවක් දක්වන්නෙ නැතිව යනවා. ඒ නිසා නියම ස්වභාවික ගතියට අනුකූල හිනාවයි, ආයාසයෙන් කරන කෘතීම හිනාවයි කියන්නෙ කාරණා 2 ක්.

මේ වගේ ස්වභාවිකව අක්ෂර, ගණ, මාත්‍රා ගැලපිලා ශබ්ද විද්‍යාවට අනුකූලව කළොත් තමයි ඒ පිරිත් හඬ ක්‍රමානුකූලව ඇතට විහිදිලා අහගෙන ඉන්න අයට ගෝචර වෙන්නෙ. ඒ වගේම නියම ශාන්තිය නැගෙන්නෙ. ☞

කෘතීමව ඇදල කියන්න ගියොත් ඒකෙ බලය අඩු වෙනවා, නියම ක්‍රම රටාව අනුව තියෙන ගති හඬ වරදිනවා. එතකොට නියම ගති හඬ නෙවෙයි එන්නෙ නිකං රඟපාන හඬක්. අහගෙන ඉන්න අයට ඒක ගෝචර වෙන්නෙත් රඟපාන හඬක්, රඟපාන මානසිකත්වයක් විදියට. ඒකෙන් දහම් මානසිකත්වයක්, චිත්ත ප්‍රසාදයක් නැගෙනව බොහොම අඩුයි. ඒ නිසා ගති ගුණ යම් සේද, ඒ විදියට ශබ්ද විද්‍යානුකූලව තමයි පිරිත ගෙනෙන්න ඕන. එතකොට තමයි ගති හඬට අනුකූලව ඒ පිරිතෙන් බල නැගෙන්න පරිසරය උදා වෙන්නෙ.

හැබැයි සමහර අයට ඔය ගතිය හිතට අරගෙන ඒ විදිහට රඟපාන්නත් පුළුවන්. ඒක එක්තරා සාහිත්‍යමය දක්ෂතාවයක්. එහෙම අයට සමහරවිට අනිත් අයගෙ හැඟීම් ඇති කරවන්න පුළුවන්. උදාහරණ විදිහට ගොළුවෙක් නොවන ඕනෑම කෙනෙකුට බල්ලෙක් බුරනව වගේ සද්ද කරන්න පුළුවන් වුනත්, මනුස්සයො එහෙම සද්ද කළා කියල බල්ලො ඒකට ප්‍රතිචාර දක්වන්නෙ නෑ. නමුත් සමහරු ඉන්නවා බල්ලෙක් බුරනව වගේ සද්ද කළොත්, ඇත්තටම තවත් බල්ලෙක් ඇවිත් කියල අවට ඉන්න බල්ලොත් ඇවිස්සෙනවා. ඒ කියන්නෙ ඒ හැඟීම එන විදිහට ශබ්දය පිට කරන්න පුළුවන්. නමුත් ඒ වගේ හැකියාවක් තියෙන අය බොහොම කලාතුරකින් ඉන්නෙ. ඒකෙන් පෙන්වන්නෙත් හැඟීමෙන් හඬ නැගීමක්. ඒ වගේ සාහිත්‍යමය දක්ෂතාවලින් ලෞකික හැඟීම්වලට හිත තියල කතා කරන්න, ක්‍රියා කරන්න පුළුවන් අය කලාතුරකින් ඉන්නවා. එතකොට බලාගෙන ඉන්න අයට ඒක ස්වභාවික විදිහට දැනෙනවා. ඒ නිසා ඒ අයත් ඒකට ප්‍රතිචාර දක්වල ඇත්තටම අඬන්න, හිනාවෙන්න පුළුවන්. එතකොටත් කෙනෙකුට චිත්ත ප්‍රසාදයක් එන්න පුළුවන්. නමුත් ඒ විදිහට රඟපාන විවිධ ක්‍රමවලින් ඇති වෙන්නෙ සාහිත්‍යමය චිත්ත ප්‍රසාදයක් මිසක් ධර්ම චිත්ත ප්‍රසාදයක් නෙවෙයි. මොකද නැත්නම් පෙලක් අය, හොඳ ලස්සන පිරිත් හඬ කියල ගීත ස්වරයෙන් කියන ඔය වගේ සාහිත්‍යමය රසයට ඇදෙන්න පුළුවන්. නමුත් ඒකෙ වෙනසක් තියෙනවා.

**ඉතින් මේ ශබ්ද විද්‍යාව අනුව පිරිත ගෙනෙන විදියට තමයි මුල් කාලෙ පිරිත් සජ්ජායනා කළේ. ඒ කියන්නෙ දීර්ඝ අක්ෂරයකට මාත්‍රා 2 යි, කෙටි අක්ෂරයකට මාත්‍රා 1 යි, අල් අක්ෂරයකට මාත්‍රා 1/2 යි ... ආදී වශයෙන් ඒ අකුරු ශබ්ද කරන්නත්, ඒ වගේම පිරිත ගීත ස්වරයෙන් නොකියා ස්වර භණ්ඩයට අනුව සජ්ජායනා කරන්නත් හඳුන්වා දීපු ක්‍රමයක් තිබුණා.**

නමුත් ඒ රටාව අද සම්පූර්ණයෙන්ම වගේ වෙනස් වෙලා බොහෝ තැන්වල ගීත ස්වරයෙන් ඇදල කියන පිරිත් රටාවන් තමයි අහන්න ලැබෙන්නෙ. ඒ විදියට මේ පිරිත ඇදල කියන ක්‍රමයක් සකස් වෙන්නත් හේතුවක් තියෙනවා. මොකද මුල් කාලෙ පිරිත් කිව්වෙ අද වගේ පොත් බලාගෙන නෙවෙයි, කට පාඩමින්. ඒ කාලෙ බණ වරයක් ඇද ඇද ඉන්න දෙයක් තිබුනෙ නෑ, හොඳට කට පාඩම් තිබුණා. නමුත් ඉතින් පසු කාලෙක පොත් ලියන්න පටන් ගත්තට පස්සෙ කට පාඩම් කිරීම අත් හැරුණා. මොකද පොත්වල ලියල තියෙන නිසා ඒක බලාගෙන කියනව මිසක් කට පාඩම් කරන්න උනන්දුවක් තිබුනෙ නෑ. ඊට පස්සෙ පුස්කොළ පොත බලාගෙන තමයි පිරිත් කිව්වෙ. ඉතින් කට පාඩමින් කියන කොට අක්ෂර, ගණ, මාත්‍රා ක්‍රමානුකූලව ගෙතිල කිසි ගැටළුවක් නැතිව කියන්න පුළුවන්. නමුත් පොත බලාගෙන කියන්න



පටන් ගත්තට පස්සෙ වයසට ගිහින් ඇස් පේන්නෙ නැති වුනාම අකුරු බලාගන්න එක ගැටළුවක් වුණා. මොකද ඒ කාලෙත් මිනිස්සු පිරිතට වඩම්මවන්න පුරුදු වෙලා හිටියෙ වයසින් මුහුකුරා ගිය මහතෙරුණ් වහන්සේලා. ඒ අයම තමයි පිරිතකට ඉල්ලුවෙ. එතකොට ඒ ඇස් පෙනීම දුර්වල අයට කියවන්න තමයි පිරිත් පොත් ලියන කොට ලොකු අකුරින් ලිව්වෙ. ඒක පැහැදිලිවම අදත් ඔප්පු වෙන කාරණයක්. අනිත් දහම් පොත් සාමාන්‍ය අකුරින් ලියන කොට පිරිත් පොත් විතරක් විසාල පොල් ගෙඩි අකුරින් ලියල තියෙනවා. අදත් පිරිත් පොත් ලියන්නෙ ඒ ක්‍රමයට. ඉතින් ලොකු අකුරින් ලියන්න හේතුව තමයි ඇස් පෙනීම අඩු අයට බලාගන්න පහසු වෙන්න. මොකද ඒ කාලෙ අද වගේ ඇස් කණ්ණාඩි තිබුනෙත් නෑ. ඉතින් කොච්චර ලොකුවට අකුරු තිබුණත්, අර කට පාඩම් කරගෙන කියනව වගේ පොත බලාගෙන කියන්න බෑ. ඒ නිසා මොකද කරන්නෙ, ඇස් පෙනීමත් අඩු නිසා ඒ අකුරු දිහා බලාගෙන බොහොම හෙමින් තමයි වචනයක් කියන්න අකුරු ටික එකතු කරගන්නෙ.

උදාහරණ විදියට ඒ.... වං.... මේ .... සු.... තං..... ආදී වශයෙන් ඔහොම ඇදගෙන යනවා. ඒ කියන්නෙ එක අකුරක් අල්ල ගෙන ඊළඟ අකුර හඳුනාගෙන අල්ල ගන්න කල් යම් කිසි කාලයක් අදිනවා. හරියට අර පුංචි ළමයි අකුරු කියවනව වගේ. මුලින්ම එක පාරටම හුරුවට අහුවෙච්ච අකුරු ටික කියල ඊළඟ අකුරු ටික අල්ල ගන්න කල් නිකං ඉන්න බැරි නිසා අ ...... කියල අදිනවා. ඉතින් ඕක කාලයක් යන කොට පුරුද්දට ගියා. ඒ රටාවට ඇබ්බැහි වෙලා ඇස් පේන අයත් ඒ විදියටම ඇදල කියන්න පටන් ගත්තා. එතකොට පිරිත ඇදල කියන්න පටන් ගත්තෙ දැන් ඉන්න හාමුදුරුවරු නෙවෙයි. මීට අවුරුදු 400- 500 කට කලින් හිටපු අය. එහෙම නැතිව මේ ඇදල කියන රටාවක් කවුරුවත් හිතල මතල හැදුව නෙවෙයි. කාලයක් යද්දී ඒ ක්‍රමයට ඉබේම හුරු වුණා.

නමුත් ඒ විදියට පිරිත් කියන කොට ශබ්ද විද්‍යානුකූල ක්‍රම රටාව සම්පූර්ණයෙන්ම බිඳ වැටෙනවා. හැබැයි ඉතින් දන්න කෙනෙකුට නම් ඒ විදියට ඇද ඇද කියන්න දෙයක් නෑ. හොඳට අකුරු පැහැදිලිව පේනව නම්, ඒ වගේම මාත්‍රා ගණින හැටිත් දන්නව නම්, අර මුලින් තිබ්බ ක්‍රම රටාවට කියන්න පුළුවන්. එදා ඇස් කණ්ණාඩි තිබුනෙ නැති නිසා, අකුරු බලාගන්න බැරි වෙච්ච නිසා ඇදල කිව්වත්, අද ඇස් කණ්ණාඩි තිබිලත්, ඇස් හොඳට පෙනිලත්, ක්‍රමය දන්නෙ නැති නිසා ඒ විදියටම අදිනවා. නමුත් පිරිත කටපාඩම් කරගත්තු කෙනාට නම් ඇස් පේන්නෙ නැතිවත් කියන්න පුළුවන්. ඒ ක්‍රමය තමයි මුල් කාලෙ තිබුණේ.

එතකොට පිරිත ඇදල කිව්වයි කියල ඒ හේතුවෙන්ම ඒක විස වෙන්නෙ නෑ. ඒ පිරිතෙන් නැගෙන බලය බොහෝ කොටම අඩු වීමක් තමයි සිද්ධ වෙන්නෙ. විස වීමක් වෙන්නෙ දූෂ්‍ය හිතකින් කිව්වොත් තමයි. නමුත් පිරිත ඇදල කියන කොට එක අතකින් චිත්ත ප්‍රසාදය අඩු වෙනවා. අනික් පැත්තෙන් ඒකෙන් නැගෙන ශක්තිය අඩු වෙනවා. එහෙම නැතිව මහ විනාසයක් වෙන තරම් දෙයක් ඒකෙන් වෙන්නෙ නෑ. මොකද ඇදල කිව්වත්, දූෂ්‍ය මනසකින් තොරව නම් ඒක කිව්වෙ විස වෙන්න විදියක් නෑ. නමුත් දූෂ්‍ය මනසක් එන කොට එතනදි එන ශක්තිය විසම වෙනවා. හැබැයි දූෂ්‍ය මනසකින් පිරිතක් කියන්න බෑ. ☞

පිරිතක් ඇදල කිව්වත් කෙස් ගහක හරි චිත්ත ප්‍රසාදයක නැඹුරුවක් තියෙනවා. ඒ වුනත් අර නියම ක්‍රමයට කියන්න පුළුවන්කම තියෙද්දි එහෙම නොකළම ඒකෙන් ගන්න පුළුවන් ප්‍රතිඵලය ලබන්න බැරිව යනවා.

ඊළඟට තවත් වැදගත් කාරණයක් තමයි ඒ ඒ කටයුතු සඳහා වෙන් වූ විශේෂිත පිරිත් කොටස් තිබීම. උදාහරණ විදියට ලෙඩ රෝග නිවාරණයට බොජ්ඣංග පිරිත, දරු ප්‍රසූතිය පහසු වෙන්න අංගුලිමාල පිරිත, ගිනි නිවීම සඳහා වට්ටක පිරිත, වැසි ලබා ගන්න මත්ස්‍ය පිරිත ආදී වශයෙන් ඒ ඒ කටයුතුවලට විශේෂයෙන් ප්‍රත්‍ය වෙන පිරිත් කොටස් තියෙනවා. දැන් මේ කාරණයට මුල් වෙච්ච පසු බිමකුත් තියෙනවා. මොකද **මේ බොහොමයක් පිරිත් කාණ්ඩවල තියෙන්නෙ බුදුන් වහන්සේ බෝධි සත්ව කාලෙදි පුරපු ගුණයක්, එහෙම නැත්නම් තෙරුවන් ගුණයක් අරගෙන ඒ ගුණය සිහි කරල සත්‍ය ක්‍රියාවක් කිරීම**. උදාහරණ විදියට වට්ටක පිරිත ගිනි නිවන්න හේතු වෙනවයි කියනවා. ඒකට සම්බන්ධ වෙලා තියෙන්නෙ බෝසතාණන් වහන්සේ පෙර අත් බැවක වටු පැටවෙක් වෙලා ඉදෙද්දි වෙච්ච සිද්ධියක්. ඒ අවස්ථාවෙදි ලැව් ගින්නක් හටගෙන අනික් සියලුම වටු කුරුල්ලො ඉගිල්ලිලා ගියාට පස්සෙ මේ වටු පැටිය විතරක් ඉතිරි වුණාලු. ඉතින් සසර පුරුද්ද මතු වෙලා වෙන්න ඇති, මගෙ අම්මත් නෑ, තාත්තත් නෑ, මම කෙනෙකුට කරදර කරන්නෙ නෑ, ඒක සත්‍යයක් නම් මේ ගින්න නිවේවා කියල මේ වටු පැටිය අධිෂ්ඨානයක් කළයි කියනවා. අධිෂ්ඨානයක් කියල කිව්වට ඒක සමහර විට යම්කිසි ආකාරයක හැඟීමක් වෙන්න පුළුවන්. සතුන්ගෙ හැඟීම් සම්බන්ධයෙන් මීට පෙරත් ''අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්'' ලිපි පෙළ යටතේ විශේෂිත කරුණු ඉදිරිපත් කරල තියෙන නිසා ඒ ලිපි පෙළ කියෙව්ව නම් මේ කාරණය තේරුම් ගන්න පුළුවන්. ඉතින් කොහොම හරි එහෙම අදහසකින් හෝ සසර තිබිච්ච හේතු වාසනාවක් හෝ ඇවිත් ඒ ගින්න නිවුනලු. අන්න ඒ කාරණය සත්‍යයක් විදියට අරගෙන, ගින්නෙන් දැවෙන ගති ලක්ෂණ තියෙනව නම් මේ වට්ටක පිරිත ගිනි නිවීම් ආදී කටයුතුවලට යොදා ගන්නවා.

ඊළඟට මත්ස්‍ය පිරිත කියන්නෙ වැසි වස්සවන්න පුළුවන් පිරිතක්. එතනදි බෝසතාණන් වහන්සේ මත්ස්‍යයෙක් වෙලා හිටපු අත්බැවක වෙච්ච සිදුවීමක් ගැන කියනවා. ඒ බෝසත් මත්ස්‍යයා ඇසුරෙ හිටපු මත්ස්‍ය පිරිසක් වෙනත් සතුන්ගෙ මස් කැවෙ නෑ කියල පෙන්වනවා. උන් කැවයි කියන්නෙ පැළෑටි වර්ග, පාසි වර්ග වගෙ දේවල්. අන්තිමට ඉඩෝරයක් ඇවිත් උන් හිටපු ජලාශයේ වතුර හිඳිල විනාස වෙන්න යන කොට, අර නායක බෝසත් මත්ස්‍යයා ඒ තිබිච්ච සසර පුරුද්දත්, යම්කිසි පුණ්‍ය ශක්තියකුත් නිසා අධිෂ්ඨානයක් කළාලු. එතනදිත් කලින් වගේම මොනව හරි අදහසක්, හැඟීමක් තමයි දෙන්න ඇත්තෙ. අපි කිසිම සතෙකුට හිංසා හිංසා කරල නෑ, අපි මේ දැහැමින් ජීවත් වෙලා ජීවිත ගත කරන්නෙ, ඒක සත්‍ය නම් අපි සතුන්ට ගොදුරු නොවෙන්න වැසි වසීවා කියල කරපු අධිෂ්ඨානයක් ගැන සඳහන් වෙනවා. ඒ බෝසත් පාරමිතාව නිසා තිබිච්ච ශක්තියට මහ වැසි වැහැල වැව් පිරිල ගියාලු. ඒ සත්‍ය බලය අරගෙන ඒක මුල් කරල හදපු පිරිතක් තමයි මේ මත්ස්‍ය පිරිත කියන්නෙ. ඒකෙන් කලට වෙලාවට වැසි වස්සවන්න පුළුවන් ශක්තියක් ලැබෙනවා.

ඒ වගේම දැන් මේ මත්ස්‍යයින් වෙනත් සතුන්ගෙ මස් නොකැවයි කිව්වම, ඒ කාරණය සම්බන්ධයෙන් අදත් අත්දැකීම් තියෙනවා. ඒ කියන්නෙ මේ සුරතලයට ඇති කරන මසුන් අතර ප්‍රධාන කොටස් 2 ක් ඉන්නවා. කළු පාටට හුරු එක වර්ගයක් මස් විතරමයි කන්නෙ. නමුත් එක්තරා සුදු පාට මසුන් වර්ගයක් ඉන්නවා, උන් කංකුං වගේ කොළ ජාති විතරයි කන්නෙ. කොච්චර මස් දැම්මත් උන් ඒ පැත්තවත් බලන්නෙ නෑ. ඉතින් ඒ වගේ මසුන් අදත් ඉන්නවා. ඔය අතර අර වගේ පෙරුම් පුරන සත්තුත් ඉන්න පුළුවන්.

කොහොම හරි මේ සත්‍ය ක්‍රියාවකට විශේෂ බලයක් තියෙනවා. එතනදි තමන්ගෙ හෝ අනුන්ගෙ හෝ තියෙන යම් කිසි සත්‍යයක් මුල් කරගෙන, මේ සත්‍ය බලය පිහිටාවා කියල, ඒ සත්‍ය බලයෙන් යම් කිසි දෙයක් ඉෂ්ට සිද්ධ වෙන්න කියල අධිෂ්ඨානයක් කරන්න පුළුවන්. පෙර හිටපු අභිසාරිකාවකුත් එහෙම සත්‍ය ක්‍රියාවක් කරල ගංගාවක් උඩට ගලා යෑමේ සිද්ධියක් දහමේ සඳහන් වෙනවා. එතනදි ඒ අභිසාරිකාව, තමන් යම් පුරුෂයෙක් දිනකට මිලට ගත්තොත් ඒ දවස ඇතුලත ඒ පුරුෂයා හැර වෙනත් පුරුෂයෙක් දිහා ඇහැවත් ඇරල බලන්නෙ නෑ කියල, ඒ සත්‍ය බලයෙන් මේ ගඟ උඩට ගලා යාවා කියල සත්‍ය ක්‍රියාවක් කරන කොට ඒ ගංගාව උඩු අතට ගලාගෙන ගියාලු. එතකොට එදා හිටපු අභිසාරිකාවකුත් තමන්ගෙ තියෙන සත්‍යයක් මුල් කරගෙන කරපු සත්‍ය ක්‍රියාවකින් ගංගාවක් උඩු අතට ගලාගෙන ගියා නම්, බෝසත් පාරමිතා පුරන අය කරන සත්‍ය ක්‍රියාවන් බොරු වෙන්න විදියක් නෑ. මේ වගේ විවිධාකාරයෙන් කරන සත්‍ය ක්‍රියා තියෙනවා. ඒ නිසා තමයි බෝසතාණන් වහන්සේ කාලෙ පුරපු යම් පාරමිතා ශක්තියක් අරගෙන, උන් වහන්සේ කරපු ඒ ශක්තියේ බලයෙන් යම් යහපත් දෙයක් සිද්ධ වෙන්න කියල සමහර පිරිත් කොටස් හදල තියෙන්නෙ.

ඉතින් ලොව්තුරා බුදුන් වහන්සේගෙ ශක්තියක් අරගෙන කියන කොට, ඒක සත්‍ය නම් මෙසේ වේවා කියල අනියමාර්ථයෙන් කියන්න දෙයක් නෑ. ඒකාන්තයෙන්ම ඒක සත්‍යයි, ඒ සත්‍ය බලයෙන් මේ කාරණය ඉෂ්ඨ සිද්ධ වේවා කියල කියන කොට ඒකෙන් විසාල බලයක් නැගෙනවා. බුදු පියාණන් වහන්සේ අරහං නම් වන සේක, ඒ බලය සත්‍යයි, ඒ සත්‍ය බලයෙන් මේ යහපත සිද්ධ වේවා කියල සත්‍ය ක්‍රියාවක් කරන කොටත්, ඒක වෙන්න පුළුවන් දෙයක් නම්, හේතු තියෙ නම් ඒ සඳහා තියෙන බාධක ඉවත් වෙලා ඒ කාරණය ඉෂ්ඨ සිද්ධ වෙන්න හේතු යෙදෙනවා. ඒ වගේ මොනව හරි සත්‍ය බලයක් මූලික සිද්ධාන්තයක් විදියට අරගෙන තමයි මේ හැම පිරිත් වර්ගයක්ම හදල තියෙන්නෙ. ඒ සත්‍ය බලයෙන් ලෝකයාට හෝ තමාට හෝ යහපතක් වේවා කියල ගන්නවා.

ඒ වගේම **මේ ශබ්ද විද්‍යාවේ සත්‍යතාවය සම්බන්ධයෙන් නූතන විද්‍යාවෙන් පවා පරීක්ෂණ කරල ඔප්පු කරල තියෙනවා.** ජපානයේ ආචාර්ය මසාරු එමිටෝ කියන විද්‍යා පර්යේෂකයෙක් ඒ වගේ පරීක්ෂණවලින් හෙළිදරව් කරගත්තු මූලික කරුණක් තමයි මනුස්සයින්ගෙ කම්පන ශක්තිය, හැඟීම්, වචන, අදහස් ප්‍රකාශ කිරීම සහ සංගීතය ආදිය ජලයේ තියෙන පරමාණුක සැකැස්ම වෙනස් කරන්න බලපාන බව. මේ පරීක්ෂණවල සත්‍යතාවය තහවුරු කරන්න විවිධ තැන්වලින් ලබාගත්තු ජල සාම්පල ඔහු විසින් පරීක්ෂණවලට ලක් කරල තියෙනවා. ඒ කියන්නෙ ස්වභාවික ජලාශවල ජලය, අපිරිසිදු ජලය, මනුස්සයින් පරිහරණය නොකරපු ස්ථානවල තියෙන ජලය, ඒ වගේම විවිධ සෝෂාකාරී ස්ථානවලට නිරාවරණය වූ ජලය වගේම යම්කිසි සංගීතයකට, කාරුණික වචනවලට, සැඩ පරුෂ වචනවලට ආදී වශයෙන් විවිධ ශබ්ද රටාවන්ට නිරාවරණය වෙච්ච ජලය අරගෙන, ඒ ජලය මිදෙන්න සලස්වල අති දියුණු අන්වීක්ෂ මගින් ඒ ජල සාම්පලවල පරමාණුක සැකැස්ම ඡායාරූප ගත කරල තියෙනවා. එතකොට ඒ ඒ අවස්ථාවල ඡායාරූපවල වෙනස්කම් පරීක්ෂා කිරීමෙන්, ඒ ඒ අවස්ථාවලට තිබිච්ච ජලයේ පරමාණුක සැකැස්ම වෙනස් වෙන බවත් ඒකෙන් ඔප්පු කරල තියෙනවා.

*වෑරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නිතිඥ චන්දන සිරිවර්ධන**

# ද්‍රව්‍ය පදාර්ථ ඥානයට හසුවන විවිධ ශාකවල සැඟව ගිය ඖෂධ ශක්තීන්

**7 වන කොටස**

මුල් කාලෙ හිටපු මිනිස්සු ළඟ තිබිච්ච විවිධ ගති ගුණ ක්‍රමයෙන් දුරස් වෙලා ගිහින් ඒවාට හිමි ශක්තිය විවිධ ශාකවල පිහිටපු හැටිත්, ඒ අනුව ඒ ඒ ශාකවල තියෙන විවිධ ඖෂධ ශක්ති විශේෂ ගැනත් පසුගිය ලිපි කිහිපයකින්ම හෙළිදරව් කළා. ඉතින් මේ විදියට අහුවෙන හැම ශාකයක්ම විස්තර කරන්න ගියොත් ඒක කෙළවරක් වෙන්නෙ නෑ. ඒ තරම් දුරට දන ගැනීමත් අවශ්‍ය නෑ. මොකද මේ හැම ශාකයකම ඖෂධීය ශක්තිය හොයන්න ගියොත් විවිධ ශාක වර්ග විවිධ වෙනස්කම් සහිතව අනන්තවත් තියෙනවා. ඒ නිසා සාමාන්‍යයෙන් මනුස්සයින්ට නිතර නිතර ප්‍රයෝජනවත් වෙන, ඇහැට දක බලා ගන්න තියෙන ශාක වර්ග කිහිපයක පිහිටපු ඖෂධ ශක්ති විතරයි මෙච්චර කලක් ඉදිරිපත් කළේ. මේ ශාකවල මේ විදියට සැඟව ගිය ඖෂධ ශක්ති තියෙන බවත්, ඒවා පටිච්ච සමුප්පන්නව හැදිච්ච හැටිත් පෙන්වන්න තමයි ඒ වගේ විග්‍රහයක් කළේ. ඒ නිසා මින් ඉදිරියට මේ ගැන වෙනම ලිපි පෙළක් ඉදිරිපත් නොවුනත් අවශ්‍ය අවස්ථාවල, විශේෂයෙන් විවිධ රෝගවලට ඖෂධ වර්ග හෙළිදරව් කරන කොට අවස්ථානුකූලව තවත් ශාකවල සැඟවිලා තියෙන ඒ වගේ ශක්ති විශේෂයන් ගැන විස්තර ඉදිරිපත් කරන්න බලාපොරොත්තු වෙනවා. ඒ නිසා තවදුරටත් ශාක වර්ගවල සැඟව ගිය ඖෂධ ශක්ති ගැන හෙළි කිරීමේ ලිපි පෙළ අවසන් කිරීමට මත්තෙන් ඒ පිළිබඳව කෙටියෙන් තැබෙන සටහනක් තමයි මේ.

ශාක ගැන කතා කරන කොට තවත් වැදගත් අංශයක් තමයි ආයුර්වේදය කියන්නෙ. මේ ආයුර්වේදය ගැන කතා කරන කොට ජීවක වෙද මහත්තයට සම්බන්ධ වැදගත් කතාවක් තියෙනවා. එතනදි ජීවක කියල කියන්නෙ එදා තිබිච්ච යම්කිසි තානාන්තරයක්, උපාධියක් වගේ දෙයක්. ඒ තානාන්තරය දෙන්න ජීවක වෙද මහත්තයත් එක්ක ඉගෙන ගත්තු තවත් පිරිසකට තමන්ගෙ ගුරුවරු දනුම් දුන්නලු, බේතකට ගන්නෙ නැති මොනව හරි දෙයක් අරගෙන එන්න කියල. ඉතින් ඒ අය ගිහින් එක් කෙනෙක් වර්ග 4 කුත්, තව කෙනෙක් වර්ග 3 කුත්, අනෙකා වර්ග 2 කුත් ගෙනාවලු. ජීවක විතරක් නිකං අත් දෙක වන වන ආවලු එකක්වත් නෑ කියල. ඊට පස්සෙ අර ගුරුවරු ජීවකගෙන් ඇහුවලු, ඇයි ඔබ විතරක් නිකං ආවෙ කියල. ගේන්න එකක්වත් නෑ, සියල්ලම බේත්වලට ගන්න ඒවා කියල ජීවක උත්තර දුන්නලු. එහෙනම් මේ ගෙනත් තියෙන්නෙ කියල අනිත් අය ගෙනාපු ඒව පෙන්වන කොට ජීවක උත්තර දුන්නලු, ඉතින් ඔබතුමන්ලාමනෙ කිව්වෙ මේ මේ ජාතිය මේ මේ බේත් වර්ගයට ගන්නව කියල. එතකොට අර අනික් අය ඒ කාරණය දන්නෙ නැතිව තමයි ඒ ශාක හෝ ද්‍රව්‍ය තෝර ගෙන ඇවිත් තිබුණෙ. ඊට පස්සෙ ජීවක වෙද මහත්තයට වෛද්‍ය ශාස්ත්‍රය පිළිබඳ එදා තිබිච්ච පළවෙනි තැන ලැබුණා. මොකද වෙදකම පිළිබඳව සියල්ලම දන ගෙන හිටපු නිසා.

මේකෙන් බොහොම වැදගත් කාරණයක් පෙන්වනවා. ඒ තමයි මේ



**ලෝකයේ බෙහෙතකට නොගන්න කිසිම ශාකයක් හෝ ද්‍රව්‍යයක් නෑ කියන කාරණය. නමුත් අද බේත්වලට ගන්නෙ මේ ශාකවලින් අල්ප මාත්‍රයයි.** ගස්කොළංවල මුල්, මල්, ගෙඩි, පොතු, කොළ ආදී වශයෙන් අද බේත්වලට ගන්නෙ අල්ප මාත්‍රයයි. නමුත් මේ හැම ශාකයකම විවිධ ලෙඩ රෝගවලට ගන්න මොනව හරි ඖෂධ ශක්තියක් තියෙනවා. ඒත් ඒව අද ඉන්න අය දන්නෙ නෑ. ඒව බහුතරයක් වැහිල ගිහින්. ඒ වගේම ඒව තිබුණත් සියල්ලම කියන්න පුළුවන්කමක් නෑ. මොකද ඒ තරම් මේ ශාක වර්ග ව්‍යාප්තයි. නමුත්, මේව මේ කවද බේත්වලට ගත්තු ඒවද, ඕව එක එක්කෙනාගෙ මතනෙ කියල, එහෙම වැරදි ආකල්ප ගන්න හොඳ නෑ. මොකද සමහර විට කවුරුවත් බේත්වලට ගත්තෙ නැති, දනට ගන්නෙත් නැති ශාක වර්ගවල තියෙන ඖෂධ ශක්ති ගැන කිව්වම, ''මොන බේත්ද? ඕව වල් ගස්නෙ ! වස ! '' මේ ආදී වශයෙන් කියල කෙනෙක් පහත් කරල කතා කරන්න පුළුවන්. නමුත් කාටවත් එහෙම කියන්න පුළුවන්කමක් නෑ. මොකද මේ සිද්ධාන්තය අනුව බෙහෙත්වලට නොගන්න කිසිම ශාකයක් ලෝකෙ නෑ. වස වුනත් බෙහෙත්වලට ගන්න අවස්ථා තියෙනවා. නමුත් ඒ කාරණය නොදන්න එකයි අද ගැටළුව වෙලා තියෙන්නෙ.

**මනුස්සයින්ගෙ ගති ගුණ දුරස් වෙලා ඒ ශක්තිවලින් ඇති වෙච්ච මේ හැම ශාකයකම යම් ඖෂධ ශක්තියක් තියෙන බව මූලික සිද්ධාන්තයක්.** එතකොට ලෙඩ රෝග කිව්වම හැම ලෙඩ රෝගයකටම බේතක් හෝ ක්‍රමයක් තියෙනවා. නමුත් හොයා ගන්න බැරිකමයි ගැටළුව වෙලා තියෙන්නෙ. කර්ම රෝග කියල කිව්වත්, කර්මය උපනිශ්‍රය වෙනව මිසක් ඒක විතරක් බලපාන්නෙ නෑ. කර්ම මූලිකම වෙලා හැදෙන කර්මජ රෝගවලට කරන්න දෙයක් නෑ. ඒකට ප්‍රතිකර්ම කරන්න ඕන. මොකද ප්‍රතිකර්මයයි, උපක්‍රමයයි (බෙහෙත) කියල දෙකක් තියෙනවා. එහෙම ප්‍රතිකර්ම කරල බේරෙන්න පුළුවන් අවස්ථා තියෙනවා. උදාහරණ විදිහට පාප කර්මයට පුන්‍ය කර්මයකින් වන්දි ගෙවනවා. හැබැයි කර්ම රෝගයක් කියල අපි නිගමනය කළාට, ඒ කර්ම රෝග වුනත් සමනන්තරයක් නොතිබුනොත් විපාක දෙන්න නිකං ඇදිල එන්නෙ නෑ. මොකද ලෝකෙ ආරම්භක මනුස්සයින්ට ස්වභාවික විපතත්, වයසට යෑමත්, මරණයත් හැරෙන්න වෙනත් ලෙඩ රෝග තිබිල නෑ. එතකොට ඒ කාලෙ ලෙඩ රෝග හැදෙන්න මිනිස්සු කර්ම කරල තිබුනෙ නැද්ද? ඒවට අවශ්‍ය පරිසරය තිබුනෙ නැති නිසා කර්ම රෝග ගැන කියවෙන්නෙ නෑ.

නමුත් දැන් කර්ම රෝග කිව්වම අංශ භාගය, පිළිකාව, පොතු කබර, මීමැස්මොරය වගේ රෝග 9 ක් විතර සඳහන් වෙනවා. ඒව තමයි පූර්ණ කර්ම රෝග කියල කියන්නෙ. නමුත් මොන කර්ම රෝගයක් වුනත් ඒවට අවශ්‍ය පසුතලය (සමනන්තරය) හැදුනොත් තමයි කර්ම ශක්තියෙන් ඒ රෝගය හට ගන්නෙ. එතකොට මුල් කාලෙ අර කියපු ස්වභාවික විපත්, වයසට යෑම, මරණය හැර වෙනත් කර්ම රෝග කියල දෙයක් තිබිල නැත්නම්, ඒ කාලෙ අංශ භාගය තිබිලත් නෑ, පිළිකාව තිබිලත් නෑ, ඔය එකක්වත් තිබිල නෑ. නමුත් කර්ම රෝග තිබිල නැති නිසා ඒව ආවෙ නැත්නම්, දැන් තියෙන අනෙක් රෝග (කර්මජ නොවන) හැදෙන්න ඕන. නමුත් එහෙම වෙනත් රෝගයක්වත් මුල් කාලෙ තිබිල නෑ. එතකොට ඒ කාලෙ කර්ම රෝග හෝ වෙනත් රෝග හට ගන්න ☞

සමනන්තරයක් (පරිසරයක්) තිබිල නෑ. නමුත් දැන් අවශ්‍ය කරන පරිසරය තියෙනවා. ඒ නිසා කර්ම රෝග වගේම වෙනත් රෝගත් හට ගන්නවා. නමුත් සමනන්තරය හැදීම වළක්වන්න පුළුවන් නම්, ඒකටත් ප්‍රතිකර්මයක් තියෙනවා. එතකොට දැන් තියෙන තත්වෙ අනුව සමනන්තරය හැදෙන එක වැළැක්වීම ලේසි පහසු වැඩක් නෙවෙයි. මොකද ඒක තමන් විතරක් කරල හරි යන්නෙ නෑ. පුද්ගලිකව සමනන්තරයක් හදා ගැනීම වැළැක්වුවොත් තමන්ගෙ පුද්ගලික ටික විතරක් කරගන්න පුළුවන්. නමුත් පොදුවේ සමාජයට ලෝකයට යහපතක් වෙන්න නම් පොදුවේ සමනන්තරය නැති කරගන්න ඕන. එතනදි දස අකුසලය සහිත පාප සමනන්තරය වැළැක්වීමත්, යහපතට හේතු වන දස කුසල සමනන්තරය ගොඩනැගීමත් තමයි කරන්න ඕන.

දැන් මේකට උදාහරණයක් විදියට බෝසතාණන් වහන්සේ ගැන කියවෙන කතාවක් ධර්මපාල ජාතකයේ තියෙනවා. ඒ ධර්මපාල කුමාරයගෙ පරම්පරාවෙ අය කවුරුවත් අඩු වයසින් මැරෙන්නෙ නෑ කියල කතාවක් තිබුණා. ඒකට හේතුවත් ඒ අය කියනවා. සතුන් නොමරම්හ - අන් දෙය නොගනුම්හ - නගුන් මවුන් ලෙස අන් ලියො සලකම්හ - බසින් බොරු වැළකී මත් පැන් නොබොනුම්හ - එහෙයින් අපේ දරුවෝ නොම මියයම්හ... මේ ආදී වශයෙන් පෙන්වපු කවි මාලාවක් තියෙනවා. මොකද ඒකට හේතුව, වතාවක් ධර්මපාල කුමාරයගෙ දරුවෙක් මැරිල කියල එක්තරා පුද්ගලයෙක් එළු ඇට වගේ මොනව හරි ඇට වර්ගයක් ගෙනත්, මේ දරුවගෙ ඇට සිහි වෙන්න ගෙනාව කියල ධර්මපාල කුමාරයට පෙන්නුවම, කුමාරය ඒක බොරු කියල ගණන් නොගෙන හිටියා. එහෙම නොපිළිගෙන, කවදාවත් අපේ දරුවො අඩු වයසින් මැරෙන්නෙ නෑ කියල පෙන්නුවා. ඒකට හේතුව අහපුවම, කවදාවත් අපේ පරම්පරාවෙ අය තියා, අපේ ප්‍රදේශයේ අයවත් මේ දුෂ්චරිත වැඩ කරන්නෙ නෑ කියල පෙන්වල, ඒ හේතුවෙන් අපේ දරුවො අකාලයේ මියයන්නෙ නෑ කිව්වා. එතකොට දරුවන් අකාලයේ නොමැරෙනව කිව්වම මරණය එන්න තරම් දරුණු කර්ම රෝග තිබිල නෑ. මොකද ඒකට අවශ්‍ය කරන පොදු පසුතලය එදා වැහිල තිබුණා. ඒ කියන්නෙ දස අකුසලයෙන් තොර පරිසරය.

ඉතින් අදත් ඒ ටික කළොත් ලෙඩ රෝග එන්න විදියක් නෑ. නමුත් අද රටේ ලෝකෙ තියෙන තත්ත්වය අනුව කවදාවත් සාමාන්‍ය කෙනෙකුට එහෙම පොදු පරිසරයක් හදන්න පුළුවන්කමක් නෑ. හැබැයි සක්විති රජ කෙනෙක් පහළ වුනාම, ඒ රජතුමාගෙ පුණ්‍ය ශක්තියෙන් ඒ වගේ පොදු පසුතලයක් හැදෙන කාලයක් එනවා. එතනදි ඒ සක්විති රජතුමාගෙ පුණ්‍ය ශක්තියට ඒ කාලෙ ඉන්න මනුස්සයින් කිසිවෙකුටත් පංච දුෂ්චරිත, දස අකුසල් කරන්න බැරිව යනවා. ඒව ඉබේම මැඩ පැවැත්වෙන ශක්තියක් එනවා. හැබැයි ඒ වගේ දෙයක් ලොවුතුරා බුදුන් වහන්සේ නමක් පහළ වුණාමවත් සිද්ධ වෙන්නෙ නෑ. මොකද ලොවුතුරා බුදු කෙනෙක් පහළ වෙන්නෙ ලෝක පාලනයට අත ගහන්න නෙවෙයි. නමුත් බුදුන් වහන්සේත් පෙරුම් පුරන බෝධිසත්ව කාලෙදි ඒ වගේ සක්විති රජ වෙලා අනන්තවත් වාරවලදි ඔය කියන ශක්තිය පහළ කරල දීල, ලෝකයට ආවරණය සලසල දීල තියෙනවා. හැබැයි ලොවුතුරා බුදු වුනාට පස්සෙ ඒ වගේ දේවල් කළේ නෑ. මොකද පස් පවු, දස අකුසල්වලින් තොර සමාජයක් හදන්න නෙවෙයි ලොවුතුරා බුදුන් වහන්සේ නමක් පහළ වෙන්නෙ. ඒක ලෝක පාලක ශක්තියට අයිති දෙයක්. හේතු වාසනා තියෙන අතලොස්සක් පිරිසට මේ සංසාර දුකෙන් එතෙර වෙලා, සියලු දුක් කෙළවර කර ගන්න නිවන් මග පෙන්වන දහම දේශනා කරන්න තමයි උන් වහන්සේ පහළ වෙන්නෙ. මේ කාරණය මෙච්චර දුරට විග්‍රහ කළේ, මේ වෙන කොට වැහිල තියෙන කාරණා ටිකක් පෙන්වල දෙන්න.



එතකොට ආදි කල්පයේ මුල ගත්තොත්, මූලික වශයෙන්ම දැන් වගේ කාන්තාර තත්ත්ව තිබුනෙ නෑ. ඉස්සෙල්ලම තිබුණෙ ජලයක්. ඒ ජලය මත කිරි යොදයක් වගේ සාරත්වයක් තිබුණා. ඒ වගේම පොළවෙ අඩිය ගහන්න ඕන කමක් තිබුණෙත් නෑ. මොකද ශරීර බොහොම සැහැල්ලුයි, බර නෑ. පාවෙලා හිටිය මිසක් පොළවෙ අඩිය ගහල නෙවෙයි හිටියෙ. එතකොට නිදාගන්න තරම් මහන්සියකුත් නෑ. නිදිමතක් එන්න තරම් කරජ කයක් තිබුණෙත් නෑ. නිකං පාවෙවී දේවතාවො වගේ හිටියෙ. අද වගේ කාලගුණ, දේශගුණ විපර්යාස තිබුණෙත් නෑ. මොකද ඉර හඳ තාරකා පහළ වුනේ පස්සෙ. මූලික වශයෙන් තිබුනෙ මනුස්සයින්ගෙ ස්වයං ප්‍රභා ආලෝකය. නමුත් කාලයක් යන කොට සෑහෙන වශයෙන් ලෝකෙ පරිවර්තනය වෙලා සන්නිභවනය වෙලා මූලික පස් තට්ටුවත් හැදිල ඉවරයි. ඒ විදියට ක්‍රමයෙන් වටින්ම සන්නිභවනය වෙවී ඇවිත් ඊළඟට පොළවෙ අඩිය ගහන්න පුළුවන් මට්ටමට ආවා. එතකොට අර මුලින් තිබිච්ච රස ධාතුවත් අතුරුදන් වෙලා ගියා. ඊට පස්සෙ තමයි ගස් කොළං හැදෙන්න පටන් ගත්තෙ. ඊළඟට ක්‍රමයෙන් පරිසරයෙ තිබිච්ච සීතල ගතිය අඩු වෙන්න පටන් ගත්තා. මුලින් තිබුණු ශරීරවලටත් ඒ තිබිච්ච සීතල ඔරොත්තු දුන්නා. මොකද සියුම් කයක් නිසා. සන්නිභවන කයකට තමයි අධික සීතල දැනෙන්නෙ. සියුම් කයට ලැබෙන චිත්ත රූප අනුව සීත උෂ්ණ සම වෙනවා. ඊට පස්සෙ තමයි ක්‍රමයෙන් සන්නිභවනය වෙලා විවිධ රසායන සංයෝග හැදුනෙ. ඊළඟට ඒවායින් තමයි ගස් කොළංවලට, සත්ත්වයින්ට අවශ්‍ය මූල පදාර්ථ හැදුනෙ. එහෙම සංසේදජ ක්‍රමයට තමයි මුලින්ම ආරම්භ වුණේ.

මනුස්සයින් පහළ වෙච්ච මුල් කාලයේ මේ ගස් වැල් කිසිවක් තිබුනෙ නැති බවත්, මනුස්සයින් ස්වයං ප්‍රභා ආලෝකයෙන් ජීවත් වෙච්ච බවත් මීට කලිනුත් විස්තර කළා. ඊට පස්සෙ මනුස්සයින් ක්‍රමයෙන් දස අකුසලයට නැඹුරු වෙන කොට ඒ තිබිච්ච විවිධ ගතිගුණවලට අදාල ශක්තීන් දුරස් වෙලා ගිහින් තමයි දැන් තියෙන විවිධාකාර ශාක වර්ග හට ගත්තෙ. දැන් එතකොට කෙනෙකුට තවත් ප්‍රශ්නයක් එන්න පුළුවන්, එහෙනම් තව දුරටත් මනුස්සයින්ගෙ තියෙන ගති ගුණ දුරස් වෙන කොට ඒවාට හිමි ශක්තිවලින් ඉදිරියේදි තවත් නව ශාක වර්ග හට ගන්න පුළුවන්ද කියල. පැහැදිලිවම ඒක සිද්ධ වෙන්න පුළුවන්. මොකද මනුස්සයින්ගෙ ගති ගුණ දුරස් වීම තවමත් ඉවර වෙලා නෑ. මනුස්සයින්ගෙ පරමායුස අවුරුදු 10 ට අඩු වෙන කල්ම ඒ ගති ගුණ දුරස් වීම සිද්ධ වෙනවා. එතකොට ඒ අතරතුර සිද්ධ වෙන දහම් බැබලීම්, යුග පරිවර්තන කලින් කලට තියෙන්න පුළුවන්. නමුත් පොදුවේ ලෝක පරිණාමික ක්‍රියාවලිය ඒ විදියටම සිද්ධ වෙනවා.

දැන් මේ විදියට ඉස්සරහට මනුස්සයින්ගෙ තියෙන ගුණ ධර්ම තව තවත් ගිලිහෙන්න තවත් පිරිහෙනවා. දැන් ගුණ ධර්ම කියල කිව්වට මුල් කාලෙට සාපේක්ෂව වැඩි පුරම තියෙන්නෙ අගුණ. හැබැයි අගුණ කියන්නෙත් සාපේක්ෂව බැලුවම එක්තරා මට්ටමක ගුණයක්. සුනාපරන්ත දේශයට වැඩම කරපු පුණ්ණ හිමියන්ගෙ කතාවෙන් ඒ කාරණය වටහා ගන්න පුළුවන්. උන් වහන්සේ ඒ ප්‍රදේශයට වඩින්න සූදානම් වෙන කොට ඒ ප්‍රදේශයේ ඉන්න මිනිස්සුන්ගෙ ස්වභාවය දැකල, බුදුන් වහන්සේ මෙහෙම අහනවා. ඒ ප්‍රදේශයේ මිනිස්සු ඔබට බැන්නොත් මොකද කරන්නෙ කියල ඇහුවම, ඒත් ඉතින් ඒ මිනිස්සු ගහන්න තරම් සැඩ පරුෂ නැනෙ, ඒකත් මම ගුණයක් විදියට දකිනවා කියල උන් වහන්සේ උත්තර දෙනවා. ඒ කියන්නෙ බැනල නතර වීමත් ගුණයක්. බනින ගති ලක්ෂණය ඉක්මවා ගියේ නෑ. එතකොට බනිනව කියන්නෙත් හිත ☞

රිදෙන කටුක ගති ලක්ෂණයක්. හැබැයි සාපේක්ෂව ගුණයක්. මොකද ඒ බැනීම ගහන තරමට ඉක්මවා ගියේ නෑ.

ඊළඟට ගැහුවොත් මොකද කරන්නෙ කියල ඇහුවම, ගැහුවත් ඒ අය තුවාල කරන්න තරම් දරුණු නෑ කියල ඒක ඒ අයගෙ ගුණයක් හැටියට දකිනව කියනවා. එතකොට ඒකත් සාපේක්ෂව ගුණයක්. ඊළඟට තුවාල කළොත් මොකද කරන්නෙ කියල ඇහුවම, ඒ අය අත පය කඩල දාන්න තරම් දරුණු නෑ, ඒකත් ගුණයක් හැටියට දකින බව කියනවා. ඒ විදියට තවත් පහළට යන කොට අතපය කැඩුවත්, මරන්න තරම් සැඩ පරුෂ නෑ කියන එකත් සාපේක්ෂව හොඳ ගුණයක් විදියට දකිනවා. අන්තිමට මරල දැම්මොත් මොකද කරන්නෙ කියල ඇහුවම, මේ කුණු කයක් දරාගෙන ඉන්නවට වැඩිය මට ඒකත් හොඳයි කියල, මම නිවනට හිත පිහිටුවා ගන්නව කියන කොට, ඔබට ඒ ප්‍රදේශය බොහොම හොඳට ගැලපෙනව කියල බුදුන් වහන්සේ ඒ කාරණය අනුමත කළා. මෙන්න මේ විදියට තමයි ගුණ කියන ඒවත් ක්‍රමයෙන් දුරස් වෙන්නෙ.

**ඉතින් මුලින්ම හොඳම ගති ලක්ෂණ ගිලිහිලා ගිහින් තවත් ගුණ හීන වෙලා යන කොට, සාපේක්ෂව හොඳ ගති ගුණවලින් අඩු ගති ලක්ෂණ තමයි දැන් දුරස් වෙන්නෙ.** එතකොට එහෙම ක්‍රමයෙන් දුරස් වෙන කොට අන්තිමට කටුක ගති ලක්ෂණ තමයි පිට වෙන්නෙ. තවත් කටුක වෙන කොට අලුතින් හට ගත්තත් කටු පඳුරු සහිත කර්කෂ ශාක තමයි බොහෝ කොටම හට ගන්නෙ. ඒවායෙ ගුණාත්මක ශක්තියත් අඩුයි. උදාහරණ විදියට අදත් විවිධ තැන්වල හුඟක් ලස්සන වෛර්ණ මල් ජාති අලුතින් තිබුණට, ඒවායෙ ස්වභාවය ගත්තොත් බොහෝ කොටම කටුකයි. ඒ වගේ, කටුක ජීවිතයක් තිබුණත් නිතර බාහිරව හැඩරුවින් ඉන්න බලන නිසා අලුතින් හැදෙන්නෙ කටු සහිත, ඒත් ලස්සන මල් පිපෙන ශාක. සමහර විට ලස්සනට සුවඳට හැදිල තියෙනවා. ඒත් ලස්සන සුවඳ විතරයි. වැඩක් කරගන්න, විශේෂ ඵල ප්‍රයෝජනයක් ගන්න තරම් වටින්නෙ නෑ. එහෙම නැත්නම් සුවඳක් නෑ, ලස්සන විතරයි. එහෙම ශාක වර්ග තමයි අද හුඟක් අලුතින් හැදෙන්නෙ. ඒ නිසා තමයි මේ කැලේ තිබිල අලුතින් කටුක ගස් හමුවෙන්නෙ. ඒවායෙ උපරිම හොඳ ගති ලක්ෂණ හුඟක් අඩුයි. ඒව බොහෝ කොටම ගිලිහිලා ගිහින්. නමුත් මොනව හරි ඖෂධ ශක්තියක් තියෙනවා. දැන් ඉන්න අය සාපේක්ෂව හොඳ වුනාට හුඟක් අයගෙ තියෙන ගති ලක්ෂණ කටුකයි. මීටත් වඩා කටුක වෙන කොට කටු පඳුරු වගේ කර්කෂ ශාක තමයි හුඟක් දුරට හැදෙන්නෙ. අලුතින් මහ ගස් හැදෙනව අඩුයි. කටුක ජීවිත ගත කරල නිකං මල් වගේ, බාහිරින් පුහු ආටෝපයට හැඳ පැළඳ ගත් ජීවිත තමයි ඒවායින් පෙන්නුම් කරන්නෙ. එහෙම ගස් ජාති තමයි අලුතින්, වැඩියෙන් පහළ වෙන්නෙ.

උදාහරණ විදියට මෑත කාලයක නොවුනත් මූලික ගස් වර්ගවලට හුඟක් පසු කාලීනව හට ගත්තු රෝස ගහ ගත්තොත් ඒකෙ මලත් සුවඳයි, ලස්සනයි. නමුත් කාමය ඇවිස්සෙන සුවඳක් තමයි ඒකට බොහෝ කොටම තියෙන්නෙ. හැඩරුව සහ පාටත් ඒ වගේමයි. ඒ නිසා තමයි අදත් ලෞකික වූ ආදර සම්බන්ධ කටයුතුවල සංකේතයක් විදියට විශේෂයෙන් රතු රෝස මල යොදා ගන්නෙ. ඒ වගේම මේ රෝස ගහේ කටු තියෙනවා. මොකද රෞද්‍ර ගතිය මුල් කරගෙන ආස කරපු ගති ලක්ෂණයක් තිබ්බ්ච කාලයක් තිබුණා. ඒ කියන්නෙ ආසාවත් තියෙනවා. නමුත් ඒක කටුක විදියට තමයි ලබාගත්තෙ. කරදර කරල, හිරිහැර කරල සැඩ පරුෂ වෙලා තමයි ඒ ආසාව සපුර ගත්තෙ. ඒ වගේ හොඳින් බැරි නම් තරකින් හරි ආස්වාදය භුක්ති විඳින්න බලාපොරොත්තු වෙනවා.





නමුත් පස්සෙ කාලෙක ඒ ගති ලක්ෂණයත් දුරස් වෙලා ගිහින් වෛර කරන්න පටන් ගත්තා. තරහෙන් පළි ගන්න පටන් ගත්තා. මට උඹව පේන්න බෑ වශයෙන් අඩත්තේට්ටම් කළා. එතකොට **කලින් තිබ්බ්ච රෞද්‍ර විදියට ආසා කරපු ගති ලක්ෂණයත් දුරස් වෙලා ගිහින් ඒ ශක්තියෙන් තමයි රෝස හට ගත්තෙ. ඒ කටුක ගති ලක්ෂණය නිසා තමයි රෝස ගහේ කටු තියෙන්නෙ. ඒ වගේම ගෙඩි තිබුණත් ඒව සතෙකුටවත් කන්න බෑ.** වෙන ගස්වල වගේ රෝස ගෙඩිවල කන්න මදයක් නෑ. කිසිම රසක් නෑ. ඒ කියන්නෙ රෝස ගහ දරන පළයත් බොහොම කර්කශයි. ඒ තමයි පෙර තිබ්බ්ච ගති ලක්ෂණය. ඒකට ලැබෙන ප්‍රතිඵලයත් රසවත් නෑ. රෝස ගෙඩි කන්න සතෙක්වත් එන්නෙ නෑ, නිකං වේලිලා යනවා.

හැබැයි සමන් වැල ගත්තොත් මිනිස්සුන්ගෙ තිබ්බ්ච ජාතිය බෝ කරන ගති ලක්ෂණයක් ගිලිහිලා ගිහින් නෙවෙයි ඒක හට ගත්තෙ. **දස අකුසල් සමනය වෙච්ච ගති ලක්ෂණය හෙවත් ශ්‍රමණ ගුණය මනුස්සයින් ළඟ මුල් කාලෙ තිබිල, පස්සෙ දුරස් වෙලා ගියාම ඒක තමයි සමන් විදියට ශාකයක පිහිටියේ.** එතකොට සමන (ශ්‍රමණ) ගුණ තමයි සමන්වල තියෙන්නෙ. ඒ ශ්‍රමණ ගුණය ජාතිය බෝ කරන ගුණයක් නෙවෙයි. බ්‍රහ්මචාරී ගුණයක්. ඒ නිසා හරි සුවඳයි. ඒ අර තිබ්බ්ච ගුණ සුවඳ නිසා. හැබැයි ඒක කාමුක සුවඳක් නෙවෙයි. ඒ ගති ලක්ෂණ සමන් මලෙත් තියෙනවා. ඒ වගේම මීට පෙර ලිපිවලින් හෙළිදරව් කරපු විදියට, සාමාන්‍යයෙන් වැලක් වෙන්නෙ, වෙලෙන එතෙන ගති ලක්ෂණ නිසා. හැබැයි මෙතනදි ශ්‍රමණ ගුණය කිව්වම ධර්මය වැළඳගෙන හිටපු ගති ලක්ෂණය ඉවත් වෙලා ගිහින් ඒකෙන් තමයි සමන් වැලක් විදියට පිහිටියේ.

නමුත් අනිත් වැල්වලට වඩා මේ සමන් වැලේ විශේෂත්වයක් තියෙනවා. ඒ තමයි ඒක වෙනත් ගස්වල එතෙන වැලක් නෙවෙයි. නමුත් වෙනත් වැල් වර්ග ගත්තොත්, තවත් ගහක වෙලෙන පැටලෙන ගතිය තමයි නිතරම තියෙන්නෙ. හැබැයි සමන්වැල එහෙම නෙවෙයි. ඒකට වෙනම කොටුවක් ගැහුවම ඒකෙම කුඩුව වගේ හැදෙනව මිසක් වෙනත් ගස් හොයාගෙන ඒවායෙ එතෙන්න වෙලෙන්න යන්නෙ නෑ. මොකද ඒකට අදාල පෙර ගති ලක්ෂණය ගත්තොත්, දහම වැළඳගෙන හිටිය මිසක් වෙනත් අයගෙ ඇඟේ එල්ලිලා වැළඳගෙන එතෙන්න ගියපු ලක්ෂණයක් නෙවෙයි තිබුණෙ. ඒ කියන්නෙ වෙනත් පුද්ගලයොත් එක්ක පුද්ගලික වෙලීම් තිබුණෙ නෑ. ඒ තමයි නියම ශ්‍රමණ ගති ලක්ෂණය. දහම වැළඳගෙන දහමෙම වෙළිල ඉන්නවා. ඒකත් වැලක් හා සමානයි. ඒක තමයි සමන් වැලක් විදියට පිහිටන්න හේතුව. ඒ වගේම ශ්‍රමණ ඵලය කියන්නෙ අත්හැරී, නොඇලී, මිදී යාම. නමුත් ලෞකික මාර්ගයේ යන අය ඵල කියල කියන්නෙ පස් කම් සැප භුක්ති විඳින්න තියෙන ඵලවලට. ඒ නිසා ඒ සඳහා ගෙඩි (ඵල) හටගන්නවා. නමුත් සමන් වැලේ ගෙඩි නෑ. මොකද ශ්‍රමණ ගුණයට අර වගේ ලෞකික ඵල බුක්තියක් තිබුනෙ නැති නිසා.

ඒ වගේම ස්වයංජාත ඇල් කියල මෑත කාලෙ නැවතත් මතු වුනේ කලින් තිබිල යටපත් වෙච්ච එකක්මයි. එහෙම දෙයක් මතු වුනාම මිනිස්සුන්ගෙ ගුණ ධර්ම වැඩුනොත් ඉදිරියට සශ්‍රීක වෙලා එන්න පුළුවන්. ඒක විවිධ පරිවර්තනත් එක්ක සිද්ධ වෙන දෙයක් මිසක් පොදුවේ ලෝක පරිණාමයත් එක්ක සිද්ධ වෙන දෙයක් නෙවෙයි.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ලෝකයේ විවිධ ආගම් සංකල්ප බිහි වූ හැටි...

*(පසුගිය කලාපයෙන්: ජීවයේ සම්භවය සහ පරිණාමය ගැන තවදුරටත්....)*

ජීවීන්ගේ සම්භවය සහ භෞතිකව සිද්ධ වූ පරිණාමය ගැන ධර්මානුකූල පැහැදිලි කිරීමක් තමයි පසුගිය ලිපිවලින් හෙළිදරව් කළේ. දැන් මේ හෙළිදරව් කරන්න යන්නෙ ඒ වගේ තවත් පරිණාමික ක්‍රියාවලියක් ගැන. ඒ තමයි මේ වෙන කොටත් බිහි වෙලා තියෙන ලෝකයේ විවිධ ආගම් සංකල්පවල මූලාරම්භය.

**අනන්ත සසරෙ එදා ඉඳන් මේ දක්වා අපි ආපු ගමනක් තියෙනවා. මෙන්න මේ ආපු ගමන තමයි ආගම්වලින් කියන්නෙ.** විවිධ ආගම් අනුව ඒ ආපු ගමන මේ මේ ආකාරයි කියල හදාගෙන තියෙනවා. ආගම කියන වචනයේ එක නිරුක්තියක් තමයි මේ. එතකොට මේ ආගම් සංකල්පය ඇති වෙන්න මුල් වෙච්ච හේතුව තමයි ආත්ම සංකල්පය. ඒකට තමයි බුදු දහමේ සත්කාය දිට්ඨිය කියල කියන්නෙ. තවත් පැහැදිලි කරනව නම් පංච උපාදානස්කන්ධය පිළිබඳව නිත්‍ය මමෙක් ඉන්නවා කියන දෘෂ්ඨිය. එතකොට ඒ සත්කාය තුළ නිච්චෝ දුවෝ සස්සතෝ අවිපරිනාම ධම්මෝ කියල, පෙළන්න බැරි, වෙනස් නොවන, සදාතනික වූ, විනාස වෙන්නෙ නැති, මරණය කරා නොයන ''මම'' කියල කෙනෙක් ඉන්නවා කියන දෘෂ්ඨිය තමයි මේකෙන් කියන්නෙ. ඒ ''මම'' කියන දෘෂ්ඨිය සත්කාය එක්ක සම්බන්ධ වුනාම එතනදි සත්කාය දෘෂ්ඨියක් හට ගන්නවා. සත්කාය කියන්නෙ මේ කාය සත් බවින් හෙවත් යහපත් කියල ගන්නවයි කියන එක. කාය කියන්නෙ සමූහයක් හෙවත් ගොඩවල්. මෙබඳු මමෙක් සත්කායක් සමග ඉන්නවා කියන දෘෂ්ඨිය තමයි සත්කාය දෘෂ්ටිය කියන්නෙ. නමුත් මේවා හඳුන්වන සංඥා මාත්‍රයක් වශයෙනුත් මම කියල කියනවා. මම කියන සංඥා මාත්‍රය ව්‍යවහාරයේදි භාවිතා කරන්න එපා කියල නෙවෙයි මේ කියන්නෙ. මම කියල දෘෂ්ඨිගත වෙන්න එපා කියන එක මේ කියන්නෙ. මොකද සමහරු මේ ගැන වැරදියට වැටහීම් ඇතිකරගෙන, කතා කරනකොටත් ''මම, මගේ'' කියන්න බයේ ඉන්නවා. එතකොට මේ පංච උපාදානස්කන්ධයට සම්බන්ධ වෙන්නෙ ''මම'' කියන දෘෂ්ටියක් අරගෙන. වීසතිවිද හෙවත් විසි ආකාර සත්කාය දෘෂ්ටිය කිව්වෙ ඒකට. ඒ කියන්නෙ මේ සත්කාය දෘෂ්ටිය විසි ආකාරයකට බෙදල තියෙනවා. වීසති කියන්නෙ විස්ස. විද කියන්නෙ බෙදල බලනවයි කියන එක.

එතකොට රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන මේ පංච උපාදානස්කන්ධය ගත්තම, රූපය මම වෙමි, මම රූපය වෙමි, රූපයෙහි මම වෙමි, මා තුළ රූපය වේ, වේදනාව මම වෙමි, මම වේදනාව වෙමි, වේදනාවේ මම වෙමි, මා තුළ වේදනාව වේ... ආදී වශයෙන් එකකට දෘෂ්ටි 4 බැගින් මේ 5 ට දෘෂ්ටි 20 ක් තියෙනවා. ඒක තමයි වීසතිවිද සත්කාය දෘෂ්ටිය කියන්නෙ. ඒ තමයි ඉහත නිච්චෝ දුවෝ.... ආදී වශයෙන් පෙන්වපු මම. එතකොට ලොවුතුරා බුදුන් වහන්සේ නමක් පහළ වෙනකල් මේ කියන සත්කාය දෘෂ්ටිය නැති කරන්න බෑ. එතකල් කිසිම කෙනෙකුට ඒ දෘෂ්ටිය ඉක්මවා යන්න බෑ. බැරි වෙන්න හේතුව තමයි ඒ කාරණය දකින ක්‍රමය එතකල් හෙළිදරව් නොවී තිබීම. ඒ ක්‍රමවේදය ඉස්සෙල්ලම ලෝකෙට හෙළි කරන්නෙ ලොවුතුරා බුදුන් වහන්සේ නමක්මයි.



.............

දිවැසින් පෙර අත්බැව් බලන කොට ඒවා පේන විදිය බුදුන් වහන්සේ උපමාවකින් පෙන්වනවා. යම්කිසි මනුස්සයෙක් එක ගමක ඉඳන් තවත් ගමකට යනවා. එතන කාලයක් වැඩපළ කරගෙන ඉඳල තවත් ගමකට යනවා. ඊළඟට එතනත් කාලයක් ඉඳල වෙනත් ගමකට යනවා. ඔය විදියට ගම් කිහිපයකට ගිහින් නැවතත් ආපහු අර මුලින් හිටපු ගමට එනවා. එතකොට දැන් එන්නෙ කොහොමද ? අර විදියට පිට පිටම ගමින් ගමට ගමින් ගමට ගිහින් ආපසු එනවා. එහෙනම් මුල් ගමේ ඉඳල වටයක් ගිහින් දැන් නැවතත් මුල් ගමට ආව කියල හිතුවොත්, ඔහු බලනවා මම දැන් මෙතනට ආවෙ කොහේ ඉඳලද කියල. අහවල් ගමේ අහවල් ගෙදර ඉඳල, මේ මේ විදියෙ වැඩ පළ කරල ආව බව පේනවා. ඊළඟට එතනට ආවෙ කොහොමද කියල බැලුවම, අන්න ඊටත් එහා ගමේ ඉඳල ආපු බව මතක් වෙනවා. ඒ වගේම ඒ ගමේදි කරපු කියපු දේවල් සියල්ලමත් අර විදියට මතක් වෙනවා. ඊළඟට එතනට ආවෙ කොහේ ඉඳලද ? ඊටත් එහා මෙන්න මෙහෙම ගමක ඉඳල කියල, එතනදිත් ඒ කරපු කියපු දේවල් ඔක්කොම එක්ක මතකයට එනවා. ඒ විදියට එක්තරා සීමාවකට යන කල් මතක් කරගන්න පුළුවන්.

දැන් මේ විදියට ගමින් ගමට යන කොට කවදද ආවෙ, ඒ ඒ ගමට ගියේ කොහොමද කියල දකින්නෙ යම් සේද, දිවැසක් පහළ වුනා නම් පෙර විසූ කඳ පිළිවෙලත් ඔය විදියට දකිනව කියල බුදුන් වහන්සේ දේශනා කරනවා. ඒ කියන්නෙ පෙර අත්බැව්වල ලැගල හිටපු තැන්, කරපු කියපු දේවල් ඔක්කොමත් එක්ක බලාගන්න පුළුවන්. දැන් මෙතනදි වැදගත් දෙයක් තියෙනවා. කවුරු හරි මනුස්සයෙක් මේ ගමින් ගමට ගිය සිද්ධිය දැකල, ඔහුගෙන් මෙහෙම ඇහුවොත්, ''කවුද ඒ ගමින් ගමට ගියේ'' ? ''මම'' කියල උත්තර දෙනවා. දැන් මේ ගමේ හිටියෙ එක මමෙක්, අනෙක් ගමේ හිටියෙ වෙන මමෙක්ද කියල ඇහුවොත්, නැහැ මමමයි කියල උත්තර දෙනවා. එතකොට ඊටත් එහා ගමේ හිටියෙ කවුද කියල ඇහුවොත්, ඒත් මමමයි කියනවා. දැන් කෙලින්ම ඔය උත්තරය තමයි දෙන්නෙ. එතකොට කවුරු හරි කිව්වොත්, නෑ මේ ගමේ හිටියෙ උඹ නෙවෙයි වෙන මමෙක්, අනිත් ගමේ හිටියෙ තවත් මමෙක්, ඊළඟ ගමේ හිටියෙත් උඹ නෙවෙයි, දැන් ඉන්නෙත් වෙන මමෙක් කියල, ඔහු ඒක පිළිගනියිද ? මොන පිස්සු කතාවක්ද, ඒ මම නැතිව වෙන කවුද හිටියෙ ? මෙහෙම උත්තරයක් තමයි දැන් ලැබෙන්නෙ.

දැන් මේකට වෙන කවුරුවත් උදාහරණ විදියට ගන්නෙ නැතිව තමන් ගැනම හිතුවොත්, දැන් අපි යම්කිසි තැනක ඉන්නවා. කවුරුහරි අපෙන් ඇහුවොත් මෙතනට ආවෙ කොහේ ඉඳලද කියල, අපි කියනවා අහවල් තැන අහවල් රස්සාව කර කර ඉඳල ආව කියල. එතන ඒ රස්සාව කරන්න පෙර කොහෙද හිටියෙ කියල ඇහුවොත්, ඊට පෙර අහවල් තැන මේ මේ විදියට වැඩ කළා කියල කියනවා. ඔහොම ගිහින් අනිත් සැරේ ඊටත් පෙර කොහෙද හිටියෙ කියල ඇහුවොත්, ගෙදර ☞

හිටිය කියනවා. දැන් මේ විදියට ගිහින්, ගෙදර හිටපු මම නෙවෙයි අහවල් තැන රස්සාව කරගෙන හිටියෙ, එතන හිටපු මම නෙවෙයි අහවල් තැන හිටියෙ, ඒ හිටපු මම නෙවෙයි දැන් මෙතන ඉන්නෙ කියල කවුරුහරි කිව්වොත් එහෙම, අපි මොකක් කියයිද? මම නැතිව වෙන කවුද ? මේ අදහසම තමයි එන්නෙ. ඒ කියන්නෙ කවදාවත් මම නෙවෙයි, මම වෙනස් වුනයි කියන එක පිළිගන්නෙ නෑ. ඒ හැම තැනම හිටියෙ මම තමයි කියන දෘෂ්ටියෙන් ඉන්නවා.

මෙන්න මේ වගේ අනන්ත සසර බලන කොට, ඒ අතර හිටියෙ මම, අහවල් තැන පෙර හිටියෙත් මම, පෙර අත් බැවේ අහවල් තැන හිටියෙත් මම, කය වෙනස් වුනාට හිටියෙ මම ... මේ ආදී වශයෙන් ගන්න අදහස අයින් කරන්න බෑ. මේකට තමයි මතයක් හදාගෙන තියෙන්නෙ කය පෙළුවට මම පෙළන්න බෑ කියල. එතකොට නිච්චෝ කියල අදහස ගන්නවා. ඒ කියන්නෙ මම පෙළෙන්නෙ නෑ, මම මමමයි, තිරිසන් වෙලා කය වෙනස් වුනත් ඒ මමමයි, මැරිල ඉපදුනත් මම කියන එක මමමයි. කය වෙනස් වෙන බව පිළිගත්තත් මම වෙනස් වෙනව කියන එක පිළිගන්නෙ නෑ, ඒ මානසිකත්වය වෙනස් වෙන්නෙ නෑ. ඒකට කියනව දුවෝ කියල. එතකොට ඒක සාස්වතයි, සදාතනිකයි, ඉස්සර හිටිය මම දැනුත් ඉන්නවා, දැන් වෙනස් වෙලා නෑ, මතු වෙනස් වෙන්නෙත් නෑ කියල ආත්ම දෘෂ්ටියක් ගන්නවා. එදා ඉඳන් අද වෙන කල් දිගටම මම කියල කෙනෙක් එනව කියනවා. ඒක නිසා ඒක අවිපරිණාමයි කියනවා. ඒ කියන්නෙ කවදාවත් විනාසයට යන්නෙ නෑ, මම කියන කෙනා වෙනස් වෙන්නෙ නෑ, සදාතනිකයි කියන එක. දැන් මේ තමයි එක දෘෂ්ටියක්. ඒක තමයි ඉස්සෙල්ලම හට ගත්ත ආත්ම දෘෂ්ටිය හෙවත් සාස්වත දෘෂ්ටිය.

දැන් ඒ දෘෂ්ටිය හට ගන්නත් හේතුවක් තියෙනවා. මොකද මේ **ලෝකෙ මනුස්සයො පහළ වෙන්න පෙර ඉස්සෙල්ලම ආභස්සර බඹ ලෝකෙ ඉඳන් ඇවිත්, ප්‍රථම ධ්‍යාන තලයෙත්, එතනින් මනුස්ස ලෝකෙටත් පල්ලම් බැහැගෙන එනකොට එන්නෙ උඩ ඉඳල පහළට. ඒ කියන්නෙ විසාල රවුමක් ගහල තමයි මේ ක්‍රමයෙන් පල්ලම් බැහැගෙන සතර අපායට යනකල්ම යන්නෙ.** එතකොට ඔය ආභස්සර බඹ ලොවින් මනුස්ස ලෝකෙට එන අවස්ථාවෙදි දිවැස් තියෙන නිසා පෙර හිටපු තැන් සියල්ලම පේනවා. එතකොට ආපස්සට බලාගෙන බලාගෙන යන කොට තමන්ට පේන හැටි ඒ පුද්ගලය කියනවා. ඒ අනුව ආත්මෙ කියල දෙයක් තියෙනව කියනවා. ඉතින් ඔය විදියට ආත්මෙ කවුද කියල පිටිපස්සට බලාගෙන යනවා. ඒ විදියට අත් බැව් ගණනාවක් යන කොට අර කලින් විදියට ''මම'' හිටපු තැන් තමයි දකින්නෙ. ඒක තමයි ආත්මෙ විදියට ගන්නෙ.

ඔහොම බලාගෙන ගිහින් අන්තඃ කල්ප ගණනාවක් යනතුරුත් අර කලින් විදියට ''මම'' හිටපු තැන් තමයි දකින්නෙ. ඒක තමයි ආත්මෙ විදියට ගන්නෙ. හැබැයි ඔහොම බලාගෙන ගිහින් අන්තඃකල්ප ගාණක් ආපස්සට යන කොට එතනින් එහාට බලන්න බැරි තැනක් එනවා. එතනදි පුද්ගලය හිර වෙනවා. මොකද **සාමාන්‍ය පුද්ගලයෙක්ගෙ දිවැසකට බලන්න පුළුවන් උපරිම සීමාවක් තියෙනවා. එතනින් එහාට ගෝචර වෙන්නෙ නෑ. දැන් ඉතින් මෙහෙම බලාගෙන යන කොට ආත්මයක් එනව කියල පේනවා.** අර හිර වෙච්ච තැනින් එහාට බලන්න බැරි වුනාම, ආත්මෙ කවුද



කියල ඇහුවොත්, දැන් බඹ ලොව තමයි පේන්නෙ. ඒ කියන්නෙ ප්‍රථම ධ්‍යාන තලයට එනකල්ම ආත්මය. එතනින් තවත් එහාට බැලුවොත් ආභස්සර බ්‍රහ්ම ලෝකය පේනවා. නමුත් එතනිනුත් එහාට පේන්නෙ නැති වුනාම නිගමනයකට බහිනවා, ආභස්සර බඹ ලොව ස්වභාවය තමයි පරමාත්මය කියල. බ්‍රහ්මයගෙ ස්වභාවයත් අපේ ස්වභාවයත් පරම ආත්මයේදි එකයි කියල අදහස් ගන්නවා. අපිත් ඒකට ඇතුල් වුනාම පරම ආත්මය වෙනවයි කියනවා. පරම ආත්මයෙන් තමයි අපි ආවෙ කියනවා. එතකොට පරම ආත්ම වාදයට එතනින් බහිනවා. එතකොට මේ දෘෂ්ඨි දෙකක්. එකක් ආත්මය, අනික පරමාත්මය.

දැන් මේ ආත්මෙ කියන එක වෙනස් කරන්න බෑ කියල තමයි නිගමනයකට එන්නෙ. ආත්මයකින් තවත් ආත්මයකට ආවා, ඒ ආත්මයෙන් තවත් ආත්මයකට ගියා, ඒකෙනුත් තවත් එකකට ගියා. මේ විදියට ආත්මය සැරිසරල අන්තිමට නැවතත් පියාගෙ මුල් ස්වභාවයට හෙවත් පරම ආත්මයට යනව කියනවා. ඒ කියන්නෙ මහා බ්‍රහ්මයගෙ මුල් ස්වභාවයට (ආභස්සර බඹ ලොව) පත්වුනයි කියන එක. ඊට පස්සෙ නැවතත් එතනින් ගිහින් ආත්මයක් අරගෙන සැරිසරනවා කියනවා. නැවතත් පරමාත්මයට යනව කියනවා. මේ විදියට ආත්මයෙන් පරමාත්මයටත්, පරමාත්ම-යෙන් ආත්මයටත් සැරි සරනව කියනවා. කොහේ ගියත් ආත්මය නැති වෙන්නෙ නෑ. මේ තමයි හදාගත්තු මතය. ඔන්න ඔතනින් මූලික ආත්ම දෘෂ්ටි 44 කට බහිනවා. ඒව තමයි සාස්වතවාද කියන්නෙ.

ඊළඟට තවත් කොටසක් ඉන්නවා. ඒ අයට දිවැසකුත් නෑ, ඒව පිළිගන්නෙත් නෑ, බණක් භාවනාවක් කරන්නෙත් නෑ, පින් පවු පිළිගන්නෙත් නෑ, පස් කම් සැප විඳගෙන භෞතිකවාදී අදහස් අරගෙන ඉන්නන් වාලෙ නිකං ඔහේ ඉන්නවා. ඒ අය මොකද කියන්නෙ ? ''ඕක පිස්සු කතාවක්, බොරු කතාවක්, කවුද උපදින්නෙ ? කොහෙද උපදින්නෙ ? පින් පවු ඵල දෙන්නෙ කාටද ? ඕව එකක්වත් ඇත්ත නෙවෙයි, බොරු කතා. මේ මනුස්සයො උපන්නට පස්සෙ සතර මහා භූතයන්ගෙන් කයක් හට ගන්නවා. ඒක හරි. ඒක හට ගත්තට පස්සෙ පණ ආවා. ඉතින් කවද හරි ඒ පණ යනවා. කවද හරි මැරෙන කල් කාල බීල කටයුතු කරගෙන ඉන්නවා. පින් කළත් එකයි, පවු කළත් එකයි. ඒවායේ වෙනසක් නෑ.'' මේ විදියට උච්ඡේද දෘෂ්ටියේ එල්බ ගෙන ඉඳල අන්තිමට මැරිල යනවා. මේ අදහස මුල් කරගෙන උච්ඡේද දෘෂ්ටි 18 ක් හැදෙනවා. එතකොට දස වස්තුක මිත්‍යා දෘෂ්ටිය කියන්නෙ මේ උච්ඡේද දෘෂ්ඨි 18 කැටි කරපු ක්‍රමයක්. 18 න් පෙන්වන්නෙ ඒවා විග්‍රහ කරපු හැටි. එතකොට අර සාස්වත දෘෂ්ටි 44 යි, උච්ඡේද දෘෂ්ටි 18 යි එකතු වෙලා ඔක්කොම දෘෂ්ටි 62 ක් හැදෙනවා. ඒවාට පොදුවේ අවිද්‍යාවෙ දෘෂ්ටි කියල කියනවා. ඔය ඇතුලෙම තමයි දසවස්තුක මිථ්‍යා දෘෂ්ටිය තියෙන්නෙත්. මෙන්න මේ 62 තමයි ලෝක සම්මතයේ ආගම් කියල විවිධ නම්වලින් හඳුන්වන්නෙ. **ලෝකයේ තියෙන තරමක් ආගම් හැදිල තියෙන්නෙ මේ ඇත නැත කියන, අත්ථි මේ අත්තාථි - නත්ථි මේ අත්තාථි කියල ගන්න ආත්ම දෘෂ්ටිය අරගෙන.** ඒ කියන්නෙ කොටසක් මේ ආත්මෙ ඇත කියන කොට, තවත් කොටසක් මේ ආත්මෙ නැත කියනවා. මේ අදහස් දෙක අරගෙන තමයි සියලු ආගම්වල මුල හැදෙන්නෙ.

නමුත් ආත්මෙ කියන්නෙ

මේ හදාගත්තු මතයක් කියල, ඒකෙ බොරුව දක්ක දාට මේ 62 ම ඉවරයි. ඒ තියෙන 62 ක් දෘෂ්ටි බිඳ වැටෙනවා. ඒ නිසා නිවන් දකපු කෙනා, සෝවාන් වෙච්ච කෙනා මේ දෘෂ්ටි 62 න් එකකවත් නෑ. මොකද නිවන කියන්නෙ මේ අන්ත දෙකෙන්ම නික්මීම. ඒ කියන්නෙ නිවන් දකින්න නම් මේ ප්‍රධාන දෘෂ්ටි 2 ම බිඳින්න ඕන. කොටින්ම කියනව නම් සත්කාය දෘෂ්ටිය සම්පූර්ණයෙන්ම බිඳෙන්න ඕන. එතකොට ඒ පුද්ගලය දන්නවා, ආත්මෙ කියන්නෙ මුලාවක් කියල. ඒ වගේම මේ ආත්මය කියන්නෙ හරියට පුංචි ළමයි රවට්ටන්න හදා ගත්තු ගෝනි බිල්ලෙක් වගේ දෙයක් කියල දකිනවා. මොකද ගෝනි බිල්ල ගැන කියන කොට පුංචි ළමයි හරියට බය වෙනවා. ඕං ගෝනි බිල්ල එනව කිව්වම, පුංචි ළමයි ගෙයින් එහා ඈතට යන්නත් බයයි, එළියට යන්නත් බයයි, කාමරේට යන්නත් බයයි, මොකද ගෝනි බිල්ල එයි කියල. දැන් ඉතින් මොනව කිව්වත් ඒ ළමයට ඒ දෘෂ්ටිය අහක් කර ගන්න බෑ. ගෝනි බිල්ලට තියෙන බය හිතේ කා වැදිල තියෙන්නෙ. හැබැයි ගෝනි බිල්ල කොහොමද කියල ඇහුවොත් ළමය දන්නෙ නෑ. එතකොට ගෝනි බිල්ල ලොකුද පොඩිද, කළුද සුදුද දන්නෙත් නෑ, කොහෙද ඉන්නෙ දන්නෙත් නෑ. නමුත් ගෝනි බිල්ල කොහේ හරි ඇති කියල හිතේ බයක් තියෙනවා. ඒක හිතට හුඟක් කා වැද්දිලා. ළමය ලොකු වෙන කල්ම ඒ දෘෂ්ටිය අරින්න බෑ.

**මෙන්න මේ විදියට පුංචි ළමයි ගෝනි බිල්ලෙකුට බය කළා වගේ, ආත්මය කියල එකක් තියෙනවයි කියල රැවටිලා බය වෙනවා.** තමන්ගෙ නොවැටහීම නිසා, අවිද්‍යාව නිසා ආත්මෙ කියල එකක් තියෙනව කියල නිගමනයකට බහිනවා. ඊළඟට ඒ නිගමනය මනසට කා වදිනවා. ඊට පස්සෙ මනස එතනින් වෙනස් කරන්න හරි අමාරුයි. ඒකෙම කිඳා බැහැගෙන ඉන්නවා. ඒක ලෝකයටත් පතුරුවන්න උත්සාහ කරනවා. මොකද අවිද්‍යාවේ ස්වභාවය නිසා. ඊළඟට ඔය දෘෂ්ටියේ ඉඳගෙන හදන මත තමයි අර 44 ක් ආත්ම දෘෂ්ටි කිව්වෙ. ආත්මෙ නැහැයි කියන මතයෙ ඉඳගෙන හදන දෘෂ්ටි තමයි 18 ක් උච්ඡේද දෘෂ්ටි කිව්වෙ. දැන් අර 44 ත්, 18 ත් මුල් කරගෙන විවිධාකාරයෙන් සාස්වත ආගම් සහ උච්ඡේද ආගම් හැදෙනවා. ඒ විදියට වාද (දෘෂ්ඨි) සියල්ලම ගත්තොත් 62 යි. ඊට වඩා එකක්වත් හදන්න බෑ. ඒ නිසා 63 වන වාදයක් කියල නෑ. මොන බුදුවරයන් වහන්සේ පහළ වුනත් ඔය 62 ට වඩා වැඩි වෙන්නෙත් නෑ. සියලු වාද බෙදිල යන්නෙ ඔය 62 න්. එතකොට ලෝකයේ ආගම් ගත්තම, නිකාය වශයෙන් බෙදිල හෝ සිය ගාණක් තිබුනත්, ඒවට පදනම වෙන්නෙ ඔය වාද 62 තමයි. ඒ වගේම හේතුවක් ඇතිවම තමයි මේ හැම වාදයක්ම හැදිල තියෙන්නෙත්. නිකං ලෝක සම්මතයේ අන්තවාද කියල කිව්වට හරි යන්නෙ නෑ. අන්තවාදත් තියෙනවා. ඒව තමයි උච්ඡේදවාද කියන්නෙ. අනික්වා අන්තවාද නෙවෙයි.

එතකොට මේ 62 ක් වාදවලින් බිහි වෙන ආගම් ගත්තම **ලෞකික වශයෙන් සුගතිගාමී වෙන හොඳ ඒවයි, දුගතිගාමී වෙන ඒවයි මේ දෙකම තියෙනවා. සාස්වතවාදය කියන්නෙ සුගතිගාමී පැත්ත. උච්ඡේදවාදය කියන්නෙ දුගතිගාමී පැත්ත.** මොකද උච්ඡේදවාදය කිව්වම පින් පවු පිළිගන්නෙම නෑ. ඒ අය පංචකාම ආස්වාදයම විඳගෙන ඒ සඳහා ඕනෑම දුෂ්චරිත වැඩක් කරනවා. මොන



විදියකින් හරි කාල බීල සන්තෝසෙන් ඉන්න විතරයි බලන්නෙ. නමුත් සාස්වතවාදය පිළිගන්න අය පින් පවු දෙකම පිළිගන්නවා. පවු කරන්න හොඳ නෑ, අපායට යනව කියන අදහස ඒ අය පිළිගන්න නිසා පවු කරන්නෙ නෑ. පින් කළොත් සැප විඳිනවා කියන එක පිළිගන්න නිසා පවු නොකර පින් කරනවා. මොකද විඳින දෙයක් තියෙනවයි කියල පිළිගන්නවා. හැබැයි මේ පින් පවු දෙකම විඳින්නෙ ආත්මය කියල තමයි ඒ අය පිළිගන්නෙ. ඒ නිසා කර්මඵලත් අදහනවා. පින් කළොත් ආත්මෙට සැප විඳින්න පුළුවන්, පවු කළොත් ආත්මෙට දුක් විඳින්න පුළුවන් කියන අදහස තමයි ඒ අය පිළිගන්නෙ. ඒ විදියට පින් පවු දෙක තේරුම් ගත්ත නිසාම පවු නොකර පින් කරනවා. එතකොට පවු කරන්නෙ නැත්තෙ බයට. මොකද ආත්මයට විඳින්න වෙනව කියල දන්න නිසා. එතකොට සාස්වත දෘෂ්ටියේ ඉඳගෙන කටයුතු කරන අය ඒ හේතුවෙන් දුගතියට යන්නෙ නෑ.

අනන්ත සංසාරෙ ඉඳන් ආපු මේ ආත්ම අදහස ආභස්සර බ්‍රහ්ම ලෝකෙ ඉඳන් එද්දිත් අනුශය වශයෙන් තියෙනවා. නමුත් දස අකුසල් කරල තිරිසන් වුනාට පස්සෙ මේ ආත්ම දෘෂ්ටිය හෙවත් සත්කාය දෘෂ්ටිය කියන එක සතුන්ට නෑ. උන්ට තියෙන්නෙ දෘෂ්ටි අනුශයක්. උදාහරණ විදියට බල්ලෙකුට කවදාවත් මං මෙතනට ආවෙ අහවල් දිහා ඉඳල, එතනට එන්න පෙර හිටියෙ අහවල් තැන, ඒ නිසා සදාතනික මමෙක් ඉන්නවා කියල එහෙම අදහසක් එන්නෙ නෑ. ඌට ඒ මොකවත් තේරෙන්නෙ නෑ. කොටින්ම කිව්වොත් දැන් ටිකකට කලින් කාපු දේවත් මතකයක් නෑ. ඒව හොයන්න බලන්න කියල මානසිකත්වයකුත් නෑ. නමුත් දෘෂ්ටි අනුශය කියන එක තියෙනවා. හැබැයි ඒකත් යටපත් වෙලා තියෙන්නෙ. කවද හරි ඊට ගැලපෙන විදියට මනුස්සයෙක් වෙලා ඉපදිලා, ඕව ගැන හිතන්න පටන් ගන්න කාලයක් ආවොත් එදාට තමයි ඔය දෘෂ්ටිය නැවත මතු වෙන්නෙ.

එතකොට මේ සුගතිගාමීව ඉන්න දෙවු, බඹ, මිනිස් කියන අයටම තමයි මේ ආත්ම දෘෂ්ටිය කියන එක එන්නෙ. හැබැයි ඒත් සියල්ලටම නෙවෙයි. ඒ පිළිබඳව සිහි කරන්න ගියොත් තමයි ආත්ම දෘෂ්ටිය එන්නෙ. එතකල් හැමෝටම තියෙන්නෙ දෘෂ්ටි අනුශයක්. ඒ කියන්නෙ තාවකාලිකව යටපත් වෙලා. මනුස්ස තලයෙන් පහළ දුගතිගාමී අයට මේ දෘෂ්ඨිය බොහොම අඩුයි. උදාහරණ විදියට සතර අපාගත ප්‍රේතයෙක් ගත්තොත් දුගති අත්භවයක් නිසා ඒ අයට දෘෂ්ටි අනුශයක් තියෙනව මිසක් සත්කාය දෘෂ්ටියක් කියල දෙයක් නෑ. ඒ වගේම මනුස්සයො ගත්තමත් මේ සත්කාය දෘෂ්ටිය කියන එක පොඩි කාලෙදි නෑ. යමක් තේරුම් ගන්න පුළුවන් මට්ටමට ආවම, මම කියන්නෙ කවුද කියන ප්‍රශ්නෙට උත්තර හොයන්න ගියාම තමයි ඔය ආත්ම දෘෂ්ටිය අනුශය වශයෙන් තිබිල නැවත මතු වෙලා එන්නෙ. ඊට පස්සෙ තමයි එතනින් විවිධ දෘෂ්ටිවලට වැටෙන්නෙ. ඒකට ඉතින් සසර පුරුද්දත් බලපානවා. බුදුන් වහන්සේ දේශනා කරපු දහම නොදකින තාක් කල් මේ දෘෂ්ටිවලට වැටිල ඉන්නව මිසක් එයින් ගොඩ යෑමක් නෑ. ඉතින් මේ විදියට මේ ආත්ම දෘෂ්ටිය කියන නිගමනය තමයි බුදු දහම හැර ලෝකයේ තියෙන අනික් සියලු ආගම්වලට මුල් වෙන්නෙ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වෑරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# "අරමුණ" යන්නෙහි ගැඹුරු දහම් අරුත ...

මේ ලිපි පෙළ පුරාවටමත්, තවත් බොහෝ ලිපිවලත් කියවෙච්ච වචනයක් තමයි අරමුණ කියන වචනය. මේ වචනය අද නිකං මතු පිටින් කතා කළත්, ඊට එහා ගිය තවත් අති සියුම් අදහසක් මේ වචනයේ ගැබ් වෙලා තියෙනවා. ඒකත් උදාහරණ, උපමා සහිතව පැහැදිලි කරන්න පුළුවන් දෙයක්. විශේෂයෙන් මේ අරමුණ කියන වචනය හරියට පැහැදිලි කර ගන්න බැරි වුනොත්, වෙනත් අර්ථ එන්න පුළුවන්. ඒ නිසා මේ ලිපි පෙළේ ඉදිරියට විග්‍රහ කෙරෙන කාරණා තේරුම් ගන්නත්, අනිත් දහම් කොටස් විග්‍රහ කරන කොට තේරුම් ගැනීම පහසු වෙන්නත් මේ වචනයේ හරි තේරුම දැන ගැනීම වැදගත්.

පටිච්ච සමුප්පාදය අනුව සත්වයෙක් හට ගන්න කොට ඉස්සෙල්ලම විඤ්ඤාණයක් පහළ වෙනවා. එතනදි විඤ්ඤාණ 2 ක් එකට පහළ වෙන්නෙ නෑ. චක්ඛු විඤ්ඤාණය, සෝත විඤ්ඤාණය ... ආදී වශයෙන් එක විට එක චිත්තක්ෂණයක් වශයෙන් තමයි හට ගන්නෙ. එතනදි එක චිත්තක්ෂණයක් (පොඩි එක අරමුණක්) චක්ඛුද්වාරයේ හට ගත්ත නම්, ඒකට චක්ඛුද්වාර චිත්ත වීථියේ චක්ඛු විඤ්ඤාණ මාත්‍රයක් කියල කියනවා. ඒ චක්ඛුද්වාර චිත්ත වීථියක් ගානෙ ඒක මනසින් හඳුන ගන්න මනෝද්වාර චිත්ත වීථි 3 ක් යනවා. ඒක ගියාට පස්සෙ තමයි දෙවෙනි චක්ඛුද්වාර චිත්ත වීථියට අරමුණු මාත්‍රය එන්නෙ. ඒ මාත්‍රය හඳුන ගන්නත් අර වගේම මනෝද්වාර චිත්ත වීථි 3 ක් යනවා. චිත්තක්ෂණ 17 ක් ආයුස ඇති අනුබද්ධ ආධාර චිත්ත වීථි කියල ඒවට කියන්නෙ. ඒක කවදාවත් වරදින්නෙ නැතිව ඒ විදියටම සිද්ධ වෙන ධර්මතාවයක්. තවත් කෙටියෙන් කියනව නම්, ඇසින් ගන්න හැම අරමුණක් ගානෙම චක්ඛුද්වාර චිත්ත වීථියකුත්, ඒ චිත්ත වීථිය හඳුන ගන්න මනෝද්වාර චිත්ත වීථි 3 කුත් ඒත් එක්කම යනවා. ඇසින් විතරක් නෙවෙයි අනිත් හැම ඉන්ද්‍රියකින්ම අරමුණු ගන්නෙත් ඔය විදියටම තමයි. ඔහොම ඇවිත් අර මනෝද්වාරයේ 3 වන චිත්ත වීථියේදි හටගන්නා වේදනා මාත්‍රයයි, සංඥා මාත්‍රයයි තමයි මුලින්ම ඒ පිළිබඳ දැනීම ගොඩනගල දෙන්නෙ. අනෙක්වා ඒකට ආධාරයක් කරගන්නව විතරයි. එතකොට ඒවායේ හඳුනාගෙන තියෙන මාත්‍රා එකතුවක් හෙවත් මනසින් ගොඩ නගා ගත් සටහනක් තමයි අපි රූපයක්, ශබ්දයක්, ගන්ධයක්, රසයක්, ස්පර්ශයක් ආදී වශයෙන් හඳුන්වන්නෙ. ඒ කියන්නෙ මොහොතක අතීතය. හැබැයි අපි හිතන්නෙ වර්තමානය කියල. නමුත් මොහොතක අතීතයක් බලනව මිසක්, වර්තමාන රූපයක් කියල දෙයක් කාටවත් බලන්න බෑ.

එතකොට චක්ඛු විඤ්ඤාණ චිත්තක්ෂණයක් ආවොත් ඒකට අරමුණක් එනවා. ඒක එක අරමුණක්. ඒ නිසා තමයි ඒකාරම්මන (එක අරමුණක්) කියන්නෙ. මෙතනදි එන්නෙ රූපාරම්මනයක්. එතනදි ඒක වස්තුක කියන්නෙ ඒකට අදාල වෙන චක්ඛු වස්තුව හෙවත් චක්ඛු ඉන්ද්‍රිය. චක්ඛු වස්තු, සෝත වස්තු, ඝාන වස්තු ආදී වශයෙන් ඉන්ද්‍රියන් 5 ක් තියෙනවා. ඒ ඒ ඉන්ද්‍රියට විතරයි ඒ අදාල අරමුණ ගෝචර වෙන්නෙ. උදාහරණ විදියට රූපාරම්මනයක් ගෝචර වෙන්නෙ චක්ඛු ඉන්ද්‍රියට. ඒක වස්තුකයි කිව්වෙ ඒකයි. ඒ විඤ්ඤාණයක් උපදින කොට ඒකත් සමගම උපදින නිසා ඒකුප්පාද කියල කියනවා. අරමුණක් ගත්තම ස්පර්ශ, වේදනා ... ආදී වන්නා වූ චෛතසික සියල්ලම උපදින්නෙ එකට. භංග වෙන්නෙත් එකට. ඒක භංග කිව්වෙ ඒකයි. උප්පාද, ඨිති, භංග කියන අවස්ථා 3 යන



කොට, භංග අවස්ථාවෙදි සියල්ලම භංග වෙනවා. ඊට පස්සෙ ඒක අතීත ස්කන්ධයට මොහොතකින් එකතු වෙනවා.

මෙතනදි එක අරමුණක් විග්‍රහ කරන කොට ඉස්සෙල්ලම අරමුණක් කියන්නෙ මොකක්ද කියල දකින්න ඕන. ඒක හුගක් විස්තර කරන්න ඕන කාරණයක්. මේ අරමුණ පැහැදිලි කරන්න මේ විදියෙ උපමාවක් ගන්න පුළුවන්. අපි **පැන්සලක් අරගෙන ඒකෙ එක කෙළවරක් කැපීමේ යන්ත්‍රයකින් (Cutter) හොඳට හිමින් සීරුවේ උල් කරගත්තොත්, අන්තිමට කෙළවර පොඩි මුණයක් දකින්න ලැබෙනවා. ඊටත් වඩා අති සූක්ෂම කම්බියක් වගේ දෙයක් උල් කළොත් ඊටත් වඩා පුංචි මුණයක් දැක ගන්න පුළුවන්. මේ වගේ අපිට තියෙන සියුම්ම උපකරණයකින් යමක් උල් කළොත්, අන්තිමට අපේ ඇහැට නොපෙනෙන තරමේ මුණයක් එනවා. ඒ විදියට උල් කරගෙන ගිහින් එන අන්තිම මුණය ශුද්ධාෂ්ඨකයක්. ඒ අන්තිම මුණයට තමයි අරමුණ කියන්නෙ.** එයින් එහාට ඒක කුඩා කරන්න බෑ. අරමුණක් කිව්වම රූප අරමුණක්, ශබ්ද අරමුණක්, ගන්ධ අරමුණක් ආදී වශයෙන් එන මේ හැම එකක්ම ශුද්ධාෂ්ඨකයක්. ශුද්ධාෂ්ඨකය තමයි අරමුණ වෙන්නෙ. නමුත් අද අරමුණ කියල හිතාගෙන ඉන්නෙ ඒකට නෙවෙයි. මේ භෞතික ලෝකෙ අපට පේන දේවල් නාම ගෝත්‍ර විදියට සම්මත කරගෙන, ඒ සම්මතයෙන් එහෙම් පිටින්ම ගත්තු භෞතික වස්තු තමයි අරමුණක් කියල හිතාගෙන ඉන්නෙ. උදාහරණ විදියට රූපාරම්මනයක් (රූප අරමුණක්) කිව්වම, ඇහැට පේන්න තියෙන මල් පෝච්චියක්, පුද්ගලයෙක් ආදී වශයෙන් ඒ වස්තුව හෝ පුද්ගලයා අරමුණු වෙනව කියනවා. නමුත් ඒක මතයක් විතරයි. ඒක මුණයක් නෙවෙයි.

උදාහරණ විදියට මල් පෝච්චියක් හැඩ ගැහිල තියෙන සියල්ලම බැලුවොත්, එතන මුණ කෝටි ප්‍රකෝටි ගණනක් තියෙනවා. ඒ කියන්නෙ ශුද්ධාෂ්ඨක කෝටි ප්‍රකෝටි ගණනක්. එතකොට වටපිටාවෙන් විහිදෙන ආලෝක ශක්ති ගිහින් එක අවස්ථාවකට එක මුණයයි ඇහින් අරගන්නෙ. නමුත් අපට තේරෙන්නෙ නෑ ඒක ඇහින් ගන්නෙ කියල. ඒක ස්පර්ශ වෙලා ඒකෙ ලාංඡනය තමයි ඇහින් ගන්නෙ. එහෙම කෝටියක් විතර ගත්තට පස්සෙ තමයි පේන්න පටන් ගන්නෙ. ඒක තමයි මොහොතක අතීතය. ඒ මොහොතක අතීතය ආවර්ජනය කරල තමයි අපිට ඒක පේනවයි කියන්නෙ. එතනදි රූප අරමුණක් කියල කිව්වම ශුද්ධාෂ්ඨකයේ තියෙන වර්ණ කොටස (වර්ණ මාත්‍රය) ඔප් නැංවිලා තියෙනව මිසක් වෙන මුකුත් එතන නෑ. එතකොට අරමුණට මල් පෝච්චියක් නෑ. ඒ තමයි ඇසේ චක්ඛුද්වාර අරමුණ. එහෙම ගිහින් ඊළඟට මනෝද්වාර අරමුණක් එනවා. ඒකට අතීත අරමුණු සියල්ලම එකට එකතු කරල අවශ්‍ය දේ හදාගන්න පුළුවන්. උදාහරණ විදියට මල් පෝච්චිය උඩ ඉඳන් පහළට බලන කොට සියල්ලම පේනවා කියන්නෙ, ඒකෙ තියෙන අරමුණු (ශුද්ධාෂ්ඨක) කෝටි ගණනක්, අපේ ඇහින් කෝටි වාරයක් ගන්නවා කියන එක. ඒ කියන්නෙ පොඩි මුණු හෙවත් තිත් වශයෙන්. ඒ එක මුණකින් පටන් ගෙන පළවෙනි විනාඩිය ගියා නම්, මල් පෝච්චියේ උඩ ඉඳන් පටන් ගෙන පහළට යනකොට ප්‍රකෝටිය සම්පූර්ණ වෙන්නෙ අවසාන විනාඩියෙදි නම්, විනාඩිය අවසන් වෙන කොට ගත්ත සියලු මුණු ටික මනසින් එකතු කරල හැඩ තලයක් හදල එක සැරේම පෙන්වනවා. එතකොට මල් පෝච්චිය මනසට පේනවා. අරමුණු ගොඩක් එකතු වෙලා මනසට එකක් විදියට පේනවා. එතනදි අරමුණු වෙන වෙනම පේන්නෙ නෑ. ඒවා එකතු වුනාම තමයි මනසින් බලන්න පුළුවන් වෙන්නෙ. ☞

ඇහින් බලනව වගේ පෙනුනට මනසින් තමයි වස්තුවක් හැටියට බලන්න පුළුවන් වෙන්නෙ. එතකොට අරමුණු එකතු කරල මනස රූපයක් හදා ගන්නවා. ඒකට කියනවා මනසිකාරයක් කළා කියල. මනසිකාර කරල ගත්තම තමයි මල් පෝච්චිය දකින්නෙ.

රූපාරම්මන, ශබ්ධාරම්මන, ගන්ධාරම්මන ආදී වශයෙන් කියන කොට අපි රූප කියල ගන්නෙ ලෝකෙ තියෙන ගස් කොළං, සත්තු ආදියේ ඡායාවන්. ඒවා තමයි රූප කියල හිතාගෙන ඉන්නෙ. ඒවා එහෙම් පිටින්ම, ගෙඩිය පිටින්ම ගත්තම රූපාරම්මනයක් ඇසින් ගත්ත කියල හිතාගෙන ඉන්නවා. ශබ්ද අරමුණු කිව්වම විනාඩි, තත්පර ගණනක සිදුවෙන ශබ්ද කම්පන මිටි වශයෙන් බැඳිල තියෙන සිංදු කියන හඬ, කතා කරන හඬ, වෙනත් බාහිර ශබ්ද ආදිය තමයි ශබ්ධාරම්මන කියල හිතාගෙන ඉන්නෙ. නමුත් ශබ්ධාරම්මනයක් කියන්නෙ ශබ්ද පරමාණුවක්. කනේ තියෙන අති සියුම් තැනට වදින්නෙ බාහිර පරමාණු. ඒ විදියට එක විට දෙකක් වදින්න ඉඩ නෑ. අරමුණු 2 කට කනේ ඉඩ නෑ. උදාහරණ විදියට ආ.... කියන ශබ්දය ඇහුනොත්, ඒක බිඳල බැලුවම එතන ශබ්ද අරමුණු කෝටි ප්‍රකෝටි ගානක් තියෙනවා. ඒ එක අරමුණක් වෙනම අරගෙන බැලුවොත් ඒක අපිට ශබ්දයක්ද කියල තේරුම් ගන්නවත් බැරි තරම් අති සියුම් දෙයක්. සෝතාරම්මනයක් (සෝත අරමුණක්) කියන්නෙ අපට ශබ්දයක්ද කියල තේරුම් ගන්නත් බැරි අති සියුම් දෙයක්. නමුත් අද සෝත අරමුණක් කියල කියන්නෙ මේ අපේ කනට ඇහෙන විවිධ සද්ධ බද්ධ කිරීම්.

ගන්ධාරම්මනයක් (ගන්ධ අරමුණක්) කිව්වමත් ඒ වගේ තමයි. අද හිතන් ඉන්නෙ ඒක මල් සුවඳක්, විලවුන් සුවඳක් ..... ආදිය වගේ දෙයක් කියල. නමුත් ඒකෙ මාත්‍රයක් තමයි ගන්ධ අරමුණක් කියන්නෙ. ශුද්ධාෂ්ඨකය කිව්වම ඒකෙ ගන්ධ මාත්‍රයක් තියෙන්නෙ. වර්ණ, ගන්ධ, රස, ඕජා කියන මේ සියල්ලේම මාත්‍රය බැගින් ශුද්ධාෂ්ඨකය ඇතුලෙ තියෙනවා. ඒ ගන්ධ මාත්‍රයේ ඔප් නැංවිච්ච එක තමයි ශුද්ධාෂ්ඨකයේ ගන්ධ අරමුණ කියන්නෙ. ඒ නිසා එක වතාවක් හුස්මක් උඩට අදින කොට කෝටි ප්‍රකෝටි ගණනින් ගන්ධ අරමුණු ගන්නවා. එතකොට ඝානද්වාර චිත්ත වීථීත් ඒ හා සමානව යනවා. මනෝද්වාර චිත්ත වීථී එකකට තුන බැගින් යනවා. **ඒ හුස්ම උඩට ගන්න කොට ගිය කෝටි ප්‍රකෝටි ගණන් අරමුණු එකින් එකට තියල යම්කිසි සංඥාවක් මනසින් හදා ගන්නවා. ඒක තමයි ගන්ධය කියන්නෙ.** නමුත් අද ගන්ධාරම්මනයක් කියල හිතාගෙන ඉන්නෙ ඒ මහා ගන්ධ ගොඩක එකතුවකට. හැබැයි ඒ අදහසේ හිටියොත් කවදාවත් ඝන සංඥාව කියන එක බිඳෙන්නෙ නෑ. ඝන සංඥාව නොබිඳී විදර්ශනා වැඩුවට, නාම රූප පරිච්ඡේදනය කියල හිතා ගත්තට ඒක සිද්ධ වෙන්නෙ නෑ, ගෝචර වෙන්නෙ නෑ. ඒ නිසා අභිධර්මයට අනුව නාම රූප පරිච්ඡේදනය කරනව කියල අද සූත්‍ර පිටකයේ තියෙන එක අරගෙන හරි යන්නෙ නෑ. අභිධර්මය ඊට වඩා හුඟක් සියුම් කියන්නෙත් ඒ නිසා. අභිධර්මයට අනුව අරමුණ කියල කියන්නෙ මොකක්ද කියල අද හුඟක් අය හඳුනන්නෙ නෑ. ඒක හඳුනන්න නම් පරමාණුව කියන එක දකින්න ඕන. හැබැයි ඇස්වලින් දකිනව නෙවෙයි, ඒක ඥාන ගෝචරයි.

රූප කියන්නෙ ශුද්ධාෂ්ඨක. වර්ණ, ගන්ධ, රස, ඕජා ආදී වශයෙන් කියන්නෙත් ඒ ශුද්ධාෂ්ඨකයේ තියෙන වර්ණ, ගන්ධ, රස, ඕජා කොටස්වලට. ඒකෙ තියෙන සාර කොටස තමයි ඕජස කියන්නෙ. ඒ කියන්නෙ යමක් නිර්මාණය කරල දෙන්න හැකියාවක් තියෙන කොටස. ඒකෙන් තමයි පෝෂණය කරන්නෙ. හැබැයි ඒක මාත්‍රයක්. යම්කිසි විදියකින් ස්පර්ශ කියන්නෙ, ඒ ඕජා අෂ්ඨමක රූප කලාපයේ පඨවි කොටස හෙවත් ඝන කොටස. සත්වයා ඇලෙන්නෙ බැඳෙන්නෙ යම්කිසි විදියකින් ඒකෙ තියෙන වැගිරෙන ඕජා ගති ලක්ෂණයට. ඒවායේ තියෙන අනන්ත අප්‍රමාණ ස්කන්ධ කොටසක් අරගෙන තමයි ආපෝ, තේජෝ, වායෝ, පඨවි ආදී වශයෙන් කියල මැනල ගන්නෙ. ඒ විදියටම මහා ඝන සංඥාවකින් මේ පුංචි මාත්‍රා ගන්නවා. නමුත් මාත්‍රාවලින් මේ ලෝකෙ තියෙන එකක්වත් ගන්න බෑ. ඒ මාත්‍රවලට නමක් නෑ. ඒවා එකට එකතු වුනාම තමයි මස් ලේ ඇහැට පේන්නෙ, අහවල් දේ කියල නම් දාගන්නෙ. ඒවම තමයි මේ හදාගෙන තියෙන්නෙ. ඒව අරගෙන අභිධර්මයේ පෙන්වන රූප විදර්ශනා කරන්න බෑ. ඒ රූප 28 ක් අරගෙන නාම රූප පරිච්ඡේදනය කරනව කියල කොච්චර කිව්වත් ඒ මොකක්ද කියල දන්නෙ නෑ. රූප ගැන බලල ඒව මේ පොඩි පොඩි රූප එකතු වෙලා හැදිච්ච එකක් කියල කියනව මිසක්, අරමුණු කරන්නෙ මොකක්ද කියල ඇහුවම, අර පේන්න තියෙන විසාල රූප කොටස් අරමුණු කරනව කියනවා. නමුත් අරමුණ කියන්නෙ අර කලින් කියපු විදියට පොඩි මාත්‍රයක්. මුණය කියන්නෙ ඒකෙ අන්තිම මාත්‍රය. ඒකාරම්මන කියල කිව්වෙත් ඒකයි. එක සැරේකට ගෝචර කරගන්නෙ එක අරමුණයි, එක පරමාණුවයි. උදාහරණ විදියට එක සැරේකට ඇහින් ගන්නෙ රූප පරමාණු එකයි, ඒ වගේම කනින් ගන්නෙ ශබ්ද පරමාණු එකයි, නාසයෙන් ගන්නෙ ගන්ධ පරමාණු එකයි. ඊට වඩා වැඩි ගාණකට ඒක බිඳින්න බෑ. එහෙම බිඳින්න පුළුවන් නම් ඒක දෙකක් කියල කියනවා.

**එතකොට අපිට කවදාවත් සතර මහා භූත කියන ඒව හිතට ගන්න බෑ. අපි රූපයක් බලන්නෙ හිතින්. මොනම රූපයක්වත් ඇහින් බලන්න බෑ. ඇහෙන් ගන්නෙ අරමුණක් විතරයි. මේ ඉන්ද්‍රිය 5 න්ම අරමුණු ගන්නව මිසක් වෙන දෙයක් ගන්න බෑ.** අරමුණ කියන එක තෝර ගන්න පුළුවන් පද නිරුක්තියෙන්. ලීයක / පැන්සලක කොවුලක් මුණයටම උල් කෙරුවම, ඒ මුණයෙ අන්තිමට ඉතිරි වන පොඩ්ඩ තමයි ඇහින් ගන්නෙ. එහෙම නැතිව මේ ලොකු රූපයක් ඇහෙන් ගන්න බෑ. අපට රූපයක් පේනව කියන්නෙ අරමුණු කෝටි ගණනක් එකින් එක, මොහොතකින් හිතට ගන්නවා කියන එක. හැබැයි එක සැරේට ගන්නෙ එක අරමුණයි. ඒ කියන්නෙ හිත් මාත්‍රයක්. ඒක තමයි මනසෙ නාම ධර්මයක් වශයෙන් සටහන් වෙන්නෙ. නමුත් ඒකට කියන්නෙ රූප මාත්‍රයක් කියල. ඒ කියන්නෙ විෂය කරගත්තු රූප. ඒ මාත්‍ර සටහන හදා ගත්තු එකට අනුව මල් පෝච්චියයි, වට පිටාවයි සියල්ල දකිනවා. හැබැයි ඒ දකින්නෙ මනසෙ තියෙන රූපයකින් මිසක් සතර මහා භූතයන්ගෙන් නෙවෙයි. එතනදි සතර මහා භූත මූලික ආධාරයක් විතරයි. ඒ කියන්නෙ රූපයක් ගැන මතකයක් තියෙන්නෙ. ඒ මතකයෙන් තමයි අපිට හැම වෙලේම රූප කියල පේන්නෙ.

**අපි මේ දකින විසාල රූප සියල්ලමත් මතක සටහන්. මනසෙ තියෙන්නෙ ඒවායේ සටහන් රූප. ඒවත් නාම රූප. මේ සජීවීව දකින විසාල රූප එකක්වත් වර්තමාන රූප නෙවෙයි. ඒ ඒ මොහොතෙ ගන්න මතක සටහන්. ඒවට කියන්නෙ ගෝචර කරගත්තු රූප කියල.** ඒ නිසා තමයි මීට කලින් ලිපියකින් විග්‍රහ කළේ, සතර මහා භූත කියන්නෙ රූප 28 න් 4 ක් කියල. ඉතිරි 24 ම භූත නොවන රූප. ඒ කියන්නෙ භූත රූපත් එක්ක සම්බන්ධ වෙලා බැඳිල තියෙන රූප. එතකොට භූත නොවන රූප සතර මහා භූත රූපවලටත් තියෙනවා. හදවතේ රූපත් සතර මහා භූත එක්ක සම්බන්ධයි. ජීවිත රූපත්, ආහාර රූපත් සතර මහා භූත රූප එක්ක සම්බන්ධයි. එතකොට ඉතිරි රූප 24 මනසත් එක්ක සම්බන්ධයි. ඒ රූප 24 න් සමහර මනෝ රූප අරූප ලෝකෙත් තියෙනවා. ඒ නිසා අරූප ලෝකෙ තනි නෑ. මොකද මතක සටහන් තියෙනවා. ඒ මතක සටහන් රූපාකාරයි. රූපයෙන් තොරව නාමයක් හට ගන්නෙ නෑ කිව්වෙත් ඒකයි. එතකොට විඥ්ඥාණයක් හට ගන්නෙත් නෑ. මනසින් රූප ස්පර්ශ කරන කොට වේදනා හට ගන්නවා. ඒවා වේදනා ස්කන්ධ වශයෙන් හටගන්නෙ. ඒ මතක රූප හඳුන ගන්න කොට සංඥා ස්කන්ධ හට ගන්නවා. ඒ මතක රූප පිළිබඳ යම්කිසි ක්‍රියාකාරිත්වයක් තියෙනවා. ඒ කියන්නෙ අරූප ලෝකෙ යන්න සංඛාර වඩන අය, පිරිසකට කැමති නෑ. රූප වස්තු එක්ක සම්බන්ධ වෙන්න කැමති නැත්තෙ, ඒව මේ හැම වෙලේම කැඩෙන බිඳෙන, පිච්චෙන, තැවෙන, විනාස වෙන ඒවා කියල දකින නිසා. ඒ නිසා තමයි නොදැක ඉන්නව නම් හොඳයි කියල අරූප ලෝකෙ (අරූප බඹ ලොව) ගිහින් උපදින්නෙ.
එතකොට ඇතිවන්නා වූ දැනීමේ ☞

(මතකය) ඉන්ද්‍රිය තමයි නාම ඉන්ද්‍රිය කියන්නෙ. ඒකෙ තියෙන රූප මේ ලෝකෙ තියෙන රූපවලට සම්බන්ධ කරන්න බෑ. සතර මහා භූතත් එක්ක සම්බන්ධ නැති නිසා තමයි ඒවාට අරූප ලෝක කියල කිව්වෙ.

එතකොට වර්ණ, ගන්ධ, රස, ඕජා එකතු වුනාම ඒවා පොදි වශයෙන් තමයි අපි මේ ලෝක සම්මතයේ අරමුණක් කියල ගන්නෙ. නමුත් අභිධර්මයට අනුව සූක්ෂම අරමුණ තමයි ඉහතින් විස්තර කළේ. ඒ වුනත් ලෝකයේ අද අරමුණු කියල සම්මත කරන්නෙ අරමුණු පොදි වශයෙන්. රූපාරම්මන, ශබ්දාරම්මන කියල දෙයක් තිබුණත් ඒවා ගන්නෙ පොදි වශයෙන්. නමුත් ඒක ඝන සංඥාවක් හැටියටම තේරුම් ගත්තොත් කවදාවත් ඝන සංඥාව බිඳෙන්නෙ නෑ. ඒ නිසා ඝන සංඥාව බිඳීම ප්‍රඥාවෙන් තේරුම් අරගෙන තමයි අරමුණු පොදිය දකින්න ඕන. අපි මනෝද්වාරයේ රූපාරම්මනය කියල ගත්තට, එතන තියෙන්නෙ අප්‍රමාණ අරමුණු පොදියක් බව දකින්න ඕන. එතකොට ඝන සංඥාවෙන් ගත්තත් ඝන සංඥාවට බැඳෙන්නෙ නෑ, රැවටෙන්නෙ නෑ. ඝන සංඥාවේ නියම ස්වභාවය පේනවා. එතකොට ඒකත් අරමුණක් කියල ගන්නවා. නමුත් ඊට පෙර අරමුණ කියන්නෙ මොකක්ද කියල දැන ගෙන ඉන්න ඕන. එහෙම දැන ගෙන යමක් ගත්තත් ඒකට අරමුණ කියල රැවටෙන්නෙ නෑ.

ශරීරය 32 ක් කුණප කොට්ඨාසවලට බෙදන්නෙත් මේ කාරණය බලාගන්න. කොටස් 32 කට බෙදල ඒකෙන් එකක් ගත්තම සම්පූර්ණ කයක් කියල රැවටෙන්නෙ නෑ. කයක් හැදිල තියෙන කොටස්වල හැටි දකිනවා. හැබැයි ප්‍රඥා අධිකයෝ අභිධර්මයට අනුකූලව බැලුවොත් එහෙම, ඒ එක කොටසක් තවත් පොඩි පොඩි කොටස්වලින් හැදිල තියෙන්නෙ කියන කාරණය දකිනවා. නමුත් සාමාන්‍ය අයට ශරීරය කෑලි 32 කට බෙදුවම, එකාකාරව පේන්නෙ කෑලි 32 ක එකතුවක් මිසක් තනි එකක් නෙවෙයි කියල තේරුම් ගන්න ඒ ටිකත් ප්‍රමාණවත්. හැබැයි තවත් එහාට නුවණ තියෙනව නම් ඒක පස්, ජල, ගිනි, සුළං කියන ධාතු 4 ටත් බෙදල බලනවා. එහෙම නැත්නම් කෙස්, ලොම්, නිය, දත් ආදිය පඨවි කොටසටත් පිත්, සෙම්, සැරව ආදිය ආපෝ කොටසටත් ඇතුලෙ තියෙන වායුව වායු කොටසටත්, රස්නය තේජෝ කොටසටත් බෙදල බලනවා. එහෙම බලාගත්තමත් මේ කය කියන්නෙ එකාකාරව හැදිච්ච එකක් නෙවෙයි කියල බලා ගන්න හොඳටම ප්‍රමාණවත්. එක්කො ධාතු 4 ට බෙදල බලනවා. නැත්නම් කොටස් 32 කට බෙදල බලනවා. නමුත් ඊටත් එහාට බලන්න නුවණ තියෙන අය අහනවා, එතකොට මේ කෙස්, ලොම්, නිය ආදිය වශයෙන් ගත්තම ඒවත් කොටස්නෙ, ඒව හැදිල තියෙන්නෙ මොකෙන්ද කියල.

අන්න එහෙම බලාගෙන යන අයට තමයි අභිධර්මය අනුව බෙදල බලන අරමුණ තියෙන්නෙ. එතකොට ඝන සංඥාවෙන් ගත්තට ඒකීය වස්තුවක් ලෝකෙ නෑ, කෑලි කෑලි එකතු වෙලා හැදිල තියෙන මායා දර්ශන සමූහයක් මේ හැම තැනම පේන්නෙ කියල දැක්ක නම් ඝන සංඥාව බිඳෙනවා. ඒ වගේ සූක්ෂමව බිඳල බලන අයට තමයි අභිධර්මයට අනුව පරමාණුවට එනකල්ම බිඳින හැටි විග්‍රහ කරල තියෙන්නෙ. එතකොට තමයි අරමුණ කියන එකේ නියම ස්වභාවය වැටහෙන්නෙ. ප්‍රඥාව අධික අය යමක් කෙටියෙන් ගන්නවට වඩා ඒ පස්සෙ හඹා ගිහින් සූක්ෂමව හොයා ගන්න පෙළඹෙනවා. ඒ නිසා තමයි ඒ අයට අභිධර්මය තියෙන්නෙ. ඒක ඒ අයට බොහොම වැදගත්. නමුත් සියලු දෙනාටම ඒක අවශ්‍ය නෑ. ධර්මාවබෝධයට අනුව එන නාම රූප පරිච්ඡේදනයට අර විදිහට රූපය කොටස් 32 කට බෙදල බැලීමත් ප්‍රමාණවත්. නමුත් අභිධර්මයට අනුව බලනකොට ඒ ක්‍රමය මදි. මොකද ඉතාම සුළු චිත්ත මාත්‍රයක් විග්‍රහ කරන ධර්මයක් නිසා ඒක අති සූක්ෂම විදිහට විග්‍රහ කරගන්න ඕන. ඒ නිසා ශුද්ධාෂ්ඨකවලට බෙදල බලනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 32 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්


**ශ්‍රම දායකත්වය -** ♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ ඇල්. අමරසිංහ මහතා - පිළියන්දල ♦ ප්‍රසාද් ද සිල්වා මහතා - දෙල්ගොඩ ♦ එස්.එම්. ජයසේකර මහතා - මාලබේ ♦ පර්ෆෙක්ට් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ♦ නන් අයුරින් දායකවූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය -** ♦සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ♦ කරුණා ධර්මසේන මහත්මිය ඇතුළු පවුලේ සැම - හෝමාගම රු. 10,000/- ♦ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස - රු. 10,000/- ♦ කපිල සිල්වත්ගේ මහතා, අජිතා චාමලී මහත්මිය, බිනග සමාධිත් පුතා - බත්තරමුල්ල - රු.6,000/-♦ අමිත් හඳුගොඩ මහතා - අත්තිඩිය - රු.5,000/- ♦ කැළුම් ලංකේශ්වර මහතා ඇතුළු පවුලේ සැම - නෙළුව- රු. 5,000/- ♦ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා ඇතුළු පවුලේ සැම - ගල්කිස්ස - රු.5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනෙවිය - මහරගම - රු.5,000/- ♦ ගිහාන් විතානගේ මහතා, අසංක විරාජ් මහතා, උපුල් දිසානායක මහතා, බුද්ධික ජයනෙත්ති මහතා, ගයාන් විජේරත්න මහතා, ඩොනල්ඩ් කලුතන්ත්‍රි මහතා සහ ඉන්දිකා ප්‍රියදර්ශනී මහත්මිය - යෝර්ක්, එංගලන්තය - රු.25,932/-♦ අමිල සල්ගාදු මහතා - බෝමිරිය - රු. 3,500/- ♦ එම්.ලිලියට් ද සිල්වා මහත්මිය ඇතුළු පවුලේ සැම - බලපිටිය - රු. 3,400/- ♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ♦ නන්ද සුදුසිංහ මහතා ඇතුළු පවුලේ සැම - පානදුර - රු. 2,500/- ♦ ඩබ්.කේ. නලිනසේකර මහතා සහ ඩබ්.ප්‍රේමවතී මහත්මිය - වළල්ලාවිට - රු. 2,500/- ♦ නන්දනී කරස්නාගොඩ මහත්මිය - රදාවාන - රු.2,100/- ♦ ඩබ්. උපුල් පරාක්‍රම ද සිල්වා මහතා - මාරවිල - රු. 2,000/- ♦ ඩබ්.ටී. අමරදාස මහතා - පාදුක්ක - රු. 2,000/- ♦ චමිලා පෙරේරා මහත්මිය - ගෝනවිල - රු. 2,000/- ♦ රංජනී ජයසූරිය මහත්මිය - මීරිගම - රු. 2,000/- ♦ නාලක මධුරංග මහතා සහ ෂෙහානි බස්නායක මහත්මිය - මත්තෙගොඩ - රු. 2,000/- ♦ ඩබ්.ඒ. කලිකා චාන්දනී මහත්මිය - පාදුක්ක - රු. 2,000/- ♦ දසිත් බුද්ධීන් අල්විස් පුතා - පැපිලියාන - රු. 2,000/- ♦ සිරියාවතී රන්දෙනි මහත්මිය - කුඩාවැව - රු. 2,000/- ♦ සංජය රණවීර මහතා - මහරගම - රු. 2,000/- ♦ ගංගා කෝදාගොඩ මහත්මිය - බොරැල්ල - රු. 2,000/-♦ ෂවීන් ශ්‍රී ජයවර්ධන පුතා - මාලබේ - රු. 1,500/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ♦ රුවන් රණසිංහ මහතා - පන්නිපිටිය - රු.1,000/- ♦ නදීශා හර්ෂනී ලියනගේ මෙනවිය - කළුබෝවිල - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ ශමීන් බණ්ඩාර මහතා - උඩුබැද්දෑව - රු. 1,000/- ♦ එම්. රණවීර මහත්මිය - ගනේමුල්ල - රු. 1,000/- ♦ සී. එම්. පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ♦ එස්.ආර්.ඩී. සෙනෙවිරත්න මහතා - ගිරිඋල්ල -

රු. 1,000/- ♦ එච්.පී. විජේරත්න මහතා සහ එච්. කේ. තිලකලතා මහත්මිය - කිරුළපන - රු. 1,000/- ♦ ස්වීනීතා දිසානායක මහත්මිය - වේරහැර - රු. 1,000/- ♦ සුජාන් කරස්නාගොඩ මහතා - ගම්පහ - රු. 1,000/- ♦ ප්‍රේමා ගීකියනගේ මහත්මිය සහ නිශාන්ත පුතා - හොරණ - රු. 1,000/- ♦ සමන් දසනායක මහතා ඇතුළු පවුලේ සැම - පිළියන්දල - රු. 1,000/- ♦ කේ.කේ. එස්. ධම්මික මහතා - වලස්මුල්ල - රු. 1,000/- ♦ වී.එන්.මල්වත්ත මහත්මිය- හොරණ - රු. 1,000/- ♦ එච්. විමලාවතී මහත්මිය- හොරණ - රු. 1,000/- ♦ ලීලා නිශ්ශංක මහත්මිය - හෝමාගම - රු. 1,000/- ♦ පී.ඩී. ජිනදාස මහතා - වළල්ලාවිට - රු. 1,000/- ♦ බී.ජී. දිලානි සුමනරත්න මහත්මිය - කබුළුමුල්ල - රු. 1,000/- ♦ මාලිනී සිරිමාන්න මහත්මිය - රදාවාන - රු. 1,000/- ♦ අනුරාධා ගුණවර්ධන මෙනෙවිය - බොරැල්ල - රු. 1,000/- ♦ පුබුදු කමල් දසනායක මහතා - හොරණ - රු. 1,000/- ♦ ඩබ්. විලියම් මහතා - දෙහිඅත්තකණ්ඩිය - රු. 1,000/- ♦ ඉන්ද්‍රානි විශාකා ජයසිංහ මහත්මිය - බොරලැස්ගමුව - රු. 1,000/- ♦ පී.ඇසලින් නෝනා මහත්මිය- ගල්ගමුව- රු. 1,000/- ♦ එස්.ඩී.පුණ්‍යවතී මෙනවිය- පිළියන්දල - රු. 1,000/- ♦ ජීවනී මධුරාවල මහත්මිය ඇතුළු පවුලේ සැම - ඒකල - රු. 1,000/- ♦ ජී. ඩබ්. ලක්ෂ්මන් මහතා ඇතුළු පවුලේ සැම - මරඳගහමුල්ල - රු. 1,000/- ♦ මහේෂා පියසේන මහත්මිය - ඇතුල් කෝට්ටේ - රු. 1,000/- ♦ එච්.එම්. පාලිත විමලසිරි මහතා - ඇහැලියගොඩ - රු. 1,000/- ♦ ඒ.ලොකුගේ මහත්මිය - කැළණිය - රු. 1,000/- ♦ නුවන් යාපා අමරසේකර මහතා - රදාවාන- රු. 1,000/- ♦ එස්.එම්.වරුණි ප්‍රියංවදා දනංගල මහත්මිය - රු. 1,000/- ♦ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ග්‍රේරු මහත්මිය- කළුබෝවිල -1,000/- ♦ එම්. එල්. එම්. සුමණසිරි මහතා ඇතුළු පවුලේ සැම - වේවැල්දෙනිය - රු. 1,000/- ♦ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 1,000/- ♦ වීනා අතුකෝරාල මහත්මිය සහ ජනිඳු බිම්සර පුතා - මීරිගම - රු. 1,000/- ♦ තිලංගිකා හේමමාලි මෑණියන්ට පිං පිණිස දූ දරුවන් විසින් - පිළියන්දල - රු. 1,000/- ♦ උදාර ඉන්දික මහතා, නදීකා දමයන්ති මහත්මිය, සෙතුම් දිලස්නා දුව - බාඳුරාගොඩ - රු. 1,000/-, ♦ කේ. නන්දසිරි මහතා, කේ. ශ්‍රද්ධාවතී මහත්මිය සහ ටී.බී. නයනරශී මෙනවිය - වැලිමඩ - රු. 1,000/-, ♦ දමයන්ති ලියනගේ මහත්මිය - කිඹුලාපිටිය, ජනිත හසාර ජයකොඩි මහතා - අත්තිඩිය, ඒ.ඩබ්. විජේසිංහ මහතා - මීගොඩ, කරුණාරත්න මහතා - මීගහතැන්න, දෙමටගොඩ ශෙනිකා, නිහාල් වෙත්තසිංහ මහතා - පාදුක්ක, ඉනෝකා ආරියරත්න මෙනවිය - රු. 2,900/- ♦ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 164,832/- ♦ පළමු පිටපත් 10000 සඳහා මුද්‍රණ වියදම රු. 232,500/- ♦අනෙකුත් වියදම් - 12,900/- ♦ සම්පූර්ණ වියදම - රු. 245,400/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වර්ගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

***සියවස් ගණනාවකට පෙර සැඟවී ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,***
***හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.***

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net www.aaryadharma.org
විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අං:- 071 3046895

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

1. ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - තලවතුගොඩ පාර, පිටකෝට්ටේ
2. නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ.
3. නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල.
4. තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම.
5. පිනැකල් නෙට් - ශානි ඉන්ස්ටිටියුට් - හයිලෙවල් පාර, ගොඩගම
6. තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක.
7. සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව.
8. ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල.
9. සමනල පොත්හල - නෙළුව.
10. නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර
11. මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල.
12. කේ. පී. ස්ටෝර්ස් - ගන්තුන, කෑගල්ල.
13. නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (077 7577592)
14. දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල)

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# දැනුම සහ අවබෝධය



දැනුමෙන් මත් වෙලා ඒ ගැන    දොඩවාද
වැනුමෙන් උගත්කම් සහතිකයට    දේද
තැනුමෙන් තරඟ ලොව අල්ලන්නට    යාද
දිනුමෙන් එසේ මරු එන විට    වැළකේද



සුනීත සහ සෝපාකද පෙර    හිටීය
දැනීම නොව දම් අවබෝධය    දිටීය
මැනීම තවෙකෙකු දැනුමෙන් ලොව    හැටීය
ගනීද එය මානෙන් මෙනි පොර    පිටීය



වෙහෙස මහන්සිය නෙක මුදලින්    යොදවා
දවස ගෙවෙන තතු හොයනා තැන්    හදවා
නොවස නැණ ගුණින් ලොව කෙලෙසුන්    නොදවා
පවස නිවන්නද සිත දැනුමින්    බඳවා



එක භවයකට පමණක් හිමි ලොව    දැනුම
මොකටද නොදෙයි නම් මතු සසරෙහි    දිනුම
රැක ගෙන උගත්කම් තම ලොකුකම    වැනුම
දැක ගත නොහැක සසරෙහි දුක් කඳ    තැනුම





අහවර නොවන ලොව තතු ලොකුවට    බැල්ම
වහරකි ලොවේ පුහු දන කරවති    ලොල්ම
දහමට අනුව අවබෝධය එන    කල්ම
පහ නොම කෙරේ ලොව දැනුමට ඇති    ඇල්ම



එකෙකු පරදවා තවෙකෙකු ජය    ගන්නේ
රැකෙනු පිණිස තම වයසද    නොතකන්නේ
මැකෙනු බල බලා තව තතු හොය    වන්නේ
දුකෙහි ගිලි ගිලී සත කොතැනක    යන්නේ



අවබෝධය ලැබුව සත නිහඬව    ඉඳිති
සුවයෙහි නිරාමිස බව නිදහස    විඳිති
භවයෙහි ඇලෙන දැනුමට ඇති ලොබ    සිඳිති
ලොව තතු සෙවුම හැර තෙරුවන් ගුණ    වඳිති



ලැබුවොත් වැටහුමක් සසරෙහි ජයක්    දෙත
මැරිලත් උපනුපන් තැන යළි මතක්    වෙත
දැනුමත් වැටහුමත් යනුවෙන් දෙකක්    ඇත
පෙනුනොත් වෙනස මෙ දෙකෙහි තරඟයක්    නැත

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# සසර ගිනි...





අනත සසර ආ දුර දිග සිහි කර බැලුවද යම් දින
මනස සැපය රිසි ලෙස විඳ ගෙන හිටියද සත යම් තැන
දිනක සුවය විඳ ගැනුමට දරන සටන ගිනියම් වන
තැනක වැළඳ ගෙන මරණය යළි ඉපදෙයි කළ කම් ගෙන

මවු පිය දූ දරු නෙක නෑ දුක වාවනු ගත බැරුවා
සිවු මහ ගංගා පරදන කඳුළැලි අනතව පෙරුවා
පවු කර ගෙන කප් ගණනින් අත්බැව් නෙක නෙක දැරුවා
සවු සත දම් දකිනා තෙක් ගෙන යයි තුරුලට මරුවා

පොළවේ මහ පස් කඳු පරදා ලැබු නෙක අත්බැව හැම
බර වේ ඇට කටු විතරක් අරගෙන බැලුවත් නැත නිම
සිතුවේ නැතිමුත් ලෝ සත ආ දුර මෙතුවක් කලටම
ලැබුවේ මහ ගිනි කන්දකි ඒ හැම ලැබ ගත් භවයෙම

පෙළින් පෙළට පෙළ ගැසුවොත් දවසක විඳිනා දුක් නෙක
කෙළින් වෙනව ඇගේ ලෝම ගණනක් ගානේ දුක් දැක
කලින් දුටුව නම් ඒ ටික කොහොම ඉන්න දවසක් එක
ලොලින් හිටිය හැටි පුදුමයි විඳ ගනිමින් මෙතුවක් දුක

සෝ දුක් පරිදෙව් දොම්නස් උපායාස මරණ ආදී
ලෝකත් සමගින් ඇවිලෙයි සවු සත සියො ළඟම ඇඳී
පෝසත් දුප්පත් ලොකු පොඩි නැති අට ලෝ දහම සැදී
කෝකත් දක්කන් යනවා පුහු දන ඇස් නොමැත පෑදී

නිවා ගන්න මේ ගිනි කඳ මුනිවරු දුන් දම් දිය කඳ
නමා දුන්න සේ හිස කඳ වැන්දට පමණක් හැකි වෙද
ලබා ඉන්න මේ මිනිසත් බවේ අගය නොම දැන ඉඳ
බඳා ගන්න ගිය හොත් ලොව දැවෙයි සසර ගිනි කඳ මැද

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී